සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ නවම් මස (ව්‍යවහාරික වර්ෂ 2015 පෙබරවාරි)

40 වෙනි කලාපය




## සිය දිවි නසා ගැනීමේ බරපතලකම දහම් ඇසින්...

රු. 20/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# මුදල් නැතිව කළ හැක පින්...



රටේ තොටේ කරන පිනේ
ගැටේ ඇසට හිතට දැනේ
කැටේ කාසි නැතිව අනේ
කටේ සාදු වදන තැනේ

එදත් දුගී දන මෙලෙසා
නැතත් කාසි සිටු විලසා
දැකත් පිදුම් නොව අලසා
අතත් ගැසිය වැඩ සලසා

අනුන් කරන පිනද වටී
උනුන් කවුද නොබල දිටී
දැනුම් තියෙන අයද සිටී
දිනුම් තමයි දහමෙ හැටී

සසුනට පුදනා දෙය දැක
මුසු කර පැහැදුනු මනසක
විසුවද තිරිසන් දහමක
ඔසුවකි මතු ලද භවයක

බණක් දමක් ඇහෙන කොටත්
දනක් පිනක් දෙවන විටත්
තැනක් නොබල පැහැදි තුටත්
දිනක් ගෙනෙත නිවනකටත්

දැක පින්කම් සිත පාදන්
සැක නැත ඉන් අනුමෝදන්
දුක දෙන තුන් දොස සෝදන්
වක නැති නිවනම සාදන්

සොම්නස් සහගත නැණ සිත
තුම් වෙයි නැගි විට සත වෙත
නිම් නැත ඉන් මතු වෙන සෙත
යම් දවසක නිවනම ඇත

දුලබව ලද මනු භාවේ
බල ධන එක ලෙස නාවේ
සැල වෙන විට තුටු වූවේ
කළ හැක සැමටම සේවේ







පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

**20 වන කොටස**

ශ්‍රී ලාංචිතුරා බුදු පියාණන් වහන්සේ ලොව වැඩ සිටින කාලයේ සිගාල කියල කුල පුත්‍රයෙක් හිටියා. මේ කුල පුත්‍රයගෙ පියා දීපු උපදෙසක් වැරදි අවබෝධයෙන් අරගෙන දිසාවන්වලට වැඳ වැඳ හිටපු සිද්ධියක් ගැන හුග දෙනෙක් අහල තියෙනවා. ඉතින් මහා කරුණා ඥානයෙන් ලොව බලපු බුදු පියාණන් වහන්සේ මේ තරුණයා දැකල, ඒ පියා කියල දුන්න සදිසා වඳින්න කියන උපදෙසේ නිරුක්ති පෙන්වා අවශ්‍ය දහම් අවබෝධය ලබා දුන්නා. මේ කතාවෙ වැඩි විස්තර දීඝ නිකායෙ 3 වන කාණ්ඩයේ එන <u>සිගාල සූත්‍රයේ</u> තියෙනවා. ඉතින් මේ කියන්න යන්නෙ සිගාල පුත්‍රයාට දේශනා කරපු බණ අහල පැහැදුන ඒ පුත්‍රයාගෙ මව ගැන. ඇය බුද්ධ සාසනයේ ප්‍රසිද්ධ වුනේ සිගාල මාතා රහත් තෙරණිය විදියට. ඇය ශ්‍රද්ධා ඇති මෙහෙණින්ගෙන් අග තනතුර ලබපු උත්තමාවියක්.

ඉතින් හැම අග්‍ර ශ්‍රාවකයෙක්, ශ්‍රාවිකාවක් වගේම මේ උත්තමාවියත් ඒ සඳහා පෙරුම් පුරන්න පටන් ගත්ත තැනක් තියෙනවා. මෙයින් කල්ප ලක්ෂයකට පෙර ලොව පහල වූ පදුමුත්තර බුදුන් වහන්සේගෙ කාලයේ ඇමති කුලයක උපන් කුමාරිකාවක් විදියටයි ඇය හිටියෙ. ඒ නිසා දන් දෙන්න ඕන තරම් ධනයක් ඇයට තිබුණා. ඇගේ පියත් එක්ක ගිහින් බණ අහල පැහැදිලා බුද්ධ සාසනයේ පැවිදි වුණා. පැවිදි වෙලා සිතින්, කයින්, වචනයෙන් කෙරෙන දුසිරිතයෙන් වැළකිලා, බුදුන් කෙරෙහි පහන් සිත් ඇතිවත්, සංඝයා කෙරෙහි බොහොම ගෞරව ඇතිවත් වාසය කළා. නිතරම බුදුන් වහන්සේ දකින්න ලොකු කැමැත්තක් තිබුණා.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, බුදුන් වහන්සේගෙන් මෙච්චර බණ අහලත්, මේ ශරීරයේ අගුණ කියලත්, ඇයි මේ බුද්ධ ශරීරයට මේ තරම් කැමැත්තක්, ශ්‍රද්ධාවක් ඇති වුනේ කියල. සමහර කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇය කාන්තාවක් නිසා එහෙම අදහසක් ඇති වුනා කියල. ඇත්තටම එහෙමද වුනේ කියල ටිකක් හොයල බලන්න ඕන. ලෝක සත්වයා ලෝකයට බිහිවෙන කොට ඉන්ද්‍රිය පහක් මූලික කරගෙන තමයි ඒ අයගෙ ගති ස්වභාවය තීරණය වෙන්නෙ. හැබැයි මෙතනදි ඉන්ද්‍රිය කියල ගන්නෙ ඇස, කන, දිව, නාසය, ශරීරය නෙවෙයි. ඒවටත් ඉන්ද්‍රිය කියල කියනවා. මුලින්ම ඉන්ද්‍රිය කියන වචනය තෝර ගෙන හිටියොත්, ඇයි ඉන්ද්‍රිය කියන්නෙ කියල තේරුම් ගන්න පුළුවන්.

ඉන්ද්‍ර කියන්නෙ නායකත්වය හෙවත් මූලිකත්වය කියන අදහස. එතකොට රූප බලන්න මූලිකත්වය ගන්නෙ ඇස. කනෙන් රූප බලන්න බෑ. කනෙන් කරන්නෙ ශබ්ද අහන එක. ඒ වගේමයි දිව මූලික වෙන්නෙ රස බලන්න. නාසය මුල් තැන ගන්නෙ ගඳ සුවඳ තෝර ගන්න. කය මුල් වෙන්නෙ ස්පර්ශවලට. මේ විදියට ඒ ඒ කාරණාවලට නායකත්වය හෙවත් මුල් තැන ගන්න නිසා ඒවාට ඉන්ද්‍රිය කියල කියනවා. ඒ වගේම තමයි කෙනෙක්ගෙ ගති පැවතුම්වලට මූලිකත්වය ගන්න විදිහක් තියෙනවා. කෙනෙක් පින් දහම් කරන්න, නිතරම බෝධීන් වහන්සේ ළඟ ඉන්න, ඒ දිහා බලන් ඉන්න, ඒවගේ දේවල්වලට මූලිකව කටයුතු කරන්න කැමති නම්, බොහෝ විට ඒ අයගෙ ගතියට මූලික වෙන්නෙ ශ්‍රද්ධාව. ඒ මූලිකත්වයට කියනව ශ්‍රද්ධා ඉන්ද්‍රිය බලවත් කියල. ඒ වගේම සතිය, සමාධිය, වීර්ය සහ ප්‍රඥා වශයෙන් තවත් මූලික වෙන ගති ස්වභාවයන් 4 ක් තියෙනවා. ඒ ගති ස්වභාවය අනුව තමයි කෙනෙක්ගෙ බලවත් ඉන්ද්‍රිය තීරණය වෙන්නෙ. ඒ නිසා බාහිරින් බලල තීරණය කරන්න අමාරුයි මේ පුද්ගලයා මෙහෙම කෙනෙක්, මොකක්ද මේ කරන වැඩේ තේරුමක් ඇති වැඩක්ද කියල. ඔය මල් පහන් පූජ කර කර ඉන්නව මිසක් බණක් භාවනාවක් කරන්නෙ නෑ කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. නමුත් මතුපිටින් බලල කෙනෙකුට එහෙම තීරණයක් ගන්න බෑ.



එක්තරා බමුණෙක්ගෙන් බුදුන් වහන්සේ මෙහෙම ප්‍රශ්නයක් අහනවා. බමුණ නුඹල දන් දෙනවද? එතකොට බමුණ කියනව, ඔව් ස්වාමීනි අපි පාංශුකූල සිවුරු දරන ආරණ්‍යව වාසය කරන සිල්වත් භික්ෂූන් වහන්සේලාට තමයි දන් දෙන්නෙ කියල. ඉතින් බුදුන් වහන්සේ මේ බමුණාට මේ විදියෙ අවවාදයක් දෙනවා. ''මම දකිනවා පාංශුකූල සිවුරු දරන ආරණ්‍යව වාසය කරන ඉතාමත් දූෂ්‍ය සිත් ඇති භික්ෂූන් වහන්සේලා. ඒ වගේම දෙපට සිවුරු දරන නාගරිකව වෙසෙන පින්වතුන්ගෙ සාසනික කටයුතුවලට සහභාගි වෙන ඉතාම ප්‍රසන්න සිත් ඇති භික්ෂූන් වහන්සේලා. ඉතින් කසී සළු අඳින, රන් රිදී පරිහරණය කරන ගිහි ජීවිතයක් ගත කරන නුඹ වැන්නෙක් කොහොමද මේ භික්ෂූන් වහන්සේ සිල්වත්, මේ භික්ෂූන් වහන්සේ සිල්වත් නෑ කියන්නෙ? එහෙම කියන්න නුඹට තියෙන හැකියාව මොකක්ද? එහෙම කියනව නම්, මා හෝ මා වැන්නෙක් හැර වෙන සමතෙක් නෑ''. ඒ නිසා මෙතන පැහැදිලි වෙන කාරණය තමයි, මා හෝ මා වැන්නෙක් කිව්වම අසම සම බුදු පියාණන් වහන්සේට සම කරන්න පුළුවන් තවත් සම්මා සම්බුදුවරයන් වහන්සේ නමක් පමණයි.

ඉතින් කෙනෙක්ගෙ බාහිර වැඩ පිළිවෙලක් දිහා බලල, මේ පුද්ගලයා මේක කරන්නෙ මේ හේතුවෙන්, මොහුගෙ හිත මෙහෙම වෙන්න ඇති කියල ☞

හරියටම 100% ක් තීරණය දෙන්න පුළුවන් බුදුන් වහන්සේ නමකට විතරයි. ඒකත් හරියට කර්ම විෂය, ලෝක විෂය වගේ අචින්ත්‍ය බුද්ධ ඥානයට අහුවෙන දෙයක්. බුදු කෙනෙකුට පමණක් පිහිටන ෂඩ් අසාධාරණ ඥානවලින් එකක් වන ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥානය නිසා උන්වහන්සේට ඒ හැකියාව තියෙනවා. ඒ ඥානය පසේ බුදුවරයකුටත් නෑ, මහ රහතන් වහන්සේ නමකටත් නෑ. ඒ නිසයි බුදුන් වහන්සේ අර බමුණගෙන් ඇහුවෙ, නුඹ කොහොමද ඒක හරියටම කියන්නෙ කියල.

ඉතින් ඔය විදියට අර ඇමති දියණිය මහණ වෙලා ඉන්න කොට, පදුමුත්තර බුදුන් වහන්සේ එක් මෙහෙණින් වහන්සේ නමකට තනතුරක් පිරිනමනව දැක්කා. ඒ තමයි මහා ශ්‍රද්ධා ඇති මෙහෙණින් අතරින් අග තනතුර. ඒක දැකපු මේ තෙරණින් වහන්සේත් මතු බුදු සසුනක ඒ තනතුර පැතුවා. පදුමුත්තර බුදුන් වහන්සේ ඒක අනුමත කරල අනාගත නම් ගොත් විස්තරය පෙන්නුවා. ඒ කියන්නෙ මෙයින් කල්ප ලක්ෂයකට පසු ලොව පහළ වෙන ගෞතම නම් බුදු පියාණන් වහන්සේගෙ සාසනයේ සිගාල මාතා නමින් මහණ වෙලා රහත් වෙලා ඒ තනතුර ලබන බව. ඉතින් අවසන් අත් බවේ ඉහත සඳහන් කළ ආකාරයට සිගාල පුතාට කියපු බණ අහල ඇයත් සෝවාන් වුනාට පස්සෙ, මේ ගෞතම බුද්ධ සාසනයේ පැවිද්ද ලබා ගත්තා. පැවිදි වුනාට පස්සෙ පෙර අත් බැවක පදුමුත්තර බුදුන් දවස බුදුන් දකින්න තිබිච්ච කැමැත්ත යළි නැගිල ආවා. ඒ නිසා දිනපතාම බුදුන් දකින්න ගියා, ඒ බුද්ධ රූපය බලන්න ගියා. මහත් ශ්‍රද්ධාවෙන් සොම්නසින්මයි බැලුවෙ. උන්වහන්සේගෙ ගුණමයි දැක්කෙ. නිතරම බුදු ගුණම සිහි කළා. ඒ ගුණ සිහි කරමින්ම අරිහත් ඵලයට පත් වුණා.

දැන් මෙතන වැදගත් කාරණයක් තියෙනවා. බොහෝ අය කියන කතාවක් තමයි, බුදුන් වහන්සේගෙ කයත් දිරාපත් වෙන කයක්.... ආදී වශයෙන් වක්කලී තෙරුන් වහන්සේට කරපු දහම් දේශනාව. ඒ උන්වහන්සේ සියල්ල සියලු ආකාරයෙන් දැකල ඒ අවස්ථාවෙ වක්කලී තෙරුන් වහන්සේට දහම් අවබෝධ වෙන්න කරපු දේශනාවක්. ඒ දේශනාව අරගෙන බුද්ධ ශරීරය දිහා බලල ඇති වෙන පැහැදීමෙන් ප්‍රඥා මගට හරවන තැනට වක්කලී තෙරුන්ව ගෙනාවා. නමුත් ඒ මට්ටමේ හැකියාවක් නැති අයත් ඒක කරන්න ගියොත් මහ විනාසයකට මුල පුරා ගන්නවා. බුද්ධ ශරීරයට ගරු කරන අය දකල, උන්වහන්සේත් සාමාන්‍ය මනුස්සයෙක්නෙ, ඔය ශරීරයත් කුණු වෙනවනෙ... ආදී වශයෙන් කියන කතාත් ඒ අතර තියෙනවා.

මෙතනදි දැන ගන්න ඕන දෙයක් තමයි, කෙනෙකුට මේ කයක් ලැබෙන්නෙ කොහොමද කියන කාරණය. **මනුස්ස ගති ස්වභාවයන්ට අනුව, සසර පුරා කරපු පින් පවුවල මිශ්‍රණයක් සමග ලැබෙන පටිසන්ධිය අනුව, ඒ ඒ මනුස්සයාට ගැලපෙන කයක් ලැබෙනවා.** ඉතින් ඒ පටිසන්ධිය ත්‍රිහේතුක නම්, ඒ කියන්නෙ අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් යුක්ත නම් තමයි සුගති අත්බැවක් ලැබෙන්නෙ. ඒ වගේම ඒ ත්‍රිහේතුකයත් උත්කෘෂ්ට, මධ්‍යම, ඕමක කියල තවත් කොටස්වලට බෙදෙනවා. සාරාසංඛ්‍ය, අටාසංඛ්‍ය, සොලොසාසංඛ්‍ය අප්‍රමාණ කාලයක් පුරා පාරමිතා, උප පාරමිතා, පරමත්ත පාරමිතා වශයෙන් පාරමිතා ධර්මයන් පූර්ණ කරල, මහා කුසල සම්භාරයක එකතුවෙන්, පස්චිම අත් බැවේ හෙවත් අවසාන අත් බැවේ සර්වඥතා ඥානය දරා ගන්න සුදුසු ශරීරයක් තමයි බෝසතාණන් වහන්සේ නමකට ලැබෙන්නෙ. ඒ ශරීරයෙත්, **කිසිම කෙනෙකුට සමානව ලැබෙන්නෙ නැති මහා පුරුෂ ලක්ෂණ 32 ක් පිහිටනවා.** ඒ ගැන සරල විස්තරයක් පහතින් සඳහන් කරල තියෙනවා.

### 01. සුප්පතිට්ඨිත පාදතා

මනාව පිහිටි පා යුවලක් ඇති බව. බුදු සිරිපා ස්වර්ණ පාදුකාවක් වගේ සිදුරු රහිතව පිහිටල තියෙන්නෙ. ඒ සිරි පතුල පොලවෙ තියන කොට එක වරම ස්පර්ශ වෙනවා. උඩට ඔසවන කොට එකවරම එසවෙනවා. සාමාන්‍ය අයගෙ නම් කකුල් පතුල මැදින් වක්වෙලා පිහිටන්නෙ. නමුත් බුදුන් වහන්සේගෙ පාද හරියට සමතල ලෑලි පතුලක් බිම තිව්ව වගෙයි පිහිටන්නෙ. මේ ලක්ෂණ තියෙන අය අනුන් විසින් නොමැඩිය හැකි අය වෙනවා. පෙර අත්බැව්වල අනුන් මැඩ පවත්වාගෙන නොහිටපු ගති ලක්ෂණයට අනුකූල හේතුවේ ඵලය තමයි ඒ.

### 02. චක්ඛ ලක්ඛණතා

චක්‍ර ලක්ෂණ පිහිටි අය බව. බුදු සිරිපා තලය මනා සේ බෙදී පිහිටි රථ චක්‍ර (රෝද) ලක්ෂණවලින් යුක්තයි. චක්‍රවලින් පෙන්වන්නෙ වට කරල අනුන්ට ආරක්ෂාව සපයපු ලක්ෂණය මේ ලක්ෂණය පිහිටි අය මහා පිරිස් ඇත්තෙක් වෙනවා. පෙර භවයන්වල පරාර්ථ චර්යාවේ යෙදුනු නිසා සහ අනුන්ගේ බිය, තැති ගැනීම් දුරු කරල ආරක්ෂා සංවිධාන ඇති කළ නිසාත්, පිරිවර සහිතව දන් දුන් නිසාත් මේ ලක්ෂණය පිහිටනවා.

### 03. ආයත පණ්හිතා

දිග් වූ විලුම් ඇති බව. බුදු සිරි පතුල කොටස් 4 කට බෙදෙනවා. දෙකොටසක් ඉදිරි අක්පතුල. තුන් වන කොටස පාදය පිහිටීමට ආධාර වෙනවා. හතර වෙනි කොටස දිග් විලුඹ. විළුඹයි, ඉස්සරහ ඇඟිලි පැත්තයි, දෙපැත්තයි කියන හතර පැත්ත තමයි මේ පෙන්වන්නෙ. ප්‍රාණ වධයෙන් තොර වෙලා සියලු සතුන් වෙත හිතවත්ව අනුකම්පා සහගතව විසීමේ ප්‍රතිඵලයක් විදියට මේ ලක්ෂණය පිහිටනවා. සත්ත්ව හිංසාවෙන් තොර තැන්පත් මානසිකත්වය නිසා විවෘතයි. පතුල උපමා කරන්නෙ සීලයට. සීලය පාදක කරගෙන තමයි ජීවත් වුනේ. ඒ අනුව ඇතිවන ගති රුව නිසා තමයි පාදයේ මේ ස්වභාවය පිහිටන්නෙ.

### 04. දීඝංගුලිතා

දිග් වූ ඇඟිලි ඇති බව. ක්‍රමයෙන් සිහින් වෙලා එක සමව පිහිටීමේ ලක්ෂණය. අංග ගුලි කර ගැනීම කිව්වම ලෝකෙ තියෙන ප්‍රියමනාප හොඳ දේ තමන් වෙතම අල්ලගෙන බදාගන්න ගති ලක්ෂණය බුදුන් වහන්සේට නෑ. උන්වහන්සේ පරාර්ථ සේවයෙන්ම ඒව අතහැරල තමයි ඇඟිලි දිගු කරගෙන ඉන්නෙ. අනෙක් අයගෙ යහපතට පවත්වනව මිසක් තමන් අල්ලගෙන නෑ. වෙන අය වගේ වකුටු කරගෙන නෑ. ඒ කියන්නෙ හැම වෙලේම අල්ල නොගෙන අතහැරල නිදහස්ව ඉන්න ගති ලක්ෂණය. මේ ලක්ෂණය ඇති අය සතුරන්ට මඩින්න බෑ.

### 05. බ්‍රහ්ම උජුගතා

බ්‍රහ්මයගෙ වගේ ඍජු ශරීරයක් ඇති බව. බුදු සිරුර ඍජුයි, සෝබනයි. තමන් විසින් හෝ අන්‍යයන් ලවා හෝ කිසිවෙකුටත් හිංසා පීඩා නොකිරීම නිසා මේ ලකුණ පිහිටනවා. කිසිම කෙනෙකුට කරදරයක් නැතිව ඉන්න අවංකත්වය නිසා ගති රුවත් ඍජුයි, ඇද නෑ. ඒ පුණ්‍ය ශක්තිය නිසා අනුන්ට යටත් කරන්න හෝ වක කරන්න හෝ වහල් කරන්න බෑ. මොකද උන් වහන්සේ ලෝකයා වහල් කළෙත් නෑ. මේ ලක්ෂණය තියෙන අය දීර්ඝායුෂ්ක වෙනවා. සතුරන්ට මඩින්න බෑ.

### 06. සත්තුස්සකතා

සත් තැනක උස් බව. දෙපිට අතුල්, දෙපිට පතුල්, උරහිස්, කර කියන සත් තැන උසින් පිහිටීම. (අත් තල දෙකයි, පා තල දෙකයි, උරහිස් දෙකයි, කරයි)

අනුන්ට යමක් නොදෙන කෙනා හැම වෙලේම අකුල ගන්න තමයි බලන්නෙ. දෙන කෙනා විවෘතව පිරිච්ච

දෙයක් දෙනවා. පිරුණු හිතින් දෙන කොට අත පය පිරෙනවා, ඇකිලිලා නෑ, එබිල නෑ. කෙනෙක් මොනව හරි හංගගෙන, දෙන්නෙ නැතිව ඉන්නව නම් සමහර විට ඒ ගති ලක්‍ෂණයේ ගතිරුවක් විදියට, කර හීනියට හැදෙනවා, පළල් නෑ, යට ගිහින්. කර යට යන්නෙ සාමාන්‍යයෙන් අනුන්ගෙ බර අදින අයගෙ, කත් අදින අයගෙ. කත් අදිනව නම් කර පාත් වෙනවා. කර ඉස්සිච්ච අයට කත් අදින්න බෑ, කර ලිස්සනවා. දූන් කත් අදින්න හැදිල තියෙන්නෙත් එදා අනුන්ට බර දීපු ගති ලක්‍ෂණය නිසා. එතකොට උපදින්න වෙන්නෙත් ඒකට හේතු වෙන විදියෙ කරක් සහිතව. අනුන්ට බර නොදෙන කෙනාට බර අදින්න වෙන කායික මානසිකත්වයක් එන්නෙ නෑ. එතකොට කර, උරහිස්, අතුල්, පතුල් පිරිච්ච ස්වභාවයක් එනවා. මේ ලක්ෂණය දරන අය ප්‍රනීත ආහාර පාන ලබනවා. පෙර ජාතිවල ප්‍රනීත දේ දන් දුන් නිසා මේ ලක්ෂණය පිහිටනවා.

### 07. මුදු තළුන හත්ථ පාදතා

මෘදු වූත්, තරුණ වූත් අත් පා ඇති බව. සාමාන්‍ය අයගෙ වගේ අත පය රළු නෑ, ස්පර්ශ කරන කොට කටුක ගතිය නෑ, බොහොම සිනිඳුයි. මේ ලක්ෂණය තියෙන අය ඉතා උසස් විදියට මහජනයාගෙන් සංග්‍රහ ලබනවා. දානය, ප්‍රිය වචනය, අර්ථ චර්යාව, සමානාත්මතාවය කියන සතර සංග්‍රහ වස්තුවෙන් මහජනයාට සංග්‍රහ කරපු නිසා මේ ලක්ෂණය පිහිටනවා.

### 08. ජාලහත්ථ පාද ලක්ඛණතා

දැල් කවුළුවක් බඳු වූ අත් පා ඇති බව. බුදු රදුන්ගේ පයේ ඇඟිලි පහත්, අතේ ඇඟිලි හතරත් සම ප්‍රමාණව පිහිටනවා. අතේ මහපටඟිල්ල හැර ඉතිරි ඇඟිලි හතරෙ කෙළවර සරල රේඛාවක් වගේ සමානව එක පෙළට පිහිටනවා. සාමාන්‍ය අයගෙ වගේ ඇද කුද නෑ. පයේ ඇඟිලි පහත් එහෙමයි. සමානව පිහිටල තියෙන්නෙ. දිගු ඇඟිලි සහ සම ඇඟිලි තමයි බුදුන් වහන්සේට පිහිටන්නෙ. කාටවත් විසම නොවන පරිදි සමානව සැලකුව නිසා, සම තැන දීල විසම නොවන සැලකිල්ලක් කරපු නිසා ඒ විදියට ශරීර ලක්‍ෂණත් සමව පිහිටනවා. මේ ලක්ෂණය තියෙන අය ලෝ වැසියන්ගෙන් බොහෝ සංග්‍රහ ලබනවා.

### 09. උස්සංඛ පාදකා

බුදු වහන්සේගෙ ඇස් වටය උස්ව පිහිටි නිසා සුවසේ පාද පරිවර්ථනය වෙනවා. මේ ඇස් වටය කියන්නෙ වළලු කර වටා මනාව පිහිටි ලක්‍ෂණයක්. සාමාන්‍ය අයගෙ වගේ ඇද කුද ගති නෑ. ලස්සනට වට රවුමට සෞම්‍යව පිහිටනවා. උන්වහන්සේ ගිහි කාලයෙත් ඒ ලක්‍ෂණය පිහිටියා. මේ ලක්ෂණය දරන අය ගිහි වුණා නම් කාම භෝගීන්ට ශ්‍රේෂ්ඨ වෙනවා. පැවිදි වුණා නම් පැවිද්දන්ට ශ්‍රේෂ්ඨ වෙනවා. පෙර භවවල අර්ථවත් වචන කතා කිරීම, දස කුසල ධර්මයේ මහජනයා පිහිටුවීම කියන කුසල ධර්ම කරපු නිසා මේ ලක්ෂණය පිහිටනවා.

### 10. උද්ධස් ලෝමතා

රෝම කූපයන් කුණ්ඩලංකාරයෙන් දකුණට කැරකැවිල අක් උඩුකුරුව පිහිටීම. ඒ කියන්නෙ ශරීරයේ තියෙන රෝම කූපයන් අග උඩු කුරු වෙලා උන්වහන්සේගෙ මුහුණ දිහා බලාගෙන ඉන්න විදියට තමයි පිහිටන්නෙ. අත් පාවල පවා රෝම කූපයන් රවුමට කැරකිලා අග මුහුණ දිහා



බලාගෙන ඉන්න විදියට පිහිටන්නෙ. හිස කෙස් පවා මුහුණ බලන්න හදනව වගේ මුහුණ පැත්තට තමයි ඒවායේ අග කැරකිලා තියෙන්නෙ. මුව මඬල මුල් කර ගෙන මුහුණු දර්ශනය මුල් කර ගෙන හැම කෙනෙක්ම අවනත වෙනව කියන එකයි මේකෙන් පෙන්වන්නෙ. මේ ලක්ෂණය දරනව නම් සියල්ලන්ටම ශ්‍රේෂ්ඨ වෙනවා. අර්ථවත් ධර්ම නිශ්‍රිත වචන කතා කරපු නිසා මේ ලක්‍ෂණය පිහිටනවා.

### 11. එනි ජංගතා

එනි මුවන්ගෙ හෙවත් පිනි මුවන්ගෙ කෙණ්ඩා වගේ ක්‍රමයෙන් සිහින්ව මසින් වට වෙලා සහයන් සේ පිහිටීම. එනි ජංගතා කියන්නෙ පිනි මුවන්ගෙ පිහිටි කෙණ්ඩාවල ලක්‍ෂණය. ඒ කියන්නෙ කකුල් යටින් පුංචි වෙලා ක්‍රමානුකූලව වට රවුම් වෙලා උඩට එන කොට කෙණ්ඩියක් වගේ ඉස්සිලා පිහිටනවා. මේ ලක්ෂණය දරන අය ගිහි වුණා නම් ගිහියන්ට උවමනා උපභෝග පරිභෝග සම්පත් ලබනවා, පැවිදි වුණා නම් ශ්‍රමණ පරිස්කාර ලබන්නෙක් වෙනවා. පෙර භවවල ශිල්ප විද්‍යාව උගන්වල ලෝ වැසියන් සුචරිතයේ පිහිට වූ නිසා මේ ලක්ෂණය පිහිටනවා.

### 12. සුකුමච්ඡවිතා

ඉතා සියුම් සිවිය (මෘදු හම) ඇති බව. බුදු සිරුරේ රැලි ආදිය රැඳෙන්නෙ නෑ. මේ ලක්ෂණය දරන අය ගිහි වුණා නම් අන්‍ය කාම භෝගීන් විසින් ළං විය නොහැකි නුවණ ඇති අය වෙනවා. බුදු වුණා නම් මහා ප්‍රඥාවන්ත වෙනවා. පෙර භවවල මාන දර්පාදිය නොමැතිව කටයුතු, නොකටයුතු හඳුනගෙන ජීවත් වෙච්ච නිසා මේ ලක්ෂණය පිහිටනවා. මාන දර්පාදිය නැතිව කටයුතු කරල කිව්වෙ, අනිත් අය මානයෙන් දපනය (දමනය කරල) යටත් කර ගැනීමක් නොකළ බව. මානයෙන් උසස් වෙලා කෙනෙක් යටත් කළේ නෑ. ඒ හේතුවේ ඵලයක් තමයි සියුම් සම. ඒ සියුම් සමට කුණු වැදුනට රැඳෙන්නෙ නෑ. ඉතා පිරිසිදු මෘදු ස්වභාවයක් තමයි තියෙන්නෙ. සතුන්ගෙන් උදාහරණයක් ගන්නව නම්, නයාගෙ හමට මඩ කුණු තැවරිලා හිටින්නෙ නෑ, ලිස්සල අහකට යනවා. මඩින් ගිහින් ගොඩට ආවත් මඩ පොඩ්ඩක්වත් ගෑවෙන්නෙ නෑ. ඒ වගේ ගති ස්වභාවයක් උන් වහන්සේටත් පිහිටනවා.

### 13. ස්වර්ණ චර්මතා

ශරීරය (හම) රන් වන් පැහැයෙන් යුක්ත බව. මේ ලක්‍ෂණය තියෙනව නම් සුව පහසු වස්ත්‍ර ආදිය ලැබෙනවා. පෙර භවවල නොකිපෙනසුළුව අනුන් පරුෂ වචනයෙන් බනින කොට නොසතුටක්වත් පල නොකළ නිසා (බැන්නත් තරහ ගත්තෙ නෑ, අනුන්ගෙ හිත රිදවන්න ගියේ නෑ.) මේ ලක්ෂණය පිහිටනවා.

### 14. කෝසෝහිතවත්ථ ගුයිහතා

කෝෂය තුල සැඟවුන පුරුෂ නිමිත්ත ඇති බව. භේද බින්නව හිටපු නෑදෑ මිතුරන් එකතු කරල සමගි කරල සතුටු වෙච්ච නිසා මේ ලක්ෂණය පිහිටනවා.

සාමාන්‍ය ලෝක සත්වයා ගත්තම බොහෝ කොටම කෙනෙක් එක්ක ප්‍රිය

කරන්නෙ කාමය මුල් කරගෙන. ඒ කාම ආස්වාදයට හැම වෙලේම කාම ඉන්ද්‍රිය බලපානවා. කාමයට ප්‍රිය මනාප කෙනා තවත් කෙනෙක්ගෙ ලස්සනට කැමතියි, කැත නම් අකමැතියි. එතකොට ඒකට මුල් වෙලා තියෙන්නෙ අනිත් අය අතරෙ සමගිය, ගුණධර්ම නෙවෙයි, කාමය. නමුත් අනිත් අයගෙ චිත්ත ප්‍රසාදය මුල් වෙච්ච කාරණාවලට ප්‍රිය මනාප කරන අය, ලස්සන / කැත කියල වෙනසක් කරන්නෙ නෑ. ඒ හේතුවෙන් අනිත් අයගෙ හිත රිදවන්න කැමති නෑ, අසමගිකම් භේද ඇති කර ගන්න යන්නෙ නෑ. නමුත් සාමාන්‍ය ලෝකයා එහෙම නෑ. කාමයට මුල් තැන දීපු අය බාහිර ලස්සනට, ප්‍රිය මනාපෙට තමයි මුල් තැන දෙන්නෙ. අනිත් අය කැත නම් කොච්චර ගුණ යහපත් වුනත් ඒ අයට තැනක් දෙන්නෙ නෑ. නමුත් එහෙම ගති ලක්‍ෂණ බුදුන් වහන්සේගෙ අහලකවත් නෑ. පෙර අත් බැව්වලත් එහෙම තමයි ක්‍රියා කළේ. කාමයට නෙවෙයි ගුණ ධර්මවලට තමයි තැන දුන්නෙ. ඒ ගති ලක්‍ෂණ නිසාම තමයි උන්වහන්සේගෙ පුරුෂ ලක්‍ෂණත් සැඟවිලා තියෙන්නෙ. එතකොට ඒ කාරණය නිසා ලැබෙන කායික පහසුවකුත් තියෙනවා. මොකද කාමය නිසා පීඩිත වෙච්ච සාමාන්‍ය ලෝක සත්වයා ඒ කාම ඉන්ද්‍රියන් රැක ගන්න, ඒ අවශ්‍යතාවයන් ඉටු කර ගන්න මහ වදයක් විඳිනවා. ඇඳුම් පැළඳුම් පවා හිර කර ගෙන ඉන්නෙ හරි අමාරුවෙන්. නමුත් බුදුන් වහන්සේගෙ ඒ නිවිච්ච ගති ලක්‍ෂණය නිසා ශරීරයටත් බොහොම පහසුයි.

## 15. නිග්‍රෝධ පරිමණ්ඩලතා

නුග ගහක් වගේ උසට ගැලපෙන මහතින් යුක්ත සිරුරක් ඇති බව. මේ ලක්‍ෂණය තියෙනව නම් මහා ධනවතෙක් වෙනවා. බුදුන් වහන්සේ සප්ත ආර්ය ධනයෙන් ආඪ්‍යයි. (සද්ධා ධනය, සීල ධනය, හිරි ධනය, ඔතප්ප ධනය, ශ්‍රැත ධනය, ත්‍යාග ධනය, ප්‍රඥා ධනය) පෙර භවවල සුදුස්සාට සුදුසු තැන ලබාදීම නිසා මේ ලකුණ පිහිටනවා.

## 16. ආජානුලම්භිත හත්ථතා

සිටගෙන නොනැමී දණ මල පිරිමැදිය හැකි බව. ඒ කියන්නෙ ඇදෙන්නෙ නැමෙන්නෙ නැතිව ලම්භකව හිට ගත්තම දණ හිස අල්ලන්න පුළුවන්. සුදුස්සාට සුදුසු තැන දීල ඔවුනොවුන්ගේ තත්වයට ගැලපෙන විදියට කටයුතු කරපු නිසා මේ ලක්‍ෂණය පිහිටනවා. නමුත් සාමාන්‍ය ලෝකයාගෙ බොහෝ කොටම තියෙන ගති ලක්‍ෂණයක් තමයි, සුදුසුකම් නැතිව බාහිර වෙනත් හේතු නිසා තමන්ගෙ ආත්ම ලාභය මුල් කර ගෙන අනුන්ට පැත්තක් ඇල්ලීම. එතකොට පැත්තකට ඇදෙන ගති ලක්‍ෂණය නිසා යමක් අල්ලන්න ගියත් පැත්තකට ඇදෙන්න වෙනවා. ඒ හේතුවට අනුකූලව ගති රුවක් හට ගන්නවා. ඉන්ද්‍රියන් දිගු නැති නිසා යමක් අල්ල ගන්න බොහොම වද විඳින්න වෙනවා. ඇද කුද ගැහිල තමයි යමක් අල්ල ගන්න වෙන්නෙ. ක්‍රමානුකූලව යමක් දරා හිටින්න බෑ. ක්‍රමානුකූල නැති විදියට අන්‍යයන්ටත් අනන්ත සංසාරෙ වැඩ කරපු නිසා ශරීරයත් ඒ වගේ පිහිටනවා. ඒක අනෙක් සාමාන්‍ය ලෝකයාට පොදු ලක්‍ෂණයක්.

## 17. සිහප්පුබද්ධ කායතා

සිංහයෙකුගෙ පූර්වාර්ධ කය වගේ සම්පූර්ණ වෙච්ච මුළු සිරුරක් ඇති බව. ඒ කියන්නෙ උඩු කය සාපේක්‍ෂව මහතට ක්‍රමානුකූලව පිරිල පිහිටන්නෙ. බඩ ප්‍රදේශය සිහින්. පපුව උරහිස් මහතයි. එතකොට ශක්තිය වැඩියි. මේ ලක්‍ෂණය ඇති වෙන්නෙ, අනුන් ගුණයෙන් හා ධනයෙන් වර්ධනය වෙනවට කැමති වෙච්ච නිසා. නමුත් බඩ මහත් වෙච්ච ශරීර තියෙන අයට ගමන් කරන්න පෙරළෙන්න අමාරුයි.

## 18. චිතන්තරංස

පිට මැද කාණුවක් වගේ නොපිහිටා මස් පටලයකින් වැහිල මනා සේ පිහිටි බව. මේ ලක්‍ෂණය රන් පුවරුවක් හා සමානයි කියලත් පෙන්වනවා. ඒ කියන්නෙ ඇද කුද, වල ගොඩැලි නෑ. මේ ලකුණ දරන අය ගිහියෙක් වුණා නම් නොපිරිහෙන සම්පත් තියෙන මහ රජෙක් වෙනවා. පැවිදි වුණා නම් නොපිරිහෙන ගුණ සම්පත් ඇත්තෙක් වෙනවා. මේ ලක්ෂණය ඇති වුනේ අන්‍යයන් ධනයෙන් ගුණයෙන් වැඩීමට කැමති වෙච්ච නිසාත් ඒ කාරණය ඉවසපු නිසාත්.

## 19. සමවත්ථක්ඛණ්ඩතා

සම වුත්, වට වුත් ග්‍රීවයක් ඇති බව. නහර පේන්නෙ නෑ. රන් කොලයක කරක් වගේ සම වටව බෙල්ල පිහිටි බව. ඒ කියන්නෙ බෙල්ල ඇද කුද නෑ. වට රවුමට පිහිටනවා. මේ ලක්ෂණය ඇති අය ගිහි වුණා නම් නොපිරිහෙන සම්පත් ඇත්තෙක් වෙනවා. පැවිදි වුණා නම් ගුණ සම්පන්න වෙනවා. පෙර සසරෙදි අන්‍ය පිරිසගෙ සම්පත් නොපිරිහී යාමට තිබිච්ච කැමැත්ත නිසා තමයි ඒ ලක්ෂණය ශරීරයෙත් පිහිටන්නෙ. නමුත් සාමාන්‍ය ලෝකයා බොහෝ කොටම එහෙම නෙවෙයි. කෙනෙක්ගෙ සැප සම්පත්තියක්, හොඳක් කිව්වමත් එක පාරටම බෙල්ල ගස්සල ඇද කරනවා. ඒ වගේ දෙයක් අහන්න කැමති නෑ. රුස්සන්නෙ නෑ. සමහරු හුල්ලනවා. ඒ ගති තියෙන අයගෙ ඊට අනුකූලව බෙල්ල අඩු පාඩු සහිතව පිහිටනවා.

## 20. රසග්ග සංගීතා

උතුම් රස නහර ඇති බව. තලැටක් (තල් ඇටයක්) පමණ දෙයක් වුනත් දිව මත තැබූ විගසම මුළු සිරුරේ ඔජස් පැතිරෙනවා. මේ ලක්ෂණය තියේ නම් නිරෝගී වෙනවා. පෙර භවවල කැට කැබලිති ආදියෙන් සත්ව හිංසා නොකළ නිසා මේ ලක්ෂණය පිහිටනවා. රස නහර කිව්වම දිව ඇතුළු මුළු ශරීරයෙම තියෙන රස නහර පිනා යන ස්වභාවය තමයි මේ කියන්නෙ. උදාහරණ විදියට යමක් ස්පර්ශ කළොත් ඒකෙ ස්වභාවය හරියටම දැනෙනවා. නමුත් සාමාන්‍ය අයට අඩු පාඩු සහිතවයි දැනෙන්නෙ. අනන්ත සසරෙදි අනුන්ට රිදෙව්ව නම්, පහුරු ගාල හූරල හිංගි හිංසා කළා නම්, ඒකෙ විපාක වශයෙන් ශරීරයත් සංවේදී බවෙන් අඩුව තමයි පිහිටන්නෙ. එතකොට යමකින් එන සුවය, ස්වභාවය 100% ක්ම ඒ ආකාරයෙන්ම ලබන්න බෑ.

## 21. අභිනීල නෙත්තතා

නිල්වන් නෙත් සඟලක් ඇති බව. මේ ලක්ෂණය තියෙනව නම් බොහෝ දෙනෙකුට ප්‍රියමනාප වෙනවා. පෙර භවවල ද්වේශයෙන් අනුන්ට රවා බැලීමක්වත් නොකර ඍජු සිතින්, ප්‍රිය ඇසින් බලපු නිසා මේ ලක්ෂණය පිහිටනවා. ඒ කියන්නෙ ඇසේ කළු ඉංගිරියාව තද නිල් පාටයි. මොකද ප්‍රිය මනාප ඇසින් තමයි පෙර අත් බැව්වලත් බැලුවෙ. කෙනෙකුට රැව්වෙ නෑ. නමුත් සාමාන්‍ය අයගෙ බොහෝකොටම එහෙම නෑ. ඇස් බොර පාටයි, අළු පාටයි, එහෙම නැත්නම් පූර්ණ නිල් පාටක් නෑ.

## 22. ගෝපකූපතා

උපන් හැටියෙ වස්සකුගෙ වගේ ඉතා ප්‍රසන්න ඇස් ගුලි ඇති බව. යටට නොගිලී මතුවට නොඉලිප්පී ඇස් පිහිටි බව. මේ ලක්ෂණය ඇති අය කාටත් ප්‍රියමනාප වෙනවා. ප්‍රිය ඇසින් කා දිහාත් බලපු නිසා මේ ලක්ෂණය පිහිටියා.

## 23. පුණ්හ සීසතා

නලල් පටින් වෙලන ලද පිරුණු නලල සහිත සම්පූර්ණ හිසක් ඇති බව. ඒ කියන්නෙ පෙළක් අයගෙ කොණ්ඩෙ කපල තියෙන කොට ඔළුව නිකං වේලිච්ච ලබු ගෙඩියක් වගෙයි, ඇද කුද වෙලා වක ගැහිල තමයි පිහිටන්නෙ. නමුත් බුදුන් වහන්සේට තියෙන්නෙ හොඳ පිරුණු හිසක්. මේ ලක්ෂණය තියේ නම් බොහෝ දෙනාට අනුචරයෙක් වෙනවා. අනුචර කියන්නෙ බොහෝ දෙනාට උන් වහන්සේව දැක්කම අනුගමනය කරන්න හිතෙනව කියන එක. පෙර භවවල යහපත් ක්‍රියාවන්ට මූලිකව මහජනයා හැසිරවූ නිසා මේ ලක්ෂණය පිහිටනවා.

## 24. ඒකලෝමතා

එක රෝම කූපයක රෝම එකක් ඇති බව. සාමාන්‍ය අයගෙ එක රෝම කූපයක රෝම දෙකක් දෙවිදියකට පිහිටනවා. එයින් එකක් ලොකුයි. අනෙක පුංචියි. නමුත් බුදුන් වහන්සේගෙ එකයි පිහිටන්නෙ. ඒ කියන්නෙ ලොකු පුංචි භේදයක් නැතිව එක හා සමානව අනුන්ට සලකපු ගති ලක්‍ෂණය. වෙනත් විදියකින් කියනව නම් තමන්ගෙ මතයක හිටියෙ නෑ. ස්වෛරීයව යථාර්ථයේ පිහිටියා. නමුත් සාමාන්‍ය ලෝකයා තමන්ගෙ මතවල තමයි ඉන්නෙ. ඇලීම, ගැටීම නිසා භේද වෙලා ඉන්නෙ. මේ ඇලීමයි, ගැටීමයි නිසා තමයි අනිත් අයට විසමව රෝම දෙකක් පිහිටන්නෙ. ආස්වාදයට ලොල් වෙලා තමයි ඇලෙන්නෙ ගැටෙන්නෙ. වෙනත් විදියකින් කියනව නම් මෝහය මුල් වෙලා එන රාග, ද්වේශ, මෝහ. නමුත් දහමට අනුව බලන කෙනාට ඒ දෙක නෑ. ඒ නිසා බුදුන් වහන්සේ ළඟ සත්‍යයට අනුව එක දෙයයි තියෙන්නෙ. ඒ නිසා එක රෝම කූපයක් තුළ එක රෝමයක් පිහිටනවා. මේ ලක්‍ෂණය තියෙන අය තමන් අනුව යන මහ පිරිස් ඇත්තෙක් වෙනවා. අසත්‍යයෙන් වැළකිලා සත්‍යවාදී වූ නිසා මේ ලක්ෂණය පිහිටනවා.

## 25. ඌර්ණ රෝම ලක්‍ෂණය

දෙබැම අතර නලල මැද දකුණට කැරකැවිල රිදී බුබුලක් වගේ දිලිසෙන රෝමයක් ඇති බව. මේ ලක්‍ෂණය තියෙන අය අනුව යන මහ පිරිසක් බිහිවෙනවා. අසත්‍යයෙන් වැළකීම සහ සත්‍යවාදී වීම නිසා මේ ලක්‍ෂණය පිහිටනවා.

## 26. චත්තාලීස දන්තතා

එක් ඇන්දක දත් විස්ස බැගින් (මුතු ඇට පෙළක් මෙන්) දත් හතලිහක් පිහිටනවා. මේ ලක්‍ෂණය තියේ නම් කිසිවකු විසින් බිඳලිය නොහැකි මහා පිරිස් ඇත්තෙක් වෙනවා. කේලම් කීමෙන් වැලකිලා, අසමගි වෙච්ච අය සමගි කිරීම නිසා මේ ලක්‍ෂණය පිහිටනවා.

## 27. අවිවර දන්තතා

විවර රහිත දත් ඇති බව. ඒ කියන්නෙ දත් අතර හිඩැස් නෑ. දත් එකිනෙක උස් පහත් නොවී සමව පිහිටා තියෙන බව. ඒ නිසා කිසිවකු විසින් බිඳලිය නොහැකි පිරිස් බල ඇත්තෙක් වෙනවා. කේලම් කීමෙන් වැලකීම, බිඳුනවුන් සමගි කිරීම නිසා මේ ලක්ෂණය පිහිටනවා.

## 28. පහූත ජිව්හතා

මෘදු වූ දිග් පලල් දිවක් ඇති බව. ඒ දිවෙන් කන් තල, නලල් තල පිරිමදින්න පුළුවන්. මේ ලක්‍ෂණය දරනව නම් ඉවතලිය නොහැකි වචන ඇත්තෙක් වෙනවා. පරුෂ වචනයෙන් වැලකීම, ප්‍රිය වචන කීම මේ ලක්ෂණය ඇති වෙන්න හේතු වෙනවා.

## 29. බ්‍රහ්ම ස්වරතා

බ්‍රහ්මයාට සමාන කට හඬක් ඇති බව. පිත්, සෙම් ආදියෙන් නොගැටුනු ස්වරය පැහැදිලියි, මිහිරියි. මේ ලක්‍ෂණය පිහිටියා නම් ඉවතලිය නොහැකි වචන ඇත්තෙක් වෙනවා. පරුෂ වචනයෙන් වැළකීම, ප්‍රිය වචනයෙන් කතා කිරීම තමයි මේකට හේතුව. හැබැයි මෙතනදි බ්‍රහ්ම කිව්වම කොටස් 2 ක් තියෙනවා. මොකද බුදුන් වහන්සේටත් බ්‍රහ්මාතිබ්‍රහ්ම (බ්‍රහ්මත්වය ඉක්මවා ගිය) කියල කියනවා. ඒ වගේම බ්‍රහ්ම ලෝකෙ ඉන්න බ්‍රහ්මයින්ටත් බ්‍රහ්ම කියල කියනවා. නමුත් නියම විදියට 100% ක්ම බ්‍රහ්ම ගුණය පිහිටන්නෙ බුදුන් වහන්සේට. ඒ නිසා බ්‍රහ්මයාට සමානයි කිව්වම, තවත් බුදු කෙනෙකුට තමයි හරියටම 100% ක්ම සමාන වෙන්නෙ. නමුත් ලෞකිකත්වය තුළ බ්‍රහ්ම ලෝකයේ ඉන්න බ්‍රහ්මයින්ටත් ඒ හා ආසන්න ගති ලක්‍ෂණ තියෙන නිසා බ්‍රහ්මයින්ට උපමාවක් විදියටත් අරගෙන ඒ කාරණය පෙන්වනවා.

## 30. සීහ හනුතා

සිංහයෙක්ගෙ වගේ හනු ඇති බව. උඩු යටි පිරිපුන් හනු පිහිටනවා. හනු දෙපැත්ත එබිල නෑ. මේ ලක්‍ෂණය තියේ නම් සතුරන් විසින් විනාශ කළ නොහැකි වෙනවා. ප්‍රලාප කතාවෙන් වැළකීම, අර්ථවත් ධර්මාන්විත වචන කතා කිරීම මේ ලක්‍ෂණය පිහිටන්න හේතු වෙනවා.

## 31. සම දන්තතා

සම වූ දත් ඇති බව. මේ ලක්ෂණය දරනව නම් පවිත්‍ර පිරිවර ඇත්තෙක් වෙනවා. මිත්‍යා ජීවිකාවෙන් වැලකීම හේතු කොට ගෙන මේ ලක්ෂණය පිහිටනවා.

## 32. සුසුක්ඛ දන්තතා

ඉතා සුදු දත් ඇති බව. ඒ කියන්නෙ දත් සම්පූර්ණ කිරි පාටයි. සාමාන්‍ය අයගෙ වගේ බොර පාටට, සුදු අඩුවෙන් පිහිටන්නෙ නෑ. මේ ලක්ෂණය දරනව නම් පවිත්‍ර පිරිවර ඇත්තෙක් වෙනවා. මිත්‍යා ආජීවයෙන් වැළකීමේ විපාක විදියට මේ ලක්ෂණය ඇති වෙනවා.

ඉතින් උන්වහන්සේගෙ ශරීරය එසේ මෙසේ ශරීරයක් නොවන බව මේ කාරණාවලින්ම පැහැදිලි වෙනවා. උන්වහන්සේගෙන් නික්මෙන හුස්ම පොදක් පවා ලෝ වැඩ සලසන්නමයි නික්මෙන්නෙ. ධර්මයේ සඳහන් වෙන ආකාරයට උන්වහන්සේ බුද්ධත්වයට පත්වූ මොහොතෙදි අසම සම වූ සම්බුද්ධ ශරීරයෙන් නික්මෙන්නා වූ රැස් දහරාවන් අනන්ත විශ්වය කරා පැතිරී යනවා. මේ මහා මඟුල් සක්වලින් එහා පිහිටි සක්වලයන්ගේ ඉන්න බ්‍රහ්මයන්ගෙ සූක්ෂම ශරීරයට ඒ බුද්ධ රශ්මිය දැනෙනවා. මහා ශාන්තියක් ඒ අයට දැනෙනවා. මොකක්ද මේ ශාන්තිය කියල හැරිල බැලුවම ඒ අයගෙ සිත්, මේ මහ මඟුල් සක්වල පැත්තට හැරෙනවා. ඉතින් මේ බ්‍රහ්මයන් චුත වුනාම කෙමෙන් කෙමෙන් බුදු කෙනෙක් පහළ වෙන මගුල් සක්වලට ඇදෙනවා. අවසානයේ කවදා හෝ නිවනින්ම කෙලවර කර ගන්නවා. ඉතින් මේ අනුව බලල බුද්ධ ශරීරය දැකල මහා ශ්‍රද්ධාවකින්, අනේ මේ අපේ බුදු පියාණන් වහන්සේගෙ ශරීරය කොතරම් විශ්මය ජනකද කියල හිතුවොත් හෝ ශ්‍රද්ධාවක් ඇති වුනොත් ඒක සුළු පටු නෑ.

ඒ සතුටින් ශ්‍රද්ධාවෙන් තමයි සිගාල මාතා තෙරණිය බුදු ගුණ වැඩුවෙ. අප්‍රමාණ බුදු ගුණ ශබ්ද නවයකට බුදුන් වහන්සේ විසින්ම බෙදල වෙන් කරල තියෙනවා. ඒ හැම ශබ්දයකම වීතරාගී, වීතදෝසී, වීතමෝහී ගුණ තියෙනවා. සජ්ජායනා කරන තරමට ඒ ගුණ පිහිටන්න හේතු වෙනවා. නිවනටම හිත යොමු වෙනවා. ඒ අනුව තමයි මහත් ශ්‍රද්ධාවෙන්ම බුදු ගුණ වඩල සිගාල මාතා තෙරණිය ත්‍රිවිද්‍යා සහිතව, සිවුපිළිසිඹියා සහිතව අරිහත් ඵලයට පත් වුනේ.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 2 - 2 සිගාල මාතා ථේරිපදානය සහ අන්නසංසාවක ස්ථවිරාවදානය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

පසුගිය 38 වන කලාපයෙන් ඉදිරිපත් කළ දස දිසා බන්ධන පිරිතේ ''සබ්බූපද්ද චුපද්දවා'' කියල භාවිතා වෙන ගාථා කොටස සමහර තැන්වල ''සබ්බූපද්ද මුපද්දවා'' කියලත් භාවිතා වෙනවා. ඒ කොහොම කිව්වත් අවසාන අදහසේ වෙනසක් නෑ. මොකද පැරණි පිරිත් කාලයක් තිස්සෙ භාවිතා වෙන කොට යම් යම් වචනවල සුළු සුළු වෙනස්කම් සිද්ධ වෙන්න පුළුවන්. නමුත් එකම අදහස සමාන වචනවලින් ඉදිරිපත් කිරීමක් තමයි මේ සිද්ධ වෙලා තියෙන්නෙ. ඒ නිසා මේ දෙකෙන් කැමති එකක් පාවිච්චි කරන්න පුළුවන්.

# ධම්ම පදය තුලින් නිවන් මග

**7 වන කොටස**



ධම්ම පදයේ පණ්ඩිත වර්ගයට අයිති ගාථාවක් ගැන තමයි මේ කියන්න යන්නෙ. මෙතනදි පණ්ඩිත/පඬි ආදී වශයෙන් කියන වචනයේ අදහස නිරුක්ති අර්ථයෙන් ගත්තොත්, පංච කාමය පිළිබඳ කැමැත්ත, එහෙම නැත්නම් පාපය, අඩාල කරන අර්ථයක් තමයි එන්නෙ. අණ්ඩ කියන්නෙ කොටසක්. ඒ කියන්නෙ පාපය සම්පූර්ණයෙන්ම නැති කරනව නෙවෙයි, අඩු කරනවා, කොටසක් ඉවත් කර දමනවා. පංච කාමය පිළිබඳ තිබෙන්නා වූ මුලාව අඩාල කරන අර්ථයෙන් පඬි කියල කියනවා. නමුත් ලෝක සම්මතයෙ නම් පඬි කියන්නෙ, යමක නායකත්වය දරන, දැන උගත්කමින් ඉහළ කෙනෙක්. නමුත් නියම පරමාර්ථ අදහස තමයි ඉහතින් විස්තර කළේ.

අත්තානං දමයන්ති පණ්ඩිතා - පණ්ඩිතයෝ අත්බැව දමනය කරයි. ඒ කියන්නෙ පංච කාමය දමනය කරනවා. එතකොට තමයි අත්බැව දමනය වෙන්නෙ. ඕලාරික කරජ කය (පංචකාමය විඳින) සීලයෙන් දමනය කළ යුතු බවත්, රූපීය මනෝමය කය සමාධියෙන් සමනය කළ යුතු බවත්, අරූපී සංඥාමය කය ප්‍රඥාවෙන් දැක පිරිනිවන් පාන බවත් (කෙලෙස් පිරිනිවීම) ධර්මයේ සඳහන් වෙනවා. පණ්ඩිත වර්ගය කියල කිව්වෙ, නුවණැත්තෝ අවවාද අනුසාසනා පිළි අරගෙන ඒවා අනුගමනය කරල නිවන් සාක්ෂාත් කරගත් හැටි කියාපාන කෙටි ගාථා තියෙන කොටසක්. ඉතින් අනෙක් ගාථාවන් වගේම මේ ගාථාවත් කියන්න හේතුවක් තිබුණා. හේතුව කිව්වෙ නිධාන කතාවක්, එහෙම නැත්නම් මූලික වෙච්ච කාරණයක්.

ඒ කාලය වෙනකොට, ඒ කියන්නෙ ගෞතම බුදු පියාණන් වහන්සේ ලෝකයේ වැඩ ඉන්න කාලෙ රාධ කියල ඉතාම දුප්පත් බමුණෙක් හිටියා. මේ බමුණාට කන්න බොන්න විදිහක් තිබුනෙත් නෑ. ඉතින් නිතරම ආහාර පාන ආදිය තියෙන තැනක් තමයි භික්ෂූණ් වහන්සේලා වැඩ ඉන්න පන්සල හෝ ආරාමය. සාසනය කෙරෙහි පැහැදුන ගිහි පින්වතුන් නිතරම අවශ්‍ය අඩු පාඩු සකස් කරල දෙන තැනක්. එහෙම නැත්නම් පිණ්ඩපාතෙ වැඩිය තෙරුන් වහන්සේලාට ඒ අවශ්‍ය සිවු පසය ලැබෙනවා. ඉතින් ඒ කාරණය උඩ මේ රාධ කියන බමුණා තීරණය කළා, පන්සලට වෙලා භික්ෂූණ් වහන්සේලාට ඇප උපස්ථාන කර ගෙන ඉන්න. ඒත් මොකක් හරි හේතුවක් උඩ පැවිද්ද ලැබුනෙ නෑ. නමුත් ආවතේව කර ගෙන හිටියා. එක්තරා දවසක අළුයම ලොවුතුරා බුදු පියාණන් වහන්සේ මහා කරුණා ඥානයෙන් ලෝකය දිහා බලන කොට, මේ දුප්පත් බමුණා පන්සලේ පොලව අතුගාමින් ඉන්නව දැක්කා. ඒ වගේම අරිහත් වෙන්න පවා හේතු වාසනා තියෙන කෙනෙක් කියලත් දැක්කා. ඉතින් බුදුන් වහන්සේ ඒ පන්සලට වැඩම කරල ඇහුවා, මොනවද ඔබ ඔය පන්සලේ කරන්නෙ කියල. තුන් කල් ආවරණය නොවන නුවණ (අනාවරණඥානය) නිසා කිසි දෙයක් හංගන්න බැරි ලොවුතුරා බුදුන් වහන්සේ, නොදැන නෙවෙයි එහෙම ඇහුවෙ. ඒ මනුස්සයට සෙතක් සලස්වන්න තමයි එහෙම ඇහුවෙ. මොකද බුදු කෙනෙක්ගෙ ශ්‍රී මුඛයෙන් එහෙම නිකං වචනයක් පිට වෙන්නෙ නෑ. හේතු ඇතුවමයි වචනයක් වුනත් පිටවෙන්නෙ. ඒ අහන කෙනාට ලෝවැඩ සලසන වචනය-ක්මයි පිටවෙන්නෙ. ඉතින් පන්සලේ අනෙක් අයත් මේ සිදුවීම දැකල සියලුම භික්ෂූණ් වහන්සේලා එතනට රැස් වුණා. මේ අතර සැරියුත් මහ රහතන් වහන්සේත් හිටියා.

ඉතින් බුදුන් වහන්සේ අහපු ප්‍රශ්නයට ඒ බමුණා දුන්න උත්තරය තමයි, මම මේ භික්ෂූන් වහන්සේලාට ඇප උපස්ථාන කර ගෙන ඉන්නව කියල. ඊළඟට බුදුන් වහන්සේ එතන රැස්වෙලා හිටපු භික්ෂූණ් වහන්සේලාගෙන් ඇහුවා, ඔබලට මේ බමුණා උපස්ථාන කරපු අවස්ථාවක් මතක් කරන්න පුළුවන්ද කියල. එතකොට සැරියුත් මහ රහතන් වහන්සේ ඉදිරිපත් වෙලා, ඔව් ස්වාමීනි මේ මනුස්සය මම දවසක් පිණ්ඩපාතෙ වඩින කොට ඔහුට ලැබුන එකම බත් හැන්දත් මට පූජ කළා කියල කියා සිටියා. ඉතින් බුදුන් වහන්සේ නැවතත් සැරියුත් මහ රහතන් වහන්සේගෙන් ඇහුවා, ඒකම මදිද මේ මනුස්සයව මේ මහා දුක් ගොඩින් මුදවල සසරින් එතෙර කරන්න කියල. ඒ අනුව සැරියුත් හාමුදුරුවො එවෙලෙම ඒ රාධ කියන දුප්පත් බමුණව මහණ කළා.

හැබැයි මහණ කළත් මේ රාධ තෙරුන් වහන්සේට ලැබුනෙ දාන සාලාවෙ අන්තිම තැන. දන් බෙදල අවසන් වුනාම සමහර වෙලාවට දානෙත් නෑ. මේක දැක්ක සැරියුත් හාමුදුරුවො තමන් වහන්සේ සමග රාධ තෙරුන්වත් පිණ්ඩපාතෙ රැගෙන ගියා. අවශ්‍ය උපදෙස් දුන්නා. රාධ තෙරුන් වහන්සේත් ඒ උපදෙස් හිස් මුදුනින් පිළිඅරගෙන අවශ්‍ය පිළිවෙත් පුරල නොබෝ දිනකින්ම අරිහත් වුණා. බුදුන් වහන්සේ නැවතත් රාධ තෙරුන් ගැන විමසා උන්වහන්සේ ලබපු ජයග්‍රහණය ලෝකෙට කියා පාන්න මේ ගාථාව දේශනා කළා.

නිධීනංව පවත්තාරං
- යං පස්සේ වජ්ජ දස්සිනං
නිග්ගය්හවාදිං මේධාවිං
- තාදිසං පණ්ඩිතං භජේ
තාදිසං භජමානස්ස
- සෙය්‍යෝ හෝති න පාපියෝ

යමෙක් නොයෙක් රුවනින්

**පිරුණු මහා නිධානයක් තුබූ තැන් කියන්නකු මෙන් කෙනෙකුගේ ඇති වරද සොයා බලා (සිදුරු සොයන, කැළැල් ඇති කරන අදහසින් නොව) කාරුණික අදහසින්ම ඒ වරදට තරවටු කොට අවවාද කරයි ද, එබඳු සත්පුරුෂයෙක් නිතරම සේවනය කළ යුතුය. එබඳු කෙනෙකු සේවනය කරන්නාහට වැඩක්ම වේ, අවැඩක් නොවේ.**

මේ ගාථාවෙන් උන්වහන්සේ මුලින්ම උපමාවක් පෙන්වල දෙනවා. ඒ කියන්නෙ මහා නිධානයක් තියෙන තැනක් ගැන දන්න කෙනෙක්, ඒ නිධානය තියෙන තැනට එක්ක ගෙන යනව වගේ. ලෝක සම්මතයෙන් බැලුවම නිධානයක් හෙවත් මහා ධනස්කන්ධයක් තියෙන තැනක් කියන්නෙ ලේසියෙන් ගන්න පුළුවන් තැනක් නෙවෙයි. එතනට යන පාර දුෂ්කරයි, සමහර විට කඳු හෙල් පවා පසු කරගෙන යන්න වෙනවා. එහෙම නැත්නම් මහා ඝණ කැලෑ මැද්දෙන් යන්න වෙනවා. ඉතින් නිධානය තියෙන තැන ගැන හරියට දන්න කෙනා, මෙතනින් හැරෙන්න ඕන, අතනින් නවතින්න ඕන, මේ ප්‍රදේශයේ විස පඳුරු තියෙනවා, මේ තැන ලිස්සනවා... ආදී වශයෙන් සේරම විස්තර දන්නවා. දැන් ඒ නිධානය තියෙන තැන පෙන්වන්න තව කෙනෙක්ව එක්ක ගෙන යනව කියල හිතුවොත්, ඒ නිධානෙ ලබාගන්න නම් ඒ එක්ක ගෙන යන කෙනා කොහොම හැසිරෙන්න ඕනද? අන්න ඒ උපමාව තමයි මේ ගාථාවෙන් පෙන්නුවෙ. නිධානෙ තියෙන තැන දන්න කෙනා, ඔතනින් යන්න එපා ලිස්සනව කියල සැරෙන් කිව්වොත් ඒක ඒ විදිහටම ගෞරවයෙන් පිලිගෙන එතනින් නොයා, කියන පහසු තැනකින් යන්න ඕන. කිසිම අනතුරක් නැතිව ඒ මග ගමන් කරල නිධානය ගන්න නම් ඒ විදියට පිළිපදින්න ඕන. ඒ කිසි දෙයක් අහන්නෙ නැතිව තමන්ගෙ හිතු මනාපෙට ගියොත් මොකද වෙන්නෙ? එක්කො මහ කැලේ වල්මත් වෙලා අතරමං වෙන්න පුළුවන්. එහෙම නැත්නම් කන්දක් පාමුල වැටිල මැරෙන්න පුළුවන්, තුවාල වෙන්න පුළුවන්.

එතකොට හිතන්න ඕන, අර මග කියන කෙනා තරවටු කරන්නෙ ඇයි කියල. සමහර විට, ඔතනින් යන්න එපා ඔතන මහ හෙළක් තියෙනව කියල සැරෙන් කියන්න පුළුවන්. මට බැන්නනෙ කියල අහන කෙනාට තරහ යන්නත් පුළුවන්. නමුත් තරහ ගන්නෙ නැතුව මේ විදියටයි හිතන්න ඕන. ''මාව එක්ක ගෙන යන්නෙ මහා නිධානයක් තියෙන තැනකට, ඔහු තමයි මේක තියෙන තැන දන්නෙ, ඒ පාරවල් ගැන හොඳින් දන්නෙ. ඉතින් ඒ අනුව මම කටයුතු කළොත් මට කිසි කරදරයක් නැතුව ඔහු ඒ කියන නිධානය ලබා ගන්න පුළුවන්.'' මෙහෙම හිතන නුවණැත්තෙක් තමයි කිසිම අනතුරක් නැතුව ගිහින් ඒ නිධානය ලබා ගන්නෙ. ''මට අනතුරක් කරන්න නෙවෙයි ඔහු මේවා කියන්නෙ මට හොඳක් කරන්නයි, එහෙම කෙනෙක් තමයි මම ඇසුරු කරන්න ඕන, මට ඒකෙන් වැඩක් මිසක් අවැඩක් නම් වෙන්නෙ නෑ.'' ඕක තමයි ලෞකික උපමාව. දැන් ලෝකෝත්තර පැත්ත බැලුවොත් මොකක්ද මේ කියපු මහා නිධානය.

මේ කාරණය උදාහරණයකින් මේ විදියට පැහැදිලි කරන්න පුළුවන්. කෙනෙක් දුක්ඛිත ජීවිතයක් ගත කරනවා. කිසිම විදිහකින් සතුටක් නෑ. හරිම දුප්පත්, කන්න බොන්න විදිහක් නෑ. හරිම අපහසුවෙන් තමයි ඒ පුද්ගලය ජීවත් වෙන්නෙ. ඉතින් විස්වාසවන්ත සත්පුරුෂයෙක් ඇවිත්, අර කලින් කිව්ව වගේ අවශ්‍ය උපදෙස් දීල කිසිම කරදරයක් නැතුව මහා නිධානයක් ලබා දුන්නොත්, දැන් ඒ දුප්පත් දුක්ඛිත මනුස්සයගෙ ජීවිතය තවත් දුක්ඛිත වෙයිද? නෑ. ඒ පුද්ගලය ලෞකික වශයෙන් සැපවත් ජීවිතයක් ගත කරනවා. ඉතින් මේ සසරෙ ගමන් කරන ලෝක සත්වයො බොහොමයක්ම රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් කරන වැඩ පිළිවෙලකට තමයි යොමු වෙලා ඉන්නෙ. බොහෝ විටම සතර අපා ගතව තමයි කාලය ගත කරන්නෙ. කියල නිම කරන්න බැරි දුක් කන්දරාවක් විඳිනවා. තිරිසන් අපායෙ ඉඳල එකෙක් අනෙකා සමග කා කොටා ගන්නවා. එකෙක් අනෙකගෙ ආහාරය වෙනවා. ලෙඩක් දුකක් හැදුනත් කියාගන්න බෑ. පෙනි පෙනී, වෙන සතෙක් තමන්ගෙ පැටවුන් ඩැහැගෙන යනවා. ඒ වගේ කර කියාගන්න බැරිව කොටසක් තිරිසන් අපායෙ දුක් විඳිනවා. මහ ගංගාවල වතුර බිව්වත් පිපාසය නිවෙන්නෙ නැතිව, මහා කඳු ගණන් ආහාර ලැබුනත් කුසගින්න නිවෙන්නෙ නැතිව, කල්ප කාලාන්තරයක් අසූචි මළ මුත්‍ර ආහාරය විදිහට අරගෙන, කිසිසේත්ම සනීප වෙන්නෙ නැති, කුෂ්ඨ දද තුවාල එක්ක තව පිරිසක් පෙරේත ලෝකවල දුක් විඳිනවා.

තවත් කොටසක් මහ විසාල ශරීර එක්ක, එකම ඉරියව්වක කොහේවත් යන්න බැරිව, කඳු හෙල් ආශ්‍රිතව අව්වට පිච්චි පිච්චි අසුර අපාවල දුක් විඳිනවා. ලෝදිය ගංගාවල පැහි පැහී, එපා කියද්දී මර ලතෝනි දෙද්දී අතපය කපල දාන, එහෙට මෙහෙට මහා ගල් පර්වතවලට ශරීරය පොඩි පට්ටම් වෙලා යට වෙවී, ගින්නෙන් පිච්චි පිච්චි, සීතලෙන් ගැහි ගැහී නොයෙක් අපාවල දුක් විඳිනවා. එතනින් මිදුන කියල ඇවිත් මනුස්ස ලෝකෙක ඉපදුනත්, එක්කො කන්න අඳින්න නැතිව දුක් විඳිනවා, සැප සම්පත් තියෙන කෙනා ඒක රැකගන්න දුක් විඳිනවා. එහෙම ප්‍රශ්නයක් නැතත් වයසට යන කොට, ලෙඩ වෙන කොට ඒ ගැන හිත හිතා දුක් විඳිනවා. ඒ මදිවට මරණය ඉදිරියේ ඒක සිහි වුනාමත් දුක් විඳිනවා, මරණ බය දැනෙනවා. ඒකත් ඉවර වෙලා ඊළඟට දේව තලයකට ගියාම ඒ නීති රීතිවලින්, පාලන ක්‍රමවලින් දුක් විඳිනවා. චුත වෙන්න වෙලාව ආවම, ලැබුන සැප සම්පත් නැති වෙයි කියන බයට දුක් වෙනවා. ඊටත් උඩ බ්‍රහ්ම තලවල එකිනෙකාගෙ මාන්නය නිසා, එයාට සම්පත් වැඩියි මට සම්පත් අඩුයි කියල හිත හිතා දුක් විඳිනවා. මේ 31 තලයෙම සත්වයෝ ඔය විදිහට නානාප්‍රකාර මහා දුක් කඳකට මැදි වෙලා තමයි ඉන්නෙ. ඉතින් ඔහොම ඉන්න කෙනෙකුට, ඔය සේරගෙන්ම මිදෙන ක්‍රමයක් මම දන්නවා, එන්න මාත් එක්ක මම පෙන්වන්නම් කියල කවුරුහරි කිව්වොත්, අර දුප්පත් දුක් විඳින මනුස්සයෙකුට මහා නිධානයක් පෙන්නුව වගේ නෙවෙයිද?

ඉතින් ඔය සියලු දුක් කෙළවර කරගන්න නිවන නම් වූ මහා නිධානය හරියටම තියෙන තැන දන්න අය ඉන්නවා. ලොව්තුරා බුදුන් වහන්සේගෙ පටන් උන්වහන්සේගෙ ආර්ය ශ්‍රාවක පරම්පරාව තමයි මේ නිධානය තියෙන තැන හරියටම දන්නෙ. ඒ උතුමන් ඇසුරෙ හිටියොත් මහා යහපතක්මයි වෙන්නෙ. ඉතින් උන්වහන්සේලා දන්නවා, අර දුක් කඳින් මිදෙන නිධානයට යන පාර. එහෙම නැත්නම් ආර්ය අෂ්ඨාංගික මාර්ගය. මේ මග ගමන් කරන හැටි අහගන්න ඕන, කියන උපදෙස් පිළිපදින්න ඕන, අනේ මම මේ දුක් කන්දරාවක් විඳිනවා, ඒකෙන් මිදෙන්න නම් උන්වහන්සේලා කියන විදිහට වැඩ කරන්න ඕන, ඒ විදිහට කටයුතු කළොත් මට නිදහස් වෙන්න පුළුවන්, උන්වහන්සේලා මගේ වැරැද්දක් පෙන්වන්නෙ, ඒ වැරැද්ද හදන්න අවවාද කරන්නෙ අවංකවමයි, ඉතින් මම ඒකට තරහ නොවී, අමනාප නොවී හිටියොත්, ඒ විදිහට අනුගමනය කළොත් නිවන නමැති මහා නිධානය මටත් ලබාගන්න පුළුවන්. එතකොට ඒක කොච්චර නුවණැති තීරණයක්ද? ඒ නිසා තමයි බුදුන් වහන්සේ දේශනා කළේ, ඒ අයට වැඩක් මිසක් කවදාවත් අවැඩක් වෙන්නෙ නෑ කියල. ඉතින් රාධ තෙරුන් වහන්සේත් සැරියුත් මහ රහතන් වහන්සේ ඇසුරෙ ඉඳල, ඒ අවවාද අනුසාසනා ඒ විදිහටම පිලිගෙන ඒ මහා නිධානය ලබා ගත්තා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාලිය - පණ්ඩිත වග්ගය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව

# චිත්ත ප්‍රසාදය මුල් කරගෙන සිදු කරන පූජාවන්ගේ වැදගත්කම

සම්මා සම්බුදු රජාණන් වහන්සේගේ අනන්ත අප්‍රමාණ වූ මහා ගුණස්කන්ධයන් සිහි කරමින්, උතුම් වූ ශ්‍රී සද්ධර්මයේ අනන්ත අප්‍රමාණ වූ මහා ගුණස්කන්ධයන් සිහි කරමින්, ඒ වගේම උතුම් වූ මහා සංඝ රත්නයේ අනන්ත අප්‍රමාණ වූ මහා ගුණස්කන්ධයන් සිහි කරමින්, පෙර බොදුනුවන්ගේ පටන්ම විවිධාකාර උපහාර පූජා සිද්ධ කරනවා. තෙරුවන් කෙරෙහි පවත්වන උපහාර පූජා ඈත අතීතයේ පටන්ම පැවත ගෙන එන බවට නිදසුන් අපදාන පාළියේ සඳහන් වෙනවා. අපදාන පාළියේ ඇති බුද්ධාපදානයේ පටන්ම අසූ මහ රහතන් වහන්සේලා ඇතුළුව තවත් සිවුපිළි-සිඹියාපත් මහ රහතන් වහන්සේලා සිය ගානක අතීත සිද්ධි පිළිබඳව සඳහන් වෙනවා. මේ මහා පිංකම් පටන් ගෙන තියෙන්නෙ ආර්ය මාර්ගය පූර්ණ කර ගන්න මුල් බැසගත්ත මුල්ම කාලයේ. අද ලෝක සම්මතයේ ආමිස පූජා කියල හිතාගෙන සිදු කරන, නමුත් සාසනය උදෙසා කරන පූජාවන්ගෙන් තමයි මේ මහා පිංකම්වල මූලාරම්භය එන්නෙ.

ලොව්තුරා සම්මා සම්බුදු පියාණන් වහන්සේලා උදෙසා, පසේ බුදුවරයන් වහන්සේලා උදෙසා, ඒ වගේම මහ රහතන් වහන්සේලා උදෙසා නොයෙක් ආකාරයෙන් දාන මාන පූජා සත්කාරයන් සිද්ධ කරල ලබා ගත්තා වූ පුණ්‍ය කුසල ශක්තිය මූලිකාරම්භය කරගෙන පටන් ගත්ත ගමනක අවසානය, මේ බුද්ධ සාසනයෙදි සිවුපිළිසිඹියාපත් අරිහත්වය ලබල කෙළවර කර ගත් බවට මහරහතන් වහන්සේලා විසින් කරපු ප්‍රකාශ අපදාන පාළියේ සඳහන් වෙනවා. මේ මුල් අවස්ථා දිහා බලනකොට බොහොම පුංචි දෙයකින් තමයි පටන් අරගෙන තියෙන්නෙ. සමහර අවස්ථාවල ගොපලු දරුවෙක් වෙලා වැල්ලෙ වැලි ගොඩක් එකතු කරල, එතැනට මලක් තියල චිත්ත ප්‍රසාදයෙන් පූජ කරල පටන් ගත්ත අවස්ථා තියෙනවා. ඒ ක්‍රියාව බොහොම පොඩි දෙයක් විදියට පෙනුනට පොඩි දෙයක් නෙවෙයි. සංකේතාත්මකව හරි යම් දෙයක් පූජ කරල, එහෙම නැත්නම් නාම මාත්‍රයකට හරි ගුණයකට හරි ගරු කළා නම්, කිසිදාක අපතෙ යන්නෙ නෑ. ඒ කළ දේ කවදා හෝ දවසක අරිහත්වයට පත් වෙන්න ශ්‍රාවක පාරමිතාවක ඇරඹුමක් වෙනවා. ඒ ඇරඹුමෙන් පටන් ගෙන කල්ප ගානක් ගිහිල්ල හරි සාසන මාර්ගයන් මුණ ගැහෙන්නත්, සාසන පිං දහම් කරගන්නත් හේතු වෙනවා. ඒ වගේම ආයුස, වර්ණ, සැප, බල, පටිභාන නුවණ කියන කාරණා ලැබෙන්නත් හේතු වෙනවා. එහෙම පටන් ගෙන පූර්ණ කර ගෙන ඇවිත්, කල්ප ගානකට පස්සෙ සාසනයක් මුණ ගැහිල බුදු පියාණන් වහන්සේ නමක් වැඩ ඉන්න කාලයක සිවුපිළිසිඹියාපත් අරිහත්වයට පත් වෙන්නත් ඇරඹුම වෙන්නෙ අර මුලින්ම සිදු කරපු උපහාර පූජාවන්. බෝසත් උත්තමයන් වහන්සේලා, අග්‍ර



ශ්‍රාවක, මහා ශ්‍රාවක උත්තමයන් වහන්සේලා ඒ ඒ තත්ත්වයන්ට පත් වෙන්න පාරමිතා පුරන අවධිවල සිදු කරපු විසාල පිංකම් තියෙනවා.

එක අවස්ථාවක බුදුන් වහන්සේ, තමන් වහන්සේ බෝසත් කාලයේ වේළාම කියල බ්‍රාහ්මණයෙක් වෙලා හිටපු අත්භවයක සිදු කරපු මහා දානමය පූජාවක් ගැන අනේ පිඬු සිටුතුමාට විස්තර කළා (වේළාම සූත්‍රය). රත්තරන් පිරවූ රිදී තැටි අසූ හාරදාහක්, රිදී පිරවූ රත්තරන් තැටි අසූ හාරදාහක්, ඇතුන් අසූ හාරදාහක්, අසුන් හා රථ අසූ හාරදාහක්, අසූ හාරදාහක් ස්ත්‍රීන් හා වස්තුව ආදී වශයෙන් පූජා කළ බවත් ධර්මයේ සඳහන් වෙනවා.

රහතන් වහන්සේලා තම තමන්ගෙ ආර්ය මාර්ගය පටන් ගැනීමට මූලික වෙච්ච සිද්ධීන් විස්තර කරල තිබුණත්, ඔබ වහන්සේගෙ ඒ වගේ සිද්ධියක් ගැන දැන ගන්න ලැබිල නෑ කියල, එහෙම සිද්ධියක් දේශනා කරන්න කියල වරක් ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේගෙන් ඉල්ලීමක් කළා. ඊට පිළිතුරු වශයෙන්, උන්වහන්සේ චක්‍රවර්තී රජ කෙනෙක් වෙලා හිටපු අවස්ථාවක මහා පිංකමක් විදියට මනෝමය මහා දානයක් දුන්න හැටි විග්‍රහ කරපු බව අපදාන පාළියේ සඳහන් වෙනවා. මනෝමය දානයක් කියන්නෙ මනසින් මවා ගෙන සිදු කරන දානයක්. ඒ මනෝමය දානය විදියට සියළු රන් රිදී, මුතු මැණික් මනෝමය වශයෙන් එකතු කරල ලෝකෙ කිසිම දාක හදන්න බැරි විසාල මාළිගාවක් ඒ රන් රිදී මුතු මැණික්වලින් මනෝමය වශයෙන් හදල බුදු, පසේ බුදු, මහ රහත් කියන විසාල ආර්යන් වහන්සේලා පිරිසක් මනෝමය වශයෙන් වඩම්මවල (සැබෑ වශයෙන් කිසිදා කළ නොහැකි දෙයක්) විසාල දානයක් මනෝමය වශයෙන් දීල තියෙනවා. ඒ ආකාරයෙන් ඒ බෝධි සත්ත්ව අවස්ථාවෙදි කරපු මනෝමය දානයේ පින කොච්චරද කියනව නම්, එතැන් පටන් අත දිගු කරන සැණින් මහ විසාල ලැබීමක් එන්න පටන් ගත්ත බවත්, භවයක් භවයක් පාසා නැත යන වචනයක් අහන්න නැති වෙන්න තරම් ලැබීම් එන්න පටන් ගත්ත බවත් ධර්මයේ සඳහන් වෙනවා.

ඇත්තටම එහෙම වෙන්නෙ හේතුවක් ඇතුව. බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා, පිනට බිය වෙන්න එපා කියල. ඒත් අද සමහරුන්ට මේක හරියට තෝර ගන්න බැරුව පිනට බිය වෙන අවස්ථා තියෙනවා. ''පිං කරල වැඩක් නෑ, ඕක නිවන් මග නෙවෙයි, පිං කළොත් සසර දිග් වෙනවා'' මේ ආදී වශයෙන් නොයෙක් අය විවිධ මත හිසේ දරාගෙන මූලාවට පත් වෙලා එක එක දේවල් කියනවා. මා භික්කවේ පුඤ්ඤානං භායිත්ත, සුඛස් සේතං භික්ඛවේ අධි වචනං පුඤ්ඤං කියල බුදුන් වහන්සේ දේශනා කළේ, මහණෙනි පිනට බිය වෙන්න එපා, මේ පින කියන්නෙ සැපයට කියන තවත් නමක් කියල පෙන්වල පිං කිරීමේ වැදගත්කම පෙන්වල දෙන්න. ඒ වගේම බුදු පියාණන් වහන්සේ සුමනා සූත්‍රයෙදි පෙන්වල දෙන්නෙත්, සුමනාවනි දන් දිය යුතුමය, පිං කළ යුතුමය, දෙව් වූවන්ටත් මිනිස් වූවන්ටත් ශ්‍රමණ ☞

වුවත්තත් පින උපකාරී වේ කියල. එහෙම පැහැදිලිව දේශනා කරල තියෙද්දිත්, බුද්ධ වචනය පිළිගන්නෙ නැතුව සමහරු විවිධාකාරයෙන් වැරදියට අවබෝධ කරගෙන විවිධ දෘෂ්ටිගත වෙනවා.

''පිං කරල වැඩක් නෑ, සසර දිග් වෙනවා. ඕක නිවන් මග නෙවෙයි, ඒ නිසා ඕව පැත්තක තියල ප්‍රඥාව වඩන්න'' මේ විදියට ඇතැම් උදවිය කියනවා. ධර්මානුකූලව හිතල බලනව නම්, සසර දිග් වෙන මගක් බුදුන් වහන්සේ වඩන්න කියයිද කියල ටිකක් කල්පනා කරල බලන්න ඕන. පිං කිරීම සසර දිග් වෙන වැඩක් නම්, කවදාවත් බුදුන් වහන්සේ පිං කරන්න කියන්නෙ නෑ. සසර දිග් වෙන්නෙ අවිද්‍යාවයි, තණ්හාවයි නිසා. එහෙම නැතුව පිං දහම් කරන නිසා නෙවෙයි. අවිද්‍යාව, තණ්හාව සහ පින කියන්නෙ කාරණා තුනක්. ඒවායෙනුත් අවිද්‍යාව සහ තණ්හාව කියන්නෙ අත්වැල් බැඳ ගත්ත කාරණා දෙකක්. හරියට හෙවනැල්ල වගෙයි. අවිද්‍යාව කොතැනද තණ්හාව එතැන. පිං කටයුතු කරන කොට තණ්හාව උපනිශ්‍රය කරගෙන පිං කරන්නත් පුළුවන්, යහපත් දේ උදෙසා පිං කරන්නත් පුළුවන්. තණ්හාවෙන් පිං කරන කොට පුඤ්ඤාභි සංඛාර (දාන, සීල, භාවනාමය වූ කාමාවචර කුසල චේතනාව) වැඩෙනවා. යහපත් දේ උදෙසා නිවනට හිත පිහිටුවාගෙන පිං කරනකොට ඒක පුඤ්ඤ සංඛාරයක් මිසක් පුඤ්ඤාභි සංඛාරයක් නොවෙන්නත් පුළුවන්. ඒ කියන්නෙ සසර ගමනට හේතු නොවෙන්නත් පුළුවන්. නමුත් බලාපොරොත්තු නොවුණත්, උපන් උපන් තැන සැප සම්පත් ලැබෙන්නත් ඒ පින හේතු වෙනවා.

ඉතිං මේ පිනට එහෙම ස්වභාවයක් තියෙනවා. ඒ නිසා මේ පුණ්‍ය කටයුතු කිරීම අවශ්‍යයි. ඒ පුණ්‍ය කටයුතු කරන්නෙ නැත්නම් කවදාවත් මනුස්සයෙක් නිවන් මග තුළින් මේ පැවැත්ම තුළ ඉන්නෙ නෑ. නිවන් මග කියන්නෙ රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය තුළින් කෙළවර කරන මගක්. ඒකෙ ප්‍රතිඵලය වෙන්නෙ, පංචස්කන්ධය සදහටම සහමුලින්ම බිඳිල යන දවසක ලබන ස්කන්ධ පරිනිර්වාණය. ක්ලේශ පරිනිර්වාණය කරන්නයි ආර්ය මාර්ගය වඩන්නෙ. එතකොට ස්කන්ධ පරිනිර්වාණය ඒකාන්තයෙන්ම සිද්ධ වෙනවා. සියළු දුකෙන් නිදහස් වෙනවා. එහෙනම් ක්ලේශ පරිනිර්වාණය කර ගන්න රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය සිදු කරන්න සදහම් මෙනෙහි කරන්න ඕන. ඉතිං මේ සදහම් මෙනෙහි කරන්න හැම දෙනාටම පුළුවන්ද කියල ටිකක් හිතල බලන්න ඕන.

මීට පෙර අවුරුදු දහස් ගානක අතීතය දිහා බැලුවම, බණ අහල ඉවර වෙනකොට අරිහත්වයට පත් වෙච්ච උත්තමයන් ඉඳල තියෙනවා. බණ අහල ඉවර වෙනකොට අනාගාමී තත්වයට පත් වෙන්න පුළුවන් උත්තමයන් ඉඳල තියෙනවා. කාලයාගේ ඇවෑමෙන් ඒ වගේ උත්තමයන් පහළ වීම බොහෝ කොටම අඩු වෙලා තියෙනවා. මලියදේව මහ රහතන් වහන්සේ, සුළුගුළු උපාසකතුමා වගේ උත්තමයන් මීට අවරුදු දාහකට එහා කාලයක වැඩ ඉඳල තිබුණත්, අද එහෙම උත්තමයන් ගැන අහන්න දකින්න ලැබෙන්නෙ නෑ. ඒකට හේතුවක් තමයි ප්‍රතිපත්ති පුරා ගන්න තියෙන හැකියාව අඩු වෙලා තිබීම. නමුත් ඒක ඇත්තටම බහු හේතුකව සිද්ධ වෙන දෙයක්.

දැන් කෙනෙකුට කියන්න පුළුවන්, නොසැලකිල්ල නිසා එහෙම මාර්ගඵල ලාභීන් අඩුවෙලා කියල. නමුත් සැලකිල්ලක් නැතිකමම නෙවෙයි මේකට



හේතු වෙන්නෙ. සැලකිල්ල කොච්චර තිබුණත් ඒකට අවශ්‍ය පරිසරයත්, පසුතලයත් ගොඩ නැගෙන්න ඕන. එහෙම පරිසරය, පසුතලය ගොඩ නැගුනෙ නැත්නම්, කොච්චර මහන්සි වෙලා සැළකිලිමත් වෙලා මාර්ගය වඩා ගන්න උත්සාහ කළත් නිෂ්ඵල වෙන්න පුළුවන්. යම් අයෙක් අහේතුකව, ද්විහේතුකව උප්පත්තියක් ලැබුවොත් කොච්චර උත්සාහ කළත් ඒ අත්භවයෙදි ඒ පුද්ගලයට නිවන් අවබෝධ කරගන්න බෑ. ත්‍රිහේතුකව ඉපදුනත් (අලෝභ, අද්වේශ, අමෝහ සිතකින් පටිසන්ධියක් ලැබීම), ත්‍රිහේතුක උත්කෘෂ්ඨ, මධ්‍යම, ඕමක ආදී ලෙස බෙදුණත්, එයින් ඉහළම සිත්වලින් උපන් උත්තමයන්ට තමයි මහා ඥාන පහළ වෙන්න හේතු ශක්තිය ලැබෙන්නෙ. ඒ අයට හොඳ ආයුසයක්, වර්ණයක්, සැපයක්, බලයක්, නුවණක් (පටිභාන) ලබන්න හේතු ඔක්කොම තියෙනවා. ඒ නිසා එහෙම හේතු තියෙන අයට නිවන් මග වඩා ගන්න පහසුයි. යම් කෙනෙක්ගෙ ආයුසත් පිරිහිලා නම්, ශරීර ප්‍රබෝධයත් පිරිහිලා ගියා නම්, කායික මානසික සුවය නැතුව වෙහෙස වෙලා ඉන්නවනම්, සිහි කල්පනා කරන කොට කලන්තෙ එනව නම්, සරල දෙයක්වත් තේරුම් ගන්න බැරි අවස්ථාවක් ආව නම් ආයුසයෙන්, වර්ණයෙන්, සැපයෙන්, බලයෙන්, නුවණින් පිරිහෙනවා. එහෙම අවස්ථාවක් ආවම මේ ධර්මය කොච්චර විද්‍යමානව තිබුණත් අවබෝධ කර ගන්න බැරි වෙනවා.

එක අවස්ථාවක මහධන සිටුවරයා සහ දේවිය නොසැලකිලිමත්කමින් මේ ගිහි ජීවිතය ගත කරල, අවසානයෙදි සිටු මාළිගා සියල්ල පැරදිලා අත් හැර දාල හිඟා කන්න සිද්ධ වුණා. ලොව්තුරා බුදුන් වහන්සේ වඩින වෙලාවක මේ යුවළ දැකල උන් වහන්සේ මෙහෙම කියනවා. ''මහණෙනි, බලන්න අර සිටු යුවළ නොසැලකිලිමත්කම නිසා මහ මග හිඟා කන හැටි. මේ සිටුවරයා ළමා කාලෙදි මහණ වුණා නම් අරිහත්වයට පත් වෙනවා, සිටු දේවිය ඒ කාලයේම මහණ වුණා නම් අනාගාමී තත්වයට පත් වෙනවා. සිටුවරයා තරුණ කාලෙදි මහණ වුණා නම් අනාගාමී වෙනවා, සිටු දේවිය සකෘදාගාමී වෙනවා. සිටුවරයා මැදි වයසෙදි මහණ වුණා නම් සකෘදාගාමී වෙනවා, සිටු දේවිය සෝතාපන්න වෙනවා. ඒත් දැන් ඔවුන් හොඳටම වයසට ගිහින්. ඒ නිසා දැන් කිසිම මාර්ග ඵලයක් ලබා ගන්න පුළුවන් මට්ටමක නෙවෙයි ඉන්නෙ. මහණෙනි, පිරිහීමේ හැටි බලන්න, ප්‍රමාද වීමේ දෝසය බලන්න'' මේ විදියට බුදුන් වහන්සේ පෙන්වා දෙනවා.

දැන් මේ වගේ අවස්ථාවක විශේෂයෙන් සැලකිල්ලට ගන්න ඕන කාරණයක් තියෙනවා. ඒ කියන්නෙ ලොව්තුරා බුදු රජාණන් වහන්සේ නමක් වැඩ ඉඳලත්, උතුම් වූ ශ්‍රී සද්ධර්මය විද්‍යමානව තිබිලත්, උතුම් වූ මහා සංඝ රත්නය වැඩ ඉඳලත්, එකම අත් භවයක් තුළ මුල් අවස්ථාවෙදිම (ළමා කාලයෙදි) අරිහත්වයට පත් වෙන්න හැකියාවක් තිබිලත්, තරුණ කාලය වෙනකොට අනාගාමී වෙන්න හැකියාව තිබිලත්, මැදි වයස වෙනකොට සකෘදාගාමී වෙන්න හැකියාව තිබිලත්, ආර්ය මාර්ගය අහලකටවත් එන්න හැකියාව ලැබුනෙ නෑ. එහෙම වුණේ නිවනට උපනිශ්‍රය වෙන හේතු සාධක වන ආයුසය, වර්ණය, සැපය, බලය, පටිභානය කියන කාරණා වයසට යනවත් එක්කම පිරිහුණ නිසා. එහෙනම් **යම් කෙනෙකුට ආර්ය මාර්ගය වඩා ගන්න හේතු තිබුණත්, ශාරීරික දුබලතාවයක් එක්කම ඒ අවස්ථාව නැතිවෙලා යනවා. මේ ආයුසය, වර්ණය, සැපය, බලය, පටිභානය කියන දේවල් නිවන් අවබෝධ**

**කර ගන්න පසුතලය සකසන නිසා, නිවන් දකින්න අත්‍යවශ්‍ය සාධක වෙන නිසා, මේවා ලබා ගන්න නම් පිං දහම් කටයුතු කරන්නම ඕන.** ඒ සඳහා ඊට සුදුසු මහා දානමය පූජා, උපහාර පූජා ආදිය සිද්ධ කරන්න ඕන. සාසනය කෙරෙහි ඇතිවෙන චිත්ත ප්‍රබෝධය සහ ප්‍රසාදය වගේම, තෙරුවන් කෙරෙහි ඇතිවෙන චිත්ත ප්‍රබෝධය සහ ප්‍රසාදය විසාල වශයෙන් නිවනට හේතු වාසනා පහළ කරනවා. එහෙම චිත්ත ප්‍රබෝධය, ප්‍රසාදය ඇතිව පිං දහම් කටයුතු කළොත් තමයි ආයුසය, වර්ණය, සැපය, බලය, පටිභානය ලැබෙන්න හේතු වෙන්නෙ.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, දානයක් නොදී නිකං චිත්ත ප්‍රසාදය ඇති කරගත්තට එහෙම ලබන්න පුළුවන්ද කියල. බුදුන් වහන්සේ පෙන්වා දෙන විදියට ඒ සඳහා මුල් වෙන පළවෙනි කාරණය වෙන්නෙ චිත්ත ප්‍රසාදය. ඒකට හොඳ උදාහරණයක් තමයි මට්ටකුණ්ඩලී කතා වස්තුව. අදින්නපුබ්බක බමුණා තමන්ගෙ මියගිය පුතාගෙ මිනී වළ දිහා බලාගෙන අඬමින් ඉන්න කොට, මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයා මිනිස් වෙසකින් ඇවිත් අදින්නපුබ්බක කරපු වැඩේට නිග්‍රහ කරල, තමන් තමයි ඒ මට්ටකුණ්ඩලී පුතා කියල පෙන්වල දුන්නට පස්සෙත්, දානයක් දෙන්නෙත් නැතුව, සිල් සමාදන් වෙන්නෙත් නැතුව, දෙව් ලොවට ගියේ කොහොමද කියල අදින්නපුබ්බක බමුණා මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයාගෙන් අහනවා. බුදුන් වහන්සේ දැකල හිත පහදවා ගත් පමණින්ම දිව්‍ය ලෝකයේ උපදින්න හේතු වාසනා ලැබුණු බව මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයා කාරණය පැහැදිලි කරල දුන්නා. ඊට පස්සෙ අදින්නපුබ්බක බමුණා බුදුන් වහන්සේ ළඟට ගිහින් ඒ ප්‍රශ්නයම අහනවා. එතකොට බුදුන් වහන්සේ, තමන්ගෙ පුතාගෙන් ඒ ගැන දැන ගත්තෙ නැද්ද කියල ඇහුවම, ඒකෙ ඇත්ත නැත්ත දැන ගන්න ආපු බව අදින්නපුබ්බක බමුණා බුදුන් වහන්සේට සැල කරනවා. දැන් මෙතැනින් පැහැදිලි වෙනවා, චිත්ත ප්‍රසාදයේ තරම තමයි පිනට මූලික වෙන්නෙ කියල.

ඒ වගේම තමයි අනේ පිඬු සිටුතුමා ජේතවනාරාමය නිම කරල පූජා කරන්න හත් මුතු පරම්පරාවක ධනය වියදම් කළා. ඒත්, එක කහවනුවක්වත් ඒ සඳහා පූජ නොකරපු එක දුගී මනුස්සයෙක්, ජේතවනාරාමය පූජා කරන අවස්ථාවෙදි මහා චිත්ත ප්‍රසාදයකින් ප්‍රබෝධයකින් සන්තෝස වුණා. මුගලන් මහ රහතන් වහන්සේ තව්තිසා දෙව් ලොවට වැඩම කළ අවස්ථාවක, ජේතවනාරාමය වගේම එක්තරා රිදී විමානයක් දැකල, දේවතාවන්ගෙන් අහනවා ඒක කාගෙද කියල. අනේ පිඬු සිටුතුමා, බුදුන් වහන්සේට ජේතවනාරාමය පූජ කරන අවස්ථාවෙදි ඒ සිටුතුමාට නැගිච්ච චිත්ත ප්‍රසාදය නිසා තමයි එතුමා වෙනුවෙන් මේ විමානය පහළ වුණේ කියල දේවතාවන් පෙන්වා දුන්නා. ඊට එහායින් තියෙන අර රත්රන් විමානය කාගෙද කියල මුගලන් මහ රහතන් වහන්සේ ඇහුවම මෙහෙම පිළිතුරු දුන්නා. ''ස්වාමීනි, ජේතවනාරාමය පූජ කිරීමෙන් එක දුගී මනුස්සයෙකුට නැගුණු චිත්ත ප්‍රසාදය නිසා, ඒ පින ඒ දුගී මනුස්සයටත් අනුමෝදන් වුණා, ඒ නිසා ඒ රන් විමානය පහළ වුණේ ඒ දුගී මනුස්සය වෙනුවෙන්" ඉතිං බලන්න මේ බුදුන්, දහම්, සඟුන් කෙරෙහි ඇතිවන චිත්ත ප්‍රසාදයේ තරම පිනට මූලික වෙන හැටි. යම් පුද්ගලයෙක් සාසනය කෙරෙහි යම් මට්ටමකට චිත්ත ප්‍රසාදයක් ඇති කර ගන්නව නම් ඒ මට්ටමට ශ්‍රේෂ්ඨ වෙන පිං සිද්ධ වෙනවා.

ඉතිං මේ ආකාරයට බොහෝ පිරිසක් සම්බන්ධ වෙලා, චිත්ත ප්‍රසාදය ඇතුව කරන පිං දහම් කටයුතුවලින් නැගෙන පින, නිවනින් සසර කෙළවර කර ගන්න අවශ්‍ය පසුතලය සකසනවා. ඒ වගේම තමයි පිං කරල වැඩක් නෑ, ප්‍රඥාව වඩා ගන්න කියල කියන උදවිය වරද්ද ගන්න තවත් තැනක් තියෙනවා. ඒකට නිදසුනක් පෙන්වන්න පුළුවන්. ''ලකුණ්ට භද්දිය තෙරුන් වහන්සේ කියන්නෙ මහා ප්‍රඥාවන්තයෙක්. උන් වහන්සේ එක අත්භවයක රජ කෙනෙක්ගෙ පුරෝහිත-යෙක් වෙලා උපන්නා. දවසක් මේ රජතුමා යොදුනක් උසට චෛත්‍යයක් හදන්න බලාපොරොත්තුවක් ඇති කරගෙන, මේ පුරෝහිතයට මේ ගැන කිව්වා. ''මෙච්චර වියදම් කරල මේ තරම් ලොකු චෛත්‍යයක් හදන්නෙ මොනව කරන්නද? නුවණ තියෙනව නම් මොකටද ඔච්චර ලොකු චෛත්‍යයක්, මේක බොරු වියදමක්" මේ විදියට පුරෝහිතය රජතුමාට උපදෙස් දුන්නා. ඒ නිසා රජතුමා බලාපොරොත්තුව අඩු කරගෙන, ක්‍රමයෙන් චෛත්‍යයේ ප්‍රමාණය ගව් අටක්, ගව් හතරක්.... ආදී වශයෙන් හිතෙන් අඩු කළත්, ඊටත් වඩා කුඩාවට ඒක හදන්න කියල රජතුමාට පුරෝහිත උපදෙස් දුන්නා.

මේ විදියට චෛත්‍යයේ ප්‍රමාණය අඩු කරල, අන්තිමේදි රජතුමා හදල තියෙන්නෙ අඩි හතරක් තරම් ප්‍රමාණයේ කුඩා චෛත්‍යයක්. හැබැයි පුරෝහිත එහෙම රජතුමාට උපදෙස් දීල කර ගත්තෙ, මනුස්සයින් තුළ අප්‍රමාණව නැගෙන්න තිබුණු චිත්ත ප්‍රසාදයේ මාර්ගය වැසීමේ පාප කර්මයක් කියල දැන ගෙන හිටියෙ නෑ. ඒ කර ගත්ත පාපය නිසා පුරෝහිත අපාගත වෙලා ඔසුපත් නරකයක දුක් වින්ද බවත් ධර්මයේ සඳහන් වෙනවා. එහෙම දුක් විඳල ගෞතම බුද්ධ සාසනයෙදි බොහොම විරූපී මනුස්සයෙක් වෙලා, මිටි වෙලා, කොන්ද කුදු වෙලා, කැත වෙලා උපන්නා. හැබැයි නුවණින් අඩු වුණේ නෑ. අරිහත්වයත් ලැබුවා. නමුත් දකින දකින උදවිය උන් වහන්සේව අප්‍රිය කරන්න ගත්තා. කෙනෙකුට උන් වහන්සේත් එක්ක කතා කරන්න හිතෙන්නෙ නැති තරම් අප්‍රිය වුණා. දවසක් බුදුන් වහන්සේ අනෙක් භික්ෂූන් වහන්සේලාට ලකුණ්ට භද්දිය තෙරුන් වහන්සේව පෙන්වල, මෙහෙම විරූපීව මිටි වෙලා කැත වෙලා හිටියට, සම කළ නොහැකි බොහොම දක්ෂතා ඇති අප්‍රමාණ සමාධියක් ඇති කෙනෙක් බව පෙන්වල දුන්නා. නුවණ වර්ණනා කිරීම නිසා එහෙම පිං ලබපු බවත්, අර කර ගත්තා වූ පාපය නිසා අපාගත වෙලා පසුව විරූපී අත්භවයක් ලබපු බවත් පෙන්වා දුන්නා. ඉතිං මේ වගේ අවස්ථා හොඳින් වටහ ගන්න ඕන. ප්‍රඥාව විතරක් තිබුණට ඒකට අවශ්‍ය පසුතලය සකස් කර ගන්නත් මේ පිං උපකාරී වෙන බව තේරුම් ගන්න ඕන.

එහෙනම් විසාල පිරිසක් එකතු කරගෙන සිදු කරන මේ වගේ විසාල පිං කටයුතු, උපහාර පූජා කවද හරි දවසක ඒ චිත්ත ප්‍රසාදය ඇතුව සහභාගී වෙන සියළුම දෙනාට ආයුසය, වර්ණය, සැපය, බලය, පටිභානය කියන කරුණු ගොඩ නැගෙන්න හේතු වෙනවා.

බෝධි සත්වයන් වහන්සේ පාරමිතා පුරන කාලයේ, බුදු පියාණන් වහන්සේ ඇතුළු ලක්ෂයක් මහ රහතන් වහන්සේලාට දීපු දාන කොච්චරද කියනව නම්, ලක්ෂයක් බැගින් සිවුරු, පිරිකර, ආරාම ආදිය පූජ කරල ලබා ගත්ත පුණ්‍ය ශක්තිය ගැන ධර්මයේ සඳහන් වෙනවා. ඒ කියන්නෙ ඒ වගේ මහා දානමය පූජා, උපහාර පූජා කිරීම ලොව්තුරා බුද්ධත්වයටත් උපනිශ්‍රය වෙලා තියෙනවා. ඉතිං විසාල පිරිසක් එකතු වෙලා කරන උපහාර පූජාවලදි, ඒ වගේ මහා චිත්ත ප්‍රසාදයක් ඇතුව අත ගහපු කෙනෙක් ඉන්නව නම්, සමහර විට පූජාව කරපු උදවියටත් වඩා පුණ්‍ය ශක්තියක් රැස් කර ගන්න පුළුවන්කම තියෙනවා. ඒ කරන පූජාවන් දැකල හිත පහදවා ගත් සැණින් ඒක අප්‍රමාණ කාලයක් යහපතට හේතු වෙනවා. ඒ වගේම සැනසිල්ලෙ නිවන් මග පාද ගන්නත් හේතු වෙනවා. ඒ නිසා නිතරම බුදුන්, දහම්, සඟුන් උදෙසා සිදු කරන උපහාර පූජාවන්ට මූලිකත්වය දීල කටයුතු කරන්න ඕන.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ප්‍රසාද් ද සිල්වා**
**ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය**

# යහපත් දිවියකට

**4 වන කොටස**

සිවු අරිසස් (චතුරාර්ය සත්‍යය) දැකීමෙන් පහළ වන ඥාන තමයි දුක්ඛෙ ඥානං... ආදී වශයෙන් පසුගිය කලාපයෙන් පෙන්නුවෙ. සම්මා දිට්ඨි කියන්නෙ ''සං'' කියන එකතුවෙන් (පංච උපාදානස්කන්ධයෙන්) මිදෙන මග දැකීම. සසර දුකෙන් මිදෙන මග දැක්ක නම් නිවන් දැක්ක වෙනවා. නිවන් දකිනව කියන යෙදුමට වඩා, නිවන් අවබෝධ කරගන්නවා කියන යෙදුම වඩා සුදුසුයි කියල සමහර තැනකදි අහන්න ලැබෙනවා.

දම්සක් පැවතුම් සූත්‍රය කියන්නෙ බුදුන් වහන්සේගෙ පළමු දම් දෙසුම. එතනදි උන් වහන්සේ දේශනා කරනවා, ආයස්මතෝ කොණ්ඩඤ්ඤස්ස විරජං වීතමලං ධම්ම චක්ඛුං උදපාදි - ආයුෂ්මත් කොණ්ඩඤ්ඤට රජස් රහිත වූ රාගාදී කෙළෙස් මළයන්ගෙන් වෙන් වූ දහම් ඇස උදා වුනා කියල. උදා වුනේ ඇසක් නම් ඒ ඇසෙන් දකිනවා. දහම් ඇස උදා වෙලා සිවු අරිසස් දැක්කා. ඒ බව බුදුන් වහන්සේ දිවැසින් දැකල, අඤ්ඤාසිවත භෝ කොණ්ඩඤ්ඤ - ඒකාන්තයෙන් කොණ්ඩඤ්ඤ දැන ගත්තා කියල උදාන වාක්‍යයක් ප්‍රකාශ කළා. එදා කොණ්ඩඤ්ඤ තවුසා සෝවාන් වුනා විතරයි. සිවු අරිසස් දැකීමම නිවන් දැකීම නිසයි බුදුන් වහන්සේ ඒ විදියෙ උදාන වාක්‍යයක් දේශනා කළේ. ඒ දැකපු නිවන පූර්ණ වෙලා අරිහත්වයට පත් වුනේ අනත්ථ ලක්ඛණ සූත්‍ර දේශනාව ඇසීමෙන්. ධම්ම චක්ඛුං උදපාදි... දහම් ඇස උදා වුනා කියල දේශනා කරල තියෙන්නෙ බුදුන් වහන්සේ. ඒකට ඊට වඩා සුදුසු අදහසක් දෙන්න මේ තුන් ලෝකෙ වෙන සමතෙක් නෑ.



හැබැයි කෙනෙකුට දහම් ඇස පහළ වුනා නම්, ඒක තව කෙනෙක් විසින් අනුමාන වශයෙන් මිසක් එල්ල කරලම කියන්න පුළුවන්කමක් නෑ. මොකද ආසය අනුශය ඥානය, ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥානය ආදී ඥාන නැත්නම් අහවලාට දහම් ඇස පහළ වුනා කියල තව කෙනෙකුට එල්ල කරලම කියන්න පුළුවන්කමක් නෑ. එල්ල කරලම කියන්න නම් අවබෝධය හරියටම දකින්න ඕන. ඒ සඳහා අර කියන ඥාන තියෙන්න ඕන. එහෙම නැතිව අහවලාට කෙළෙස් බිඳුනද, අවබෝධය ලැබුනද, ප්‍රඥාව ලැබුනද කියල වෙනත් කෙනෙකුට කියන්න බෑ. නමුත් ඒ පුද්ගලයා කියන බණක් අහල, ඒ තුළින් අවබෝධ කර ගත්ත බවට කියන විස්තරවලින්, අනුමාන වශයෙන් දැන ගන්න පුළුවන් මේ අවබෝධය ලබපු කෙනෙක්ගෙ ළකුණු තමයි කියල. හැබැයි එහෙම අනුමාන කරල කියන්න පුළුවන් වෙන්නෙත්, තවත් අවබෝධය ලබල තියෙන කෙනෙකුට විතරයි. රහතන් වහන්සේ නමක් තවත් දහම් අවබෝධය ලබපු කෙනෙක්ව දැන ගන්නෙත් ඒ විදියට. එහෙම නැතිව කවදාවත් හිතට හිත තියල, මේ හිත අහවල් ඵලයට පත් වෙච්ච හිතක් කියල දැන ගන්න බෑ. අරිහත් ඵල හිතක් තවත් අරිහතුන් වහන්සේ නමකටවත් එල්ල කරල කියන්න බෑ. නමුත් අනුමාන කරන්න පුළුවන්. හැබැයි අනුමානය වරදින්නෙ නෑ. නමුත් එල්ල කරල කියනවයි කියන්නෙ වෙනම එකක්. ඒ වගේ එල්ල කරල ඒකාන්තයෙන්ම කියන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට විතරයි.

අද වැඩි දෙනෙක් නිවන් දකිනව කියන්නෙ අරිහත් ඵලය ලැබීමට. නිවන් දකිනව කියනවට වඩා නිවන අවබෝධ කරනවා කියන යෙදුම වඩා සුදුසුයි කියල ඒ අය හිතන්නෙ ඒ නිසා. උදා වුන දහම් ඇසින් දැක්කෙ, යං කිඤ්චි සමුදය ධම්මං සබ්බන්තං නිරෝධ ධම්මන්ති කියන කාරණය. යම් කිසි හට ගන්නා ස්වභාවයක් ඇත්ද, ඒ සියල්ල නැසෙන ස්වභාව ඇත. ''හට ගන්නා'' කියන කාරණයත් තේරුම් ගන්න ඕන. ගහක ගෙඩියක් හට ගන්නව කියල හිතුවොත්, ඒක එකවරම සිදුවන දෙයක් නෙවෙයි. මල් කැකුළක් මෝදු වෙලා, ඒක වැඩිල මල පිපිල, පරාග පෝෂණය වෙලා, ඒකෙන් කුඩා ගෙඩියක් හැදිල, ටිකෙන් ටික මෝරල විසාල ගෙඩියක් හට ගන්නවා. එතකොට මේ හට ගන්නවා කියන කාරණයට උදා වීමක්, වැඩීමක්, මේරීමක් තියෙනවා. සං + උදය කියන වචන දෙකේ එකතුවෙන් තමයි සමුදය කියන වචනය සකස් වෙලා තියෙන්නෙ. සතර මහා ධාතූන්ගෙ එකතු වීමකින් යමක් ගොඩනැගීමේ ක්‍රියාවලියක් සකස් වෙනව කියන එකයි සමුදය ධම්මං කියන්නෙ.

ඒ වගේම නැසෙන ස්වභාවය කියන එකත් පැහැදිලි කර ගන්න ඕන. හදිසි අනතුරකින් කැඩිල බිඳිල අතුරුදන් වෙලා යනව වගේ එකවර සිදුවන දෙයක් තමයි නැසෙනව කියන්නෙ. පොත් පත්වල නැසෙන ස්වභාවය කියල තිබුනට, නිරෝධ කියන්නෙ එකවර සිදුවන නැසීමක් නෙවෙයි. උදා වීමක්, වැඩීමක්, මේරීමක් කිව්ව ක්‍රියාවලිය, වැඩීම වෙනස් වෙලා, විපරිනාම වෙලා, දිරීමට, වැහැරීමට පත් වෙලා විනාස වෙලා යනවා. වින + ආස තමයි විනාස කියන්නෙ. වින කියන්නෙ පහත් බවට පත් වෙනවා. ආස කියන්නෙ ඇසුර. මුලින් තිබිච්ච තත්ත්වයට පත් කරන්න බැරි විදියට විපරිනාම වෙනවා. වැය වෙවී නැසෙනවා කියන එක තමයි වැනසෙනව කියන්නෙ. මෙතනදි නි + රෝධ තමයි නිරෝධ කිව්වෙ. රෝදවලින් කරන්නෙ සැරි සැරීම. නිරෝධ නම් සැරි සරන්නෙ නෑ. මේ විශ්වය තුළ දරා සිටින උදාවීමේ ස්වභාවය ඇති යම් දෙයක් ඇත්ද, ඒ සියල්ල මුලින් තිබිච්ච තත්ත්වයට පත් කිරීමේ හැකියාවක් නැති ආකාරයෙන් වැඩීම, මේරීම, දිරීම, වැහැරීම, විනාසවීම සිදු වෙනවා. යමක් වැය වෙවී නැසෙන කොට, වැය වෙන අවස්ථාවෙදිත් දුක් දෙනවා. නැසෙන වෙලාවෙදිත් දුක් දෙනවා. සංඛතයන්ගෙ උදයංගම, අත්තංගම, ආස්වාද, ආදීනව, නිස්සරණ දැකීම තමයි දහම් ඇස උදා වුනා කිව්වෙ.

වෙනත් විදිහකින් කියනවනම්, සංඛතයක් මුල් කර ගෙන සිදුවන හතර ආකාරයක සත්‍යය දැකීම තමයි දහම් ඇස උදා වුණා කියන්නෙ. සංඛතය දුකක් ලෙස දැකීම, සංඛත සමුදය දුක්ඛ සමුදය ලෙස දැකීම, සංඛත නිරෝධය දුක්ඛ ☞

නිරෝධය ලෙස දැකීම, සංඛත නිරෝධ මාර්ගය දුක්ඛ නිරෝධ මාර්ගය ලෙස දැකීමත් තමයි ඒ හතර ආකාරය. මෙතනදි නිරෝධ කිව්වම අදහස් දෙකක් තියෙනවා. උදා නොවන තත්ත්වයට පත්වීම තමයි නිරෝධ කියන්නෙ. යමක් හට ගත්ත නම්, හට ගත්තු එක ගෙවුනම නැවතත් ඒ තත්ත්වය උදා වෙන්නෙ නෑ. ඒකත් නිරෝධයක්. යමක් මතුවටත් උදා වෙන තත්ත්වය සදහටම නැති කරනව නම් ඒකත් නිරෝධයක්. යමක් සදහටම උදා නොවන තත්ත්වයට පත් කරන කෙලෙස් අනුශයත් එක්ක බිඳිල ගියා නම් ඒ නිරෝධය තමයි දුක්ඛ නිරෝධය. දැනටමත් හට ගත්තු යමක් තියේ නම් ඒක ගෙවී ගෙවී යන කොටත් නැවත ඒ තත්ත්වයම උදා වෙන්නෙ නෑ. ඒකත් නිරෝධයක්. ඒ නිසා තමයි එක අර්ථයකින්, හට ගත්තු සියල්ල නිරෝධ වෙනව කියන්නෙ. හැබැයි නිරෝධ සත්‍යය කියන්නෙ ඒ අර්ථයෙන් නෙවෙයි. හට ගත්තා වූ හේතුවක් තියේ නම් හේතුව නැවත උදා නොවන තත්ත්වයට පත්වීම තමයි නිරෝධය. ඒක දකින නුවණ තමයි නිරෝධ සත්‍යය.

දුකට හේතුව බලල ඒක අත හැරියම දුකේ නිදහස් බව දැන ගන්න නුවණක් ඇත්ද ඒක නිරෝධ සත්‍ය ඥානය. නිරෝධ ධම්මං කිව්වම එක අර්ථයක් තමයි, යමක් හට ගත්ත නම් ඒ හට ගත්තු ආකාරයෙන්ම තියෙන්නෙ නැතිව නිරුද්ධ වීම. ඒ නිරුද්ධ වීමේ ස්වභාවය නිරෝධ ධර්මතාවයක්. ඒක ලෝකයේ තියෙන හැම දේකටම උරුම දේ. ගෙවිච්ච දෙයක් නැවත හට ගන්න තත්ත්වයට එන්නෙ නෑ. ඒ හට ගත්තු දෙයක් බිඳී යාම නිරෝධ ධර්මයක්. ගෙවිච්ච එකක් නැවත හට නොගන්න ස්වභාවයක් ඇත්ද ඒක නිරෝධ ධර්මතාවයක්. ඒක වළක්වන්න බෑ. නිරෝධ ධර්මය දකින්න ලැබෙන්නෙ විද්‍යමාන වෙන වස්තුවක් ආවොත් තමයි. ඒ ආපු එක නැවත වරක් හට ගත්ත නම්, නිරෝධ වෙන ස්වභාවයක් අරගෙන තමයි හට ගන්නෙ. නිරෝධය දරා ගෙනමයි හට ගන්නෙ. ඒ කියන්නෙ ඒක ඒ ආකාරයෙන්ම තියෙන්නෙ නෑ ගෙවෙනවා. ගෙවිච්ච එක නැවත එන්නෙ නෑ. නැවත අලුත් එකක් හදන්න ඕන. හදන හදන එක ගෙවෙනවා. ඒකයි ස්වභාවය. අනික තමයි යම් කිසි ආකාරයකින් තියෙන කෙළෙස් නිරෝධ කළොත් හෝ සම්පූර්ණ උපාදානය නිරෝධ කළොත්, භව නිරෝධ වෙනවා. එතකොට ඒ සිද්ධාන්තයත් ධර්මතාවයක්. උපාදානය නිරෝධ කළොත් භව නිරෝධ වීම දැන ගැනීම නිරෝධ ඥානය.

නමුත් එතකොට මෙහෙම දේකුත් තියෙනව නේද කියල කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. අප්‍රිය අමනාප දෙයක් නම් ඒක වැය වෙන කොට සතුටුයි. වැය වෙවී ගිහින් විනාස වුනාම ඊටත් වඩා සතුටුයි. උදාහරණයක් විදියට යම් රෝගයක් හැදුනම ඒක වැය වෙනව කියන්නෙ සුව අතට හැරෙනවා. එහෙම ගිහින් වැනසුනාම රෝගය සුවයි. දැන් තිබුන අප්‍රිය අමනාපය නැතිවීම නිසයි සතුටු වෙන්නෙ. එහෙම නැතිව අමුතුවෙන් සතුටු වෙන්න දෙයක් ලැබිල නෙවෙයි. ඒ නිසා ප්‍රියමනාප, අප්‍රිය අමනාප කිසිවක් අල්ල ගෙන සැරිසරන්න සුදුසු දේවල් නෙවෙයි. ප්‍රිය මනාප, අප්‍රිය අමනාප සියල්ල උදා වෙන්නෙ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන පංචස්කන්ධයට ඇලුම් කරන නිසා, ඇලුම් කරන දේ උපාදාන කරන නිසා. ඇස - රූපය, කන - ශබ්දය, නාසය - ගන්ධය, දිව - රසය, කය - පොට්ඨබ්බය, මන - ධර්මය වශයෙන්, එහෙම නැත්නම් චක්ඛු ධාතු - රූප ධාතු, චක්ඛු විඤ්ඤාණ ධාතු.... ආදී අටලොස් ධාතු වශයෙන් හෝ උදා වෙන යම් තාක් දේ තමයි සබ්බංතං (ඒ සියල්ල) කියල කිව්වෙ. ඇස තිබුනට, රූප තිබුනට, ඒවා ස්පර්ශ වුනාට සසරක් ගොඩ නැගෙන්නෙ නෑ. ඒ ඒ රූප ස්පර්ශ සැප, දුක්, උපේක්ෂා වශයෙන් දැන ගෙන උපාදාන කර ගැනීම නිසා තමයි සංඛාර ගොඩ නැගෙන්නෙ, සසර සැරි සරන්නෙ. මේ අනුව උපාදාන කර ගෙන සසර සැරි සැරීම, දුකට හේතු වෙන බව දැන ගෙන ඒක අත හැරීමයි නිරෝධය කියන එකෙන් තේරුම් ගන්න ඕන.

කළණ මිතුරෙක් දහම් දේශනා කරන්නෙ ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවකින්. ඒ නිසා දේශනාවෙන් නිකුත් වන සද්දයත් එක්ක දයානුකම්පාවෙන් නිකුත් වෙන සුදු කිරණත් එකතු වෙලා, දහම අහන අයට වටහා ගැනීමේ විශේෂ උපනිශ්‍රයක් ඇති වෙනවා. මගඵල ලාභී උතුමන්ගෙ මේ චිත්ත කිරණ, දහම යෝනිසෝමනසිකාරයෙන් ශ්‍රවණය කරන අය කරා ගලා යෑම ලෞකික උපමාවකින් කියනව නම්, කෙනෙක් තමන් ළග තියෙන දෙයක් විසි කළාම, අල්ල ගන්න සැදී පැහැදිලා බලා ඉන්න කෙනෙක් ඒක අහකට විසි වෙන්න දෙන්නෙ නැතිව නොවරදවා අල්ල ගන්නව වගෙයි. මේ අනුව තේරුම් ගන්න ඕන, තමන් ළග තියෙන දේට වඩා වැඩි දෙයක් කෙනෙකුට දෙන්න බෑ කියල. ඒ කියන්නෙ සෝතාපන්න නොවුන කෙනෙකුට, තමන් දහම කොච්චර හොඳින් දැන ගෙන හිටියත් තවත් කෙනෙක් සෝතාපන්න වෙන විදියට දහම දෙන්න බෑ. එතකොට අරිහත්වයට පත් නොවූ පෝට්ඨිල හාමුදුරුවන්ගෙන් කමටහන් ලබා ගෙන එදා හිටපු අනික් භික්ෂූන් වහන්සේලා අරිහත්වයට පත් වුනේ කොහොමද කියල කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. ඒ භික්ෂූන් වහන්සේලා, මග ඵල ලබපු වෙනත් භික්ෂූන් වහන්සේ නමකගෙන්, එහෙම නැත්නම් බුදුන් වහන්සේගෙන් දහම් අහල සෝවාන් වෙලා තමයි එදා පැවිදි වුනේ. දහම් ඇස උදා වුනාට පස්සෙ අවබෝධ ඥානයෙන් දැකපු නිවන, තවත් මග ඵල නොලබපු කෙනෙක්ගෙන් බණ අහල වුනත් පූර්ණ කර ගන්න පුළුවන්. සෝතාපන්න වෙන්න මගඵල ලාභියෙකුගෙන්ම බණ අහන්න ඕන නෑ කියන පිරිසකුත් වර්තමානයේ ඉන්න නිසයි මේ පැහැදිලි කිරීම කළේ.

ලියපු දෙයක් කියවා බැලීමෙන් අවබෝධ කර ගන්නෙ තම තමන්ගෙ ප්‍රඥාවට හසු වන තරමට. බුදුන් වහන්සේ දහම් දේශනා කරල තියෙන්නෙ, තං සුනාථ සාධුකං මනසි කරෝථ.... කියල මුලින් දහම් අවවාදයක් දීල. හොඳින් අහ ගන්න, හොඳින් අහ ගත්තම දහම් ඇස උදා වෙනවා. උදා වුන දහම් ඇසින් දෙවනුව ඒ දහම ප්‍රඥාවෙන් මෙනෙහි කරනවා. ඒක තමයි අනු පිළිවෙල. හැබැයි සාධුකං මනසි කරෝථ කිව්වම, මනා සේ මෙනෙහි කරන්න කියලයි අද වෙන කොට දළ වශයෙන් කියන්නෙ. නමුත් ඊට වඩා ගැඹුරු අර්ථයක් මෙතන තියෙනවා. කායේන සංවරෝ සාධු - සාධු වාචාය සංවරෝ - මනසා සංවරෝ සාධු - සාධු සබ්බත්ත සංවරෝ කියන කොට කයින්, වචනයෙන්, මනසින් කියන සියලු ආකාරයෙන් සංවර වෙලා මෙනෙහි කළොත් තමයි සාධුකං මනසි කරෝථ වෙන්නෙ. එහෙනම් ඒ ඉන්න මොහොතෙ සංවර පාරිසුද්ධිය තියෙන්න ඕන. ඒකට ඉන්ද්‍රිය සංවරයත් එක අතකින් අවශ්‍යයි. මනා සේ කියන කොට, ඒ මොකක්ද කියල විග්‍රහ වෙන්න ඕන.

අද හුග දෙනෙක් මනා සේ මෙනෙහි කරනව කියල තමන්ට ඕන දෙයක් කියනවා. එතකොට තුවක්කුවක්, මිසයිලයක්, බෝම්බයක් හදන හැටිත් විග්‍රහ කරන කොට ඒකත් හොඳට අහගෙන ඉඳල මනා සේ මෙනෙහි කරන්න පුළුවන් කියල කෙනෙක් කියන්න පුළුවන්. ඒ තමයි ලෞකික අදහස. නමුත් ඒක මනා සේ මෙනෙහි කිරීමක් වෙන්නෙ නෑ. මොකද ඉන්ද්‍රිය අසංවරය නිසා. යමක් කරන්න ඉන්ද්‍රිය යොමු කළේ රාග, ද්වේශ, මෝහ සහගතව නම් ඒ පුද්ගලය අසංවර ඉන්ද්‍රියන් සහිතයි. ඒ නිසා සාධුකං කියන අවස්ථාව එතන නෑ. නමුත් අර මනා සේ මෙනෙහි කරන්න කියන වචන පෙළ ඒ විදියට ලෞකිකත්වය තුළින් ගත්තොත් මේ අදහස පටලවා ගන්නවා. එතකොට මනා සේ මෙනෙහි කරන්න කාට නම් බැරිද කියල ප්‍රශ්නයක් එනවා. ඒ නිසා මේ මනා

සේ කියල කිව්වෙ සාදුකං කියන අදහසටමයි. ඒ කියන්නෙ ඉන්ද්‍රිය සංවරත්වයෙන් යුක්ත වෙන්න ඕන කියන එක. තවත් විදියකින් කියනව නම්, ඇලෙන ගැටෙන පැත්තට ඉන්ද්‍රියන් යොමු නොකර ඉඳීම. ඒ සඳහා ඉන්ද්‍රිය භාවනාව තියෙන්න ඕන. ඉන්ද්‍රිය භාවනාවෙන් සාදුකං වෙන හැටි දැන ගන්න ඕන. එතකොට තමයි දහම් පිහිටන්නෙ. එදා වැඩ හිටපු එක හාමුදුරු **නමක් කපටිකමට බණ ඇහුවෙ, බණ කියන අයව විවේචනය කරන්න. ඒ වෙලාවෙදිත් උන් වහන්සේ බලාපොරොත්තු වුනේ, මොනවද මේ කියන්නෙ කියල හොඳට අහ ගන්න, මනා සේ අහ ගන්න. හැබැයි වැඩේ හරි ගියේ නෑ, තේරුම් ගන්න බැරි වුණා. මොකද මනා සේ අහනවයි කිව්වට සාදුකං කියන එක නෑ. අර කියපු විදියට ඉන්ද්‍රියන් සංවර කරගෙන ඇලීමේ ගැටීමේ දෙකෙන් තොරව බණ ඇහුව නම් තමයි මනා සේ** ඇහුව වෙන්නෙ.



බුදු කෙනෙක් පහළ නොවුන කාලවලත්, ඊට කලින් පහළ වුන බුදුවරු දේශනා කරපු සිවු අරිසස්, අරි අටඟි මග, සත්ත බොජ්ජංග වගේ දහම් පද, වේද පොත් පත්වල සඳහන් වෙලා තියෙනවා. යහපත් දේ හොඳයි, අයහපත් දේ නරකයි කියල පිළිගන්න ඒ කාලවල ඉන්න පිරිස, ඒ අයගෙ දැනුම මට්ටමින් ඒවාට ලෞකික යහපත් අර්ථ දෙනවා. පෙහෙවස් සමාදන් වෙනවා. ඒ සිල් පදවලට දෙන්නෙත් ලෞකික අර්ථ. ඒ නිසා ඒවායින් ලැබෙන්නෙ ලෞකික යහපතක්. අදටත්, ''මේ කරන ලද කුසලානිසංසයන් නිර්වාණාවබෝධයටම හේතු වාසනා වේවා...'' ආදී වශයෙන් භාවිතා වෙනවා. බොහෝ කාලයක් මේ වචන මේ විදියට භාවිතා වීම නිසා සැබෑ දහම සැඟවිලා. මතු කරල දෙන යහපත් උතුමන් ඒවා මතු කරල දුන්නම විමර්ශනය කරල සත්‍යය තේරුම් අරගෙන කටයුතු කරනව නම් ඒක බොහෝ දෙනාගෙ යහපත පිණිස හේතු වෙනවා.

**නිවන් දකින්න මඟඵල ලාභියෙකුගෙන්ම බණ අහන්න ඕන නෑ කියන කාරණය සත්‍යයක් නම්, අබුද්ධෝත්පාද කාලවලදිත් නිවන් දකින්න පුළුවන් වෙන්න ඕන.** අඩු තරමෙ මේ සාසනය අවුරුදු 5000 ක් කියන කාලයට පසුවත් අතුරුදන් නොවී පවතින්න ඕන. අඹු දරුවන් පෝෂණය කරන, වතු පිටි ඉඩ කඩම් ගේ දොර තියෙන කාසාව කන්ඨක කියන කහ නූලක් පළඳින අවසාන සංඝයා වහන්සේගෙන් පසුවත් මේ ලෝකය මේ විදියටම පැවතීගෙන යනවා. ලෝක විනාසයක් වෙන්නෙ නැති නිසා දහමත් තියෙනවා.

තමන්ගෙ ප්‍රඥාවට අනුව වැටහෙන ප්‍රමාණයයි, කිසියම් ධර්මතාවයක් පිළිබඳ න්‍යාය දන්නා කෙනෙකුට වැටහෙන ප්‍රමාණයයි අතර වෙනසක් තියෙනවා. ලෝ වැඩ සඟරාවෙ කවියක එන ''වස වා දෙව් ලොව යන මංතරයේ'' කියන කවි පදය අනුව යම් කෙනෙක්, දෙව් ලොව යන මංතරය වැහිල කියන තේරුමක් මේ කවි පදයෙන් ගන්න පුළුවන්. නමුත් ධර්මය දන්න වැඩිහිටියෙක් මංතරයේ කියන පදය එක වචනයක් හැටියට සටහන් වෙලා තිබුණට, මං කිව්වෙ මග / පාර කියන අර්ථයෙන් බව තේරුම් ගන්නවා. දෙව් ලොව යන පාර තද කරල වහල, එහෙම නැත්නම් දෙව් සැප වළකල කියන අර්ථය වටහ ගන්නවා.

මග ඵල නොලැබුවත් දහම් දෙසන අය ලෝකයා කෙරෙහි දයානුකම්පාවෙන්ම දහම් දෙසනවා වෙන්න පුළුවන්. ඒ නිසා තමයි දහම් අහන පිරිස යහපත අයහපත දැන ගෙන, ගුණ ගරුක සමාජයක් සකස් වෙලා තියෙන්නෙ. නමුත් ඒ අයගෙන් විහිදෙන චිත්ත කිරණත්, ආර්ය උතුමන්ගෙන් විහිදෙන චිත්ත කිරණත් එක සමාන නෑ. යම් කිසි ආර්ය උතුමෙක් අධිෂ්ඨාන කරල ශ්‍රව්‍ය දෘෂ්‍ය මාධ්‍යයකින් හෝ දේශනා කරන දහම සජීවීව ඇසීමෙනුත්, ඒ විහිදෙන චිත්ත කිරණවල ප්‍රබලතාවය නිසා මඟඵල ලබන්න හැකියාව තියෙනවා. මඟඵල නොලබපු අය දේශනා කරන දහම අඩු තක්සේරුවක් කිරීම මේකෙන් අදහස් කරන්නෙ නෑ. ඒ දහම සමාජ යහපතට ඉතාම වටිනවා. නමුත් ඒ නිවනට නොවන බවයි මේ පැහැදිලි කළේ. ළදරු පන්තිය, පස්වෙනි වසර, සාමාන්‍ය පෙළ... ආදී පන්ති සමත් වෙන්නෙ නැතිව උපාධියක් එකවර කරන්නෙ නෑ. එතකොට ඒ ඒ වසරවලදී උගන්වන ගුරු පරපුරත් ගුරු පූජා ලැබීමට සුදුසු වන අයමයි. හැබැයි හැමදාම ළදරු පන්තියට ඉගැන්වීමෙන් උපාධිය ගන්න බෑ.

ප්‍රබල චිත්ත කිරණත් එක්ක එන දහම ඇසීමෙන් ප්‍රඥා ඇස පහළ වෙනවා. අනුබෝධ ඥානය කියන්නෙ ශ්‍රවණය අනුව පහළ වෙන ඒ ඥානයට. ඒ අහපු දහම ප්‍රඥාවෙන් නැවත නැවත සිහි කරල විමර්ශනය කරල වැඩි දියුණු කර ගත් ප්‍රඥාවෙන් පහළ වෙන ඥානයට තමයි අවබෝධ ඥානය කියන්නෙ. එතනදි නිවන අවබෝධ කරගන්නවා කියන කාරණය කියන්න පුළුවන්. ඒ කියන්නෙ දැකපු නිවන පූර්ණ කරගන්න අවස්ථාවක්. ඒ විදියට නැවත නැවත සිහි කරල විමර්ශනය කරල තහවුරු කර ගත් දහම, එදිනෙදා ජීවිතයෙදි කරන කියන කටයුතුවලදි ක්‍රියාත්මක වෙන ආකාරය නුවණින් දැකල ප්‍රත්‍යක්ෂ කර ගැනීමෙන් ඇති වන ප්‍රඥාවෙන් තමයි ප්‍රත්‍යක්ෂ ඥානය උදා වෙන්නෙ. මේ විදියට නිවන් දැකීමේ අනු පිළිවෙලක් තියෙනවා. දහම් ඇසීමෙන් අනුබෝධ ඥානයත්, ඇසූ දහම විමර්ශනය කිරීමෙන් අවබෝධ ඥානයත්, ඒ දහම එදිනෙදා ජීවිතයට ක්‍රියාත්මක වෙන ආකාරය විමර්ශනය කිරීමෙන් කෙළෙස් ප්‍රහීන කරල ප්‍රත්‍යක්ෂ ඥානයත් ලබනවා. නිවන් දකින අවස්ථාවෙදි නිවන් දකින බවත්, දහම අවබෝධ කර ගන්න අවස්ථාවෙදි නිවන දර්ශනය කරන බවත්, කෙළෙස් ප්‍රහීන කිරීමෙදි නිවන ප්‍රත්‍යක්ෂ කරන බවත් දැන් පැහැදිලියි.

යම් ප්‍රත්‍යයක් කියන්නෙ ලෝකයේ හට ගත්තු ඵලයක්. (ඒ වගේම යමකට තවත් යමක් ආධාර වීමටත් ප්‍රත්‍යයක් කියල කියනවා.) ඒ ප්‍රත්‍ය නැවත හට නොගන්න, ක්ෂය කරල දාපු නුවණක් පහළ වුනා නම් ඒක තමයි ප්‍රත්‍යක්ෂ ඥානය කියන්නෙ. ප්‍රත්‍යක්ෂ කියන එක උපරිම වෙන්න කෙළෙස් අනුශයත් බිඳෙන්න ඕන. ඒ නිසා අනුශය බිඳෙන ඥානයට කියන්නෙ ප්‍රත්‍යක්ෂ ඥානය කියල. ලෝකයේ හට ගත්තු යම් කිසි ඵලයක් යම් ඥානයකින් ක්ෂය කරන්න පුළුවන් නම්, ඒක තමයි ප්‍රත්‍ය ක්ෂය කරන ප්‍රත්‍යක්ෂ ඥානය. හැබැයි හැදිච්ච ඵලයක් ක්ෂය වීම කියන්නෙ ස්වභාවයක්. ඒක මතු මතුත් හට ගන්න ස්වභාවය නැවත එන්නෙ නැතිව, ක්ෂය කරල දාන්න පුළුවන් නම්, යම් කිසි ඥානයකින් ඒක කරනව නම්, ඒකට තමයි ප්‍රත්‍යක්ෂ ඥානය කියන්නෙ. නමුත් අද සමහරු, මම ප්‍රත්‍යක්ෂ කළා, මට ප්‍රත්‍යක්ෂ ඥානය තියෙනව කියල කියනවා. හැබැයි ඒ ප්‍රත්‍යය කියන කාරණය දන්නෙ නැතිව.

දුක පිළිබඳ ප්‍රත්‍යක්ෂ ඥානය පූර්ණ වශයෙන් ලැබුන නම් ඒ පුද්ගලය දුකෙන් ඒකාන්තයෙන්ම නිදහස්, ඒ කියන්නෙ අරිහත් ඵලය. ඒ නිසා දුක පිළිබඳ පූර්ණ ප්‍රත්‍යක්ෂ ඥානය පහළ වෙන්නෙ අරිහතුන් වහන්සේට. අනිත් අයට පූර්ණව පහළ වෙන්නෙ නෑ, එක්තරා මට්ටමකට විතරයි. උදාහරණ විදියට සතර අපාගත වෙන දුක පිළිබඳ ප්‍රත්‍යක්ෂ ඥානය සෝවාන් කෙනාට පහළ වෙනවා. කාම ලෝකයේ දුක පිළිබඳව එක්තරා මට්ටමක ප්‍රත්‍යක්ෂ ඥානය සකෘදගාමී කෙනාට පහළ වෙනවා. කාම ලෝකයේ කාම රාග පිළිබඳ ප්‍රත්‍යක්ෂ ඥානය අනාගාමී අයට පහළ වෙනවා. කාමයන් පිළිබඳ සහමුලින්ම ක්‍ෂය කර දැමීමේ ප්‍රත්‍යක්ෂ ඥානය පහළ වෙන්නෙ රහතන් වහන්සේලාට. මේ විදියට ප්‍රත්‍යක්ෂ කියන වචනයෙන් කියන්නෙ, ඒ ඥානයට ප්‍රත්‍යයේ බලය ක්‍ෂය කරන්න හෙවත් බිඳ හරින්න හැකියාවක් තියෙන බව. නැවත නැවත ප්‍රත්‍ය ගොඩ නගන මානසික බලය සහමුලින්ම බිඳ හරින්න පුළුවන්. ඒ අවස්ථාවට මහා ප්‍රාඥ කියලත් කියනවා. ඒ ප්‍රඥාව බලවත් අවස්ථාවට පූර්ණ ප්‍රත්‍යක්ෂ ඥානය කියල කියනවා.

මේ කරුණු හරි හැටි නොදැනීම නිසා, නිවන් දකින අදහසින් අද බොහෝ දෙනෙක් විවිධ භාවනාවලත් යෙදෙනවා. තව පිරිසක් අභිධර්ම පංති යනවා. උතුම් බුද්ධ පූජා, ආමිස පූජා හැටියට නම් කර ගෙන ඒවායින් නිවන් දකින්න බෑ කියනවා. නිවනක් ගැන හිතන්නෙවත් නැතිව ආස්වාද මායා ලෝකයේම සැරි සරනවට වඩා, එහෙම හෝ කරන අයට කවදා හරි නිවනට මග එළි වෙනවා. ඒ අයගෙ යහපතට මේ කාරණය තව ටිකක් පැහැදිලි කරන්න පුළුවන්. ලෝකයා අනිච්ච දේ නිච්ච හැටියට, දුක්ඛ දේ සුඛ හැටියට, අනත්ත දේ අත්ත හැටියට, අසුභ දේ සුභ හැටියට දකිනවා. තුන් ලෝකයේ ආස්වාද ගෙන දෙන යම් තාක් දේ ඇත්ද, ඒ සියල්ල කැඩිල බිඳිල විනාස වෙන, කඩල බිඳල විනාස කරන්න පුළුවන් ස්වභාවය උරුම කර ගත් දේවල්. මේ බව නොදකින නිසා අන්ධ කියල කියනවා. ඒ ආස්වාද මායාවන්ට කැමති නිසා නිවන දුරස් වෙනවා. ආස්වාදයන් නිවන ක්‍ෂය කරන නිසා ක + අම - කාම කියනවා. ඡ කියන්නෙ චිත්තය. කාමය නිසා ඇති වන සිතේ අන්ධ භාවය තමයි කාමච්ඡන්ද කියන්නෙ.

කාමච්ඡන්දය නිවන ආවරණය කරනව කිව්වෙ ඒකයි. යම් කෙනෙක් කාමයන්ගේ අසුභය දැකල, ආස්වාද වස්තු කෙරෙහි කළකිරුණ නම් අන්ධ බව නැති වෙනවා. එතනදි අනිච්ච, දුක්ඛ, අනත්ත දකිනවා. සං කියන එකතුවෙන් මිදෙන මග දැකීම සම්මා දිට්ඨි කියල මුලදිම පෙන්වා දුන්නා. මම, මගෙ කියල බැඳිල ඉන්නෙ අසාර දේවල්වලට නම්, ඒ බැඳීමෙන් වෙන්වීම නිවන් දකින මග වෙනවා. ඒ සඳහා යම් උත්සාහයක්, වීර්යක් කරනව නම් ඒක සම්මා වායාමයක්. මෙතෙක් කල් හේතු ඇතිවම සසරට බැඳිල හිටිය යම් පිරිසක් ඉන්නවා. පෙර උදව් උපකාර අර ගෙන ණය ගෙවන පිරිසත්, දහමට අනුව ජීවත් නොවීම නිසා තමන්ගෙන් වැරදි අසාධාරණ වෙලා වන්දි ගෙවන්න තියෙන පිරිසත් මේ අතරින් ප්‍රධානයි. නිවන් දකින්න නම් ණය නැති බව, වරදක් නැති බව කියන ගුණ පූර්ණ කරගන්න ඕන. ඒ කාරණයට උපනිශ්‍රය ලබා ගන්න පුළුවන් උපාය මාර්ගයක් තමයි මේ ගුණ උපහාර බුද්ධ පූජා කියන්නෙ. **පූජාවක් ආමිස හෝ ප්‍රතිපත්ති හෝ වෙන්නෙ ඒ දෙන පූජා වස්තුවලින් නෙවෙයි. පූජාව ලබන අයගෙ ගුණ මහත් තත්ත්වය සහ පූජාව කරන අයගෙ චේතනාව අනුව.** මේ පිළිබඳව පසු ගිය කලාප කිහිපයකින්ම විස්තර කළා.

අපේ ගෞතම බුදු පියාණන් වහන්සේ බෝසත් අවධියේ සක්විති රජ කෙනෙක් වෙලා ඉන්න කොට, පුණ්‍ය ඍද්ධියකින් තුන් ලෝකයේ ඇති සියලු රන් රිදී මුතු මැණික් මනසින් එකතු කරල, මනෝමය වශයෙන් මහා මන්දිරයක් මවල, ඒ මන්දිරයට බුදු, පසේ බුදු, මහරහත් උතුමන් මව මවා මඩමවල, කිසි දේකින් අඩු නැති මහා දානමාන පූජා සත්කාරයන් කළ බවත්, ඒ කාරණය බුදු බව ලැබෙන කල් මහා උපනිශ්‍රයක් වූ බවත් බුද්ධ අපදාන පාලියේ සඳහන් වෙනවා. ඒ බුද්ධ පූජාවට අනුව මනෝමය වශයෙන් මව මවා කරන පූජාවන් නිවන් දකින්න උත්සාහ කරන පිරිසට මහා උපනිශ්‍රයක් වෙනවා. පින් අනුමෝදනාව, ණය ගෙවා ගන්න භාණ්ඩාගාරයක් විවෘත කරල දෙනව වගේ මහා පිං උල්පතක් මතු කරල දෙනවා. සම්මා සතියෙන් කටයුතු කර ගන්න එක තමන් ඥානවන්තව කර ගන්න ඕන. **නූපන් කුසල් ඉපදවීම, උපන් කුසල් වැඩි දියුණු කිරීම, විදර්ශනා ඥාන වැඩීම සම්මා වායාමයට අයිති නම්, සම්මා වායාමය අරි අටඟි මගට අයිති නම්, අරි අටඟි මග වැඩීම නිවන් මග වැඩීම නම්, බුද්ධ පූජා පැවැත් වීමෙන් නිවන් දකින්න බෑ කියන්නෙ කරුණු හරි හැටි විමර්ශනය කර නොබැලීම නිසා.**

තෙරුවන් කෙරේ තියෙන ශ්‍රද්ධාව නිසා දහම් අහනවා. දහම් අහන හේතුවෙන් කුසල් අකුසල් හඳුන ගන්නවා. කුසල් අකුසල් හඳුනා ගැනීම හේතුවෙන් ප්‍රඥාව වැඩෙනවා. ප්‍රඥාව වැඩෙන කොට නීවරණ යටපත් වෙනවා. ඒ හේතුවෙන් යෝනිසෝ මනසිකාරයත්, සත් පුරුෂ - අසත් පුරුෂයන් හඳුනා ගැනීමත් සිද්ධ වෙනවා. නීවරණ යටපත් වෙලා සත් පුරුෂ (කලණ මිතුරු) ඇසුරින්, යෝනිසෝ මනසිකාරයෙන් දහම් අහන ප්‍රඥාවන්තයා නිවන් දකිනවා. මේ විදියට තෙරුවන් කෙරේ ශ්‍රද්ධාව උපදින ආකාරයෙන් බුද්ධ පූජා පැවැත්වීම නිවන් දකින මගක් වෙනවා. ඒ වගේම ශ්‍රද්ධාව නැති පිරිසට ශ්‍රද්ධා ධනය බෙදීමෙන්, බුදුන් වහන්සේගෙ මහා කරුණා ගුණයෙන් බිඳක්, බුදු ගුණ බිඳක් තමන් තුලත් වඩවා ගැනීමක් වෙනවා.

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

## පින්වතුන්ගේ දැනගැනීම පිණිසයි.

කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව දැනට රු.20/- ක මුදලකට ලබා දෙන ඇතුල් පිටු 32 කින් යුත් හෙළ බොදු පියුම දහම් සඟරාවේ පළමු මුද්‍රණයේ පිටපතක නිෂ්පාදන වියදම දළ වශයෙන් රු. 24/- ක් 25/- ක් පමණ වන අතර, පිටපතක නැවත මුද්‍රණ වියදම රු. 23.50/- කි. ඊට අමතරව නොමිලේ ලබා දීම සඳහා ද යම් කිසි පිටපත් සංඛ්‍යාවක් හැම කලාපයකින්ම වෙන් කෙරේ. එසේ වුවද අනගි කඩදාසි කොළ යොදා ගනිමින් මෙවැනි පිටු සංඛ්‍යාවකින් යුත් සඟරාවක් රු. 20/- ක් වැනි සුළු මුදලකට ලබාදීමට හැකි වී තිබෙන්නේ, පින්වතුන් විසින් දෙනු ලබන ශ්‍රම හා මූල්‍යමය ආධාර උපකාර නිසාය. මෙතෙක් මේ සත් කාර්ය ඉටු කර ගැනීම සඳහා පින්වතුන් විසින් ලබා දුන් සියලු මුදල් පරිත්‍යාග වියදම් කළේ සහ වියදම් කරනු ලබන්නේ මෙකී සඟරාව මුද්‍රණය කර බෙදා හැරීමේ දහම් කටයුතු සඳහාය. මෙතෙක් කරන ලද එකී සියලු මුදල් ආධාර යොදා ගත් ආකාරය දක්වෙන විස්තරයක් පින්වතුන්ගේ චිත්ත ප්‍රසාදය පිණිස ඉදිරියේදී පළ කෙරෙනු ඇත.

**අභයරතනාලංකාරය - 40**

# සිය දිවි නසාගත් අය පරලොව ගිහින් විඳින දුක ...



*(පසුගිය කලාපයෙන් - හිස හත් කඩකට පැළීම සම්බන්ධයෙන් සත්‍ය අත්දැකීමක්....)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

සිය දිවි නසා ගැනීම කියන්නෙ මේ වෙන කොටත් රටේ ලෝකෙ බොහෝ කතා බහට ලක් වෙච්ච කාරණයක්. ඒ සම්බන්ධයෙන් වන ධර්මානුකූල පැත්ත මේ වෙන කොට යටපත් වෙලා තියෙන නිසා අද මේ සඟරාවෙ ප්‍රධාන මාතෘකාව බවට තෝර ගත්තෙත් ඒ කාරණය. ''සිය දිවි නසා ගැනීමේ බරපතලකම දහම් ඇසින්'' කියල මේ සඟරාවෙම පළවන ඒ දහම් ලිපියේ එන දහම් කරුණු සම්බන්ධයෙන්, අභයරතනාලංකාර හිමියන්ට දැන ගන්න ලැබිච්ච අත් දැකීම් කිහිපයක් තමයි දැන් මේ ඉදිරිපත් කරන්න යන්නෙ. ඒ නිසා ඒ ලිපියත් එක්ක සමගාමීව මේ විස්තරයත් කියවා බැලීමෙන්, මේ සම්බන්ධයෙන් යම් කිසි ධර්මානුකූල අවබෝධයක් ලබා ගන්න පුළුවන්. විශේෂයෙන් උන් වහන්සේ මහණ වෙන්න පෙර ගිහි වතක ඉන්න කාලෙ, මේ සම්බන්ධයෙන් විවිධ පර්යේෂණ කරපු ස්ථානවලින් ලබාගත් අත්දැකීම් වගේම, උන් වහන්සේ සමාධියෙන් දැකල ප්‍රකාශ කරපු අත්දැකීම් කිහිපයකුත් මේ කරුණු අතර අඩංගු වෙනවා. මේ තමයි ඒ අත් දැකීම්.

සමාජයේ නිතර කතා බහ වෙච්ච විවිධ ගුප්ත සිදුවීම් සම්බන්ධයෙන් කරපු පර්යේෂණවලට මමත් ගිහි කාලෙ බොහොම උනන්දුවෙන් සහභාගි වුණා. මොකද මට ඕන වුනේ මම තනියෙන් ලබන අත්දැකීම්වලට අමතරව, ඒ කරුණුවල සත්‍යතාවය ඔප්පු කර ගන්න වෙනත් සාක්ෂි තවත් තැන්වලින් ගන්න පුළුවන්ද කියල දැන ගන්න. ඒ නිසා ඒ කාලෙ මමත් ඔය බොහොමයක් තැන්වලට විමර්ශනාත්මකව කරුණු අධ්‍යනය කරන්න ගියා. ඒ අතර සිය දිවි නසා ගැනීම් සම්බන්ධයෙන් යක්කල පැත්තෙ මහත්තයෙක් කරපු මනෝ විද්‍යා පරීක්ෂණ කිහිපයකටත් මට සම්බන්ධ වෙන්න අවස්ථාව ලැබුණා. එතනදි පුහුණු කරපු යම්කිසි කෙනෙක්ගෙ මාර්ගයෙන් මියගිය අයගෙ ගන්ධබ්බ ආත්ම ගෙන්වල සම්බන්ධ කරල යම් කිසි ආකාරයකින් කතා බහ කිරීමක් සිද්ධ කළා. ඒ විදියට සම්බන්ධ කරන්නෙත් ඒ පර්යේෂණ කරන අයගෙ පිරිසෙන්ම ප්‍රගුණ කරපු කෙනෙක් මාර්ගයෙන්. ප්‍රවාහිකාව කියල තමයි ඒ අය ඒ කටයුත්තට සම්බන්ධ කර ගත්ත කාන්තාව හැඳින්නුවෙ.

එතකොට ඒ පර්යේෂණය මෙහෙය වන මහත්තය ඒ කාන්තාවට එක්තරා කිරණ ශක්තියක් දුන්නට පස්සෙ, ඇය සම්පූර්ණයෙන් ක්‍රියාත්මක වෙලා නිද්‍රා ගත වෙනවා. ඊළඟට ඒ අය ළඟ ඉන්නවා ස්පිරිට් (Spirit) කියල හඳුන්වන තවත් භූතාත්ම / ශුද්ධාත්ම කියන කොටසක්. ඒ කියන්නෙ ඒ ගුප්ත ලෝකයේ ඉන්න ගන්ධබ්බ කොටස් අතර යම් කිසි ප්‍රධාන පෙළේ පිරිසක්. අන්න ඒ අය අතරින් කෙනෙක් තමයි අර ප්‍රවාහිකාව මෙහෙය වන්නෙ. ඒ අය ඇයගෙ ශරීරයට සම්බන්ධ වෙලා අර මහත්තයත් එක්ක කතා කරල, ඔබ ඔය පැත්තෙ ඉඳන් මෙහෙයවන්න, මම මේ පැත්තෙ ඉඳන් මෙහෙය වන්නම් කියල වැඩේ පටන් ගන්නවා.

මේ දෙන්න එහෙම කතා කරගෙන සම්බන්ධ වෙලා මෙහෙයවන්-නත් හේතුවක් තියෙනවා. මේ වැඩසටහන මෙහෙයවන ප්‍රධාන මහත්තයයි, ගුප්ත ලෝකෙ ඉන්න අර ස්පිරිට් කියල හඳුන්වන ශුද්ධ ආත්මයයි, පෙර අත් බැවේ වෙන රටක මනුස්සයො වශයෙන් ඉඳල තියෙන්නෙ. මේ දෙන්න බොහොම ළඟ යාළුවො දෙන්නෙක්. පෙර භවයෙත් එකට ඉඳගෙන මේ වගේ මනෝ විද්‍යා පරීක්ෂණ තමයි කරල තියෙන්නෙ. එහෙම ඉන්න කොට එක්කෙනෙක් (දැන් ශුද්ධාත්මයේ ඉන්න කෙනා) කියනවලු, මට මැරෙන්න ඕන කියල. ඉතින් මේ දෙන්නගෙ හිතවත්කම වැඩි කමට අනිත් කෙනා (දැන් මේ පරීක්ෂණ මෙහෙය වන මහත්තය) කිව්වලු, ඔයා මැරුනොත් එදාට මමත් මැරෙනව කියල. අන්තිමට කොහොම හරි එක දවසක් අර මැරෙන්න ඕන කියපු කෙනා නාන්න ගිහින් ආපහු ආවෙ නැතිලු. පස්සෙ එන්න පරක්කු නිසා මොකද කියල ගිහින් බලන කොට, මෙහෙම එක්කෙනෙක් ගඟට පැනල ගහගෙන ගියා කියල එතනට නාන්න ආපු පිරිසකගෙන් දැන ගත්තලු. බලන කොට ඔහු ඇඳුම් පැළඳුම් ටිකත් ගලවල තියල ගඟට පැනල මැරිල. ඇඳුම්වලින් තමයි දැන ගත්තෙ ඒ තමන්ගෙ යාළුව කියල.

ඊට පස්සෙ අනිත් කෙනත් මොකද කළේ, මටත් ජීවත් වෙලා වැඩක් නෑ කියල ක්ෂණික තීරණයකින් ගඟට පැනල මළා. ඒ විදියට ක්ෂණික තීරණයකින් දිවි හානි කර ගත්ත කෙනා තමයි ලංකාවෙ ඉපදිලා දැන් මේ පරීක්ෂණ කරන්නෙ. නමුත් අනිත් කෙනා හිත හිතා මැරෙන්න තීරණයක් ගත්තු නිසා, මස් ලේ කයක් සහිතව මනුස්ස අත්බැවක් ලබන්න බැරි වුණා. මොකද ඔහු කය එපා වෙලා තමයි සිය දිවි නසා ගත්තෙ. නමුත් අනිත් කෙනා එහෙම කළේ කය එපා වෙලා නෙවෙයි, තමන්ගෙ යාළුව මැරිච්ච නිසා හිතේ අමාරුවෙන්. ඒ නිසා ඔහු මනුස්ස අත් බැවක් ලබල නැවත ඉපදුණා. දැන් අර ශුද්ධාත්මයක ඉන්න කෙනා එතන ඉඳගෙන බලන කොට, අර තමන්ගෙ අනිත් යාළුව මනුස්සයෙක් වශයෙන් ඉපදිලා ඉන්නව දැක්කා. ඒ නිසා දෙන්නම නැවතත් අත් බැව් දෙකක ඉඳගෙන සම්බන්ධ වුණා. අර ප්‍රවාහිකාව කියන කෙනාට සම්බන්ධ වෙන්න අවස්ථාව ලැබිල, ඒ මාර්ගයෙන් තමයි අර ශුද්ධාත්මයේ ඉන්න කෙනා මේ විස්තරය කිව්වෙ. පෙර අත්බවේ දෙන්නගෙ හිතවත්කමත් එක්ක ආපු සම්බන්ධය නිසා අදත් එදා පුරුද්දට මනෝ විද්‍යා පරීක්ෂණ කරනවා. එහෙනම් අපි එදා කළා වගේ ඒ පරීක්ෂණ අදත් කරමු ☞

කියල, මම ගුප්ත ලෝකෙ ඉඳන් විස්තර කියන්නම්, ඔබ ඔය ලෝකෙ ඉඳන් මෙහෙයවන්න කියල එහෙම තමයි පරීක්ෂණ පටන් ගත්තයි කියන්නෙ.

ඒ අය ගුප්ත ලෝකෙ ඉඳල තමයි මේ විස්තර දැනුම් දෙන්නෙ. ඒ අය තමයි මියගිය අය ගෙන්වල මේ කාන්තාවගෙ ශරීරයට සම්බන්ධ කරල ඒ සියල්ලම සංවිධානය කරන්නෙ. අර ගන්ධබ්බ (අමනුස්ස) ලෝකය මෙහෙය වන්නෙ ඒ අය තමයි. ඊට පස්සෙ ඒ ප්‍රවාහිකාව හරහා මියගිය අය සම්බන්ධ කරල ඒ අයත් එක්ක කතා කරනවා. එහෙම කතා කරල ඒ අයගෙන් විවිධ විස්තර අහනවා. ඒ මළගිය ගන්ධබ්බ අවස්ථාවෙ ඉන්න අය ගෙන්නුවට පස්සෙ, ඒ අය තමන් පෙර මනුස්ස වෙලා හිටපු තැන්වල නම් ගම් ලිපිනයන් ආදී විස්තර ලබා දෙනවා. මම අහවල් ගෙදර අහවල් කෙනාගෙ අහවලා ආදී වශයෙන් නම් ගම් විස්තර ඔක්කොම කියල, ඒ ගෙදර අයට එන්න කියල දැනුම් දෙන්න කියලත් ඒ අය ඉල්ලා හිටිනවා. ඉතින් බලාගෙන ගියාම ඒ කියපු විස්තරත් 90% ක්ම හරි.

පස්සෙ මමත් දැනුවත්වම ඔය පරීක්ෂණවලට ඒ කාලෙ දිගටම බලන්න ගියා. එහෙම ගිය දවසක ඒ වගේ මියගිය කෙනෙක් තමන්ගෙ නම් ගම් විස්තර සහිතව දීල තිබුණා. ඒ ලිපිනයේ පදිංචි මියගිය අයගෙ ඥාති පිරිසත් එතනට ඇවිත් හිටියා. ඒ විස්තර දීපු අයගෙ නම් ගම් කියල, ඒ අය කවුරුවත් ඇවිත් ඉන්නවද කියල වැඩසටහන මෙහෙය වන අය ඇහුවම, අපි ඇවිත් ඉන්නව කියල පිරිසක් ඉදිරිපත් වුණා. ඊට පස්සෙ ඒ අයගෙ විස්තරය නැවතත් අර මියගිය අය ගෙන්වල ඔහු හරහා ලබාගත්තා. ඒ කරුණුවල සත්‍යතාවය පෙන්වන්න තමයි එහෙම කළේ. මමත් ඒ සිද්ධිය හොඳට බලාගෙන හිටියා.

දැන් අර ග්‍රාහිකාව හරහා මේ මියගිය අය තමන්ට වෙච්ච සිද්ධිය ඒ විදියටම කියනවා. ඒ මියගිය පුද්ගලය මැරෙන්න මොහොතකට පෙර හරකෙක් බැඳ බැඳ හිටියලු. ඊට පස්සෙ වහ බීල සිය දිවි හානි කරගන්න ගියාලු. නමුත් සිය දිවි හානි කර ගත්තට මළේ නැතිලු. ඉතින් කල්පනා කර කර හිටියලු, මෙච්චර වහ බීලත් මම මළේ නැනෙ කියල. එහෙම කල්පනා කර කර ඉඳල, දැන් ඉතින් මොනව කරන්නද පස්සෙ වෙලාවකවත් නැවත සැරයක් වහ බොනව කියල නැගිටල, හවස් වෙච්ච නිසා හරක ලිහල ගෙදර අරන් යන්න ගියාලු. නමුත් හරක ළඟට ගිහින් ළණුවෙ ගැටය ලිහන්න හදන කොට ලිහන්න බැරි වුණාලු. අතට අහු වෙන්නෙ නැතිලු. මොකද මේ පුද්ගලය දන්නෙ නෑ, තමන් වහ බීල මියගිහින් දැන් ගන්ධබ්බ තත්ත්වයේ ඉන්නව කියල. වහ බීල මැරිල ගන්ධබ්බ කයෙන් ගෙදර යන්න ඉස්සෙල්ල, හරක ලිහන්න කඹේ අල්ලන කොට අහු වෙන්නෙ නෑ. අනිත් සැරේ මොකද මට මේ වෙලා තියෙන්න කියල බැලුවලු. වට පිට බලන කොට ඔහුට පේනවලු, තමන්ගෙ ශරීරය පැත්තක වැටිල තියෙනවා. එතකොට අතන කවුද ඉන්නෙ? ඒ මමනෙ! තමන්ටම තමන් තේරුම් ගන්න බැරිව ගියාලු මොකක්ද වුනේ කියල.

දැන් ඉතින් මේ පුද්ගලය (ගන්ධබ්බය) වහ බීල මැරිලත්, මැරිල නෑ කියල තමයි තාම හිතන් ඉන්නෙ. ''මං වහ බිව්වට මැරුනෙ නෑ කය පැත්තක තිබුණා. ඒත් මට මැරෙන්න බැරි වුනානෙ, මට ජීවත් වෙලා වැඩක් නෑ මැරෙන්න ඕන, දැන් මට වහ ටිකක් හොයා ගන්න විදියකුත් නෑ, මට වහ ටිකක් දියව්.'' දැන් මේ පුද්ගලය මේ විදියට තමන්ගෙ ගෙදර උදවියට අඬ අඬා කෑ ගහ ගහ කියනවා, මට වහ කුප්පියක් ගෙනත් දියන් මැරෙන්න කියල. ඉතින් මැරෙන්න හේතුව මොකක්ද කියල ඇහුවම, මොනව හරි විස්තර ගොඩක් කිව්වා. දැන් ඒ ගෙදර උදවියත් කියනවා, මේ කිව්ව කතාව හරි කියල. හරක ගහේ බැඳල ගිහින් තමයි මේ පුද්ගලය වහ බීල තියෙන්නෙ. හැබැයි ඉතින් මස් ලේ කය මළාට ගන්ධබ්බය ඉන්නවා. දැන් ඉතින් ඒ ගන්ධබ්බ අවස්ථාවෙ ඉඳ ගෙනත් හැම වෙලේම කියන්නෙ මැරෙන්න ඕන කියල. ඒ නිසා ඒ ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙනත් මැරෙන්න ක්‍රම හොයනවා. මොකද දැඩිව හිතේ බැඳිච්ච කාරණය හිතෙන් අහක් කරන්න බෑ. ඉතින් මේ විදියට ගන්ධබ්බ ලෝකෙම කොච්චර කාලයක් ඔය තත්ත්වයේ ඉඳන් දුක් විඳින්න වෙයිද කියන්න බෑ.

ඒ වගේම මේ කරපු පර්යේෂණ බලන්න මම ගියපු තවත් අවස්ථාවක මේ වගේ තවත් සිද්ධියක් වුණා. ඒ අවස්ථාවෙදිත් ගන්ධබ්බ අවස්ථාවෙ හිටපු එක්තරා මියගිය කෙනෙක් ගෙන්නෙව්වා. ඒ ගන්ධබ්බය මෙහෙම කියනවා. ''මේ ගෙදර එවුන්ට කියන්න මට බනින්න එපා කියල. එක සැරයක් මම එල්ලිලා මැරෙන්නත් ගියා. ඒත් බැරි වුණා. මම ඊට පස්සෙ කිහිප වතාවක්ම එල්ලෙන්න හැදුවා. වැසිකිලියට ගිහිල්ලත් එල්ලිලා මැරෙන්න හැදුවා. ඒත් බැරි වුණා. මුන්ට මේව කියනවට වැඩිය හොඳයි, මට එල්ලිලා මැරෙන එක. මුන් මට තවත් බනිනවා. මේක මට මහ වදයක්. බනින කොට මම එල්ලිලා මැරෙන්න ගියා. ඒත් මැරුනෙ නෑ. ඕකුන්ට කියන්න මට බනින්න එපා කියල.''

ඉතින් මේ පුද්ගලය ඒ ලෝකෙ ගිහිල්ලත් අර විදියටම එල්ලිලා මැරෙන්න හුඟක් උත්සාහ කරල බැරි වුනාලු. හැබැයි ඒ ලෝකෙ කියල වෙනසක් ඒ ගන්ධබ්බයට දැනෙන්නෙ නෑ. ගන්ධබ්බය මැරුනෙ නැති නිසා මේ ලෝකෙ ඉඳෙද්දි වගේම ඒ ලෝකෙදිත් එල්ලිලා මැරෙන්න බලනවා. ඒ නිසා ඔහු කියනවා, එල්ලිලා මැරෙන්න ඊට පස්සෙත් කිහිප වතාවක්ම උත්සාහ කළා ඒත් මැරුනෙ නෑ කියල. දැන් ඉතින් මේ පුද්ගලය කොච්චර කාලයක් මේ දුක විඳවන්නද? අර මානසිකත්වය දැන් වෙනස් කරන්න බෑ. හැම වෙලේම පැසව පැසව ඒ අදහසම මතු කරනවා. ගන්ධබ්බ වෙලත් සිය දිවි හානි කර ගන්නමයි බලන්නෙ. නමුත් මස් ලේ කය එල්ලිලා මැරුණට ගන්ධබ්බ කය එහෙම මැරෙන්නෙ නෑ. ඒ භවයට හිමි කර්ම ශක්තිය තියෙන කල් විඳවනවා.

ඔය වගේ මම ගියපු තවත් දවසක ප්‍රේම සම්බන්ධයක් නිසා සිය දිවි හානි කර ගත්තු දෙන්නෙක් ගැනත් ඒ අය කරපු පරීක්ෂණයක් බලන්න මට පුළුවන් වුණා. ඒ ප්‍රේම සම්බන්ධයට ගෙදරින් ඉඩ දුන්නෙ නැති නිසා, මේ දෙන්නම එකට අත් වැල් බැඳගෙන සින්දුවකුත් කියාගෙන ගලක් පල්ලට පැනල තමයි මැරිල තිබුණෙ. ඉතින් ඒ පිරිමි ළමයගෙ ගන්ධබ්බ අවස්ථාව ගෙන්වල අර විදියටම ප්‍රශ්න ඇහුවා. මේ දෙන්න මැරෙන කොට එක්තරා ප්‍රේම ගීයක් කියාගෙන තමයි මැරිල තිබුණෙ. දැන් මේ මියගිය අය ඇඟට ගන්න ප්‍රවාහිකාව, ඒ කියපු සින්දුවත් ඒ විදියටම ලස්සනට කියනවා. හැබැයි ඇය සාමාන්‍ය තත්ත්වෙදි එහෙම හොඳ කට හඬක් තියෙන, සින්දු කියන්න පුළුවන් කෙනෙක් නෙවෙයි. නමුත් ආවේස වුනාම ඒ හැකියාව ලැබෙනවා.

දැන් මේ කාරණයෙ ඇත්ත නැත්ත බලන්න මියගිය අයගෙ ගෙවල්වල අයත් ඇවිත් හිටියා. ඒ අය කියනවා, මේ ප්‍රවාහිකාව විදියට කටයුතු කරන කාන්තාව ඇත්ත වශයෙන්ම ඒ අය ගැන මුකුත් දන්න කෙනෙකුත් නෙවෙයි, නමුත් ඒ කියන විස්තරය හරියටම හරි කියල. ඉතින් මේ දෙන්නම එකට අත් වැල් අල්ල ගෙන ගලක් පල්ලෙන් පැනල මැරුණත්, දැන් කියනවා අපි මැරුනෙ නෑ කියල. ''අපි එහේ තමයි හිටියෙ. අපි දන්නෙ නෑ අපිට මෙතනට එන්න කිව්වා. අපි මෙතනට ඇදිල ආවා.'' ඒ කියන්නෙ මේ ගන්ධබ්බයො දෙන්න ගන්ධබ්බ ලෝකෙ ඉන්න කොට, මේ පර්යේෂණ කරන අය එක්තරා ක්‍රමයකට ඒ මියගිය පිරිමි ළමයට ආමන්ත්‍රණය කළාම ඒ ස්ථානයට ඇදිල ආවා.

දැන් මේ අය මැරිල කියල පිළිගන්නෙ නැති නිසා, ඒ පර්යේෂණය මෙහෙය වන මහත්තය ඒ අයට ඒ කාරණය මේ විදියට පැහැදිලි කරල දුන්නා. ඒකට ඒ අය කියන්නෙ පුනරුත්ථාපනය කරනව කියල. ''දැන් ඔයාල මැරිලනෙ ඉන්නෙ. බලන්න මේ ඔබ ඉන්න ශරීරය දැන් වෙන කෙනෙක්ගෙ. දැන් ඔය මල්ලි ඉන්නෙ ස්ත්‍රියක්ගෙ (ප්‍රවාහිකාව) ශරීර ගත වෙලා. ඔබ එදා මළා. ඔබ දැන් ඉන්නෙ සියුම් ආත්ම භාවයක, සියුම් ශරීරයකින්. දැන් ඔබේ ශරීරයේ ඉඳගෙන නෙවෙයි ඔය කතා කරන්නෙ, වෙන කෙනෙක්ගෙ ශරීරය ඇතුළෙ ඉඳගෙන. මේ වගේ සනීභවන මස් ලේ කයක් ඔබටත් ඉස්සර තිබුණා. දැන් ඔබ ඒකෙන් අහක් වෙලා ඉන්නෙ. ඔබට එදා කොණ්ඩෙ තිබුනද? මට කොණ්ඩයක් තිබුනෙ නෑ. හොඳයි දැන් අල්ලල බලන්න කොණ්ඩෙ තියෙනවා.'' දැන් මේ මියගිය පිරිමි ළමය පිටිපස්සෙන් අල්ලල බලල, මට ලැජ්ජාවෙ බෑ, කතුරක් දීපල්ල කොණ්ඩෙ කපාගන්න කියල කෑ ගහනවා. මොකද ප්‍රවාහිකාවගෙ කොණ්ඩය තමයි අල්ලන කොට අහු වෙන්නෙ. පස්සෙ මේ මියගිය පිරිමි ළමයට හුඟක් වෙලා විස්තර කරල කිව්ව, ඔබ මල්ලි කෙනෙක්, ගැහැනු කෙනෙක් නෙවෙයි, ඔබ මේ කාන්තාවගෙ ඇඟට අරගෙන තියෙන නිසා තමයි කොණ්ඩෙ තියෙන්නෙ කියල. ඒ විදියට හුඟක් විස්තර කිව්වම තමයි ඒ මියගිය පිරිමි ළමය ඒ කාරණා ටික පිළිගෙන යටහත් වෙන්න ගත්තෙ.

එතකොට මේ අය සිය දිවි හානි කර ගත්තු සිද්ධිය ගැන දන්න ඒ ප්‍රදේශයේ පිරිසකුත් ඒ විස්තරය තහවුරු කළා. ඒ අය කියනව මේ දෙන්න මැරිච්ච තැන තවමත් සමහර දවස්වල රෑට අර සින්දුව කියනව ඇහෙනවලු. ඊට පස්සෙ අඳෝනාවක් ඇහෙනවලු. මොකද මේ දෙන්නගෙ ප්‍රේම සම්බන්ධයට ගෙදර අය අකමැති වෙච්ච නිසා දෙන්නම සින්දුවක් කියාගෙන අත්වැල් අල්ලගෙන තමයි ගලෙන් පහළට පැනල මැරිල තිබුණෙ. ඒක මහ විසාල ප්‍රපාතයක්. දැන් ඉතින් රෑට අර සින්දුව කියනව, ඒ ප්‍රදේශයේ සමහර මිනිස්සුන්ටත් ඇහිල තියෙනවා. ඊට පස්සෙ ටික වෙලාවකින් මර ළතෝනියක් ඇහෙනවලු. ඒ කියන්නෙ මේ දෙන්න අර ගල පල්ලට පනින්න ඉස්සෙල්ල කියාගෙන ගියපු සින්දුව, දැන් ඒ ලෝකෙ ඉඳගෙනත් අර විදියටම අත්වැල් අල්ලගෙන අර ගලින් පහළට පනින ගමන් කියනවා. ඒත් එක්කම පෙර ආපු වේදනාවට නගපු අඳෝනා හඬ දැනුත් අර විදියටම නගනවා. ඒක තමයි ඒ ඇහෙන්නෙ. නමුත් ඉතින් කොච්චර පැනල කෑ ගැහුවත් මැරෙන්නෙ නෑ. නිකං දුක් විඳින එක විතරයි වෙන්නෙ. පැනල බලන කොට මැරිල නෑ. දෙන්නම නැවතත් ඉන්නවා. ඉතින් ඔය විදියට කොච්චරවත් අත්වැල් අල්ලගෙන සින්දුව කියාගෙන පනිනවා, විලාප තියනවා. ඒකම මැව් මැව් එනවා. හැබැයි ඉවරයක් නෑ. ඒ තමයි කර්ම වේගයක හැටි.

එතකොට මේ සිය දිවි නසා ගැනීම් මේ මනුස්ස ලෝකෙදි විතරක් නෙවෙයි, ගුප්ත ලෝකෙදිත් නැවත නැවත සිද්ධ වෙනවා. හැබැයි ඒ සිය දිවි හානි කරගන්න හැමෝටම නෙවෙයි. නමුත් බොහෝ පිරිසකටම ඕක තමයි සිද්ධ වෙන්නෙ. ඉතින් ඒ වෙලාවෙදි විසාල පීඩනයක් එනවා. ඒ වගේම මනුස්ස ලෝකෙදි සිය දිවි නසා ගැනීමක් නොවී, වෙනත් ක්‍රමයකින් මියගිහින් ගන්ධබ්බ ලෝකෙ ඉන්න අයත් තමන්ට එන ප්‍රශ්නවලට මුහුණ දෙන්න බැරිව සිය දිවි නසාගත් අවස්ථා තියෙනවා. මට



අත්දකින්න ලැබිච්ච ඒ වගේ සිද්ධියක් තමයි මේ.

ඒ කාලෙ මම මහණ වෙන්න ඉස්සර එක්තරා ප්‍රදේශයක නැවතිලා සාසනික කටයුතු කර ගෙන ඉන්න කොට තමයි මේ සිද්ධිය වුණේ. ඒ ස්ථානයේ අපි නතර වෙලා හිටපු ඉඩමක් තිබුණා. ඒ සාසනික කටයුතු කර ගෙන ඉන්න කොට ඒ ඉඩම අයිති මහත්තය අපිට පොරොන්දු-වක් වුනා, ඒ සීමාවෙ පර්චස් 10 ක් මේ කටයුත්ත කර ගෙන යන්න ඔප්පුවකින් ලියල දෙනව කියල. මම බොරුවක් නෙවෙයි මේ කියන්නෙ, කිව්වොත් කිව්වමයි කියල ඒ කාරණය සහතිකත් කළා. මොකද එහෙම පරිත්‍යාග කරනව නම් අපිට ඒ ස්ථානයේ මොනව හරි ඉදිකිරීමක් වගේ දෙයක් කරන්නත් පුළුවන්. ඒකට හේතුව තමයි සමහර දවස්වලට අපි ඒ ස්ථානයේ කටයුතු කරන කොට ඒ පිරිස් අහනවා, වැසිකිලි ආදී මොනව හරි පහසුකම් හදන්න ඕන, ඒ වගේ දේවල් කරමුද කියල. එතකොට මම කිව්වා, මේ ඉඩම අයිති අය කැමති නම් එහෙම කරන්න පුළුවන්, හැබැයි මේ පිනට වෙන් කරන මුදලින් නම් එහෙම කරන්න බෑ කියල. මොකද එහෙම කරනව නම් ඒකට වෙන් කරපු පොදු ඉඩමක් තියෙන්න ඕන. එතකොට මේ ඉඩම පොදු නෑ, පුද්ගලිකයි. පුද්ගලික ඉඩමක සාසනික මුදල්වලින් ඉදිකිරීමක් කළොත්, ඒ සාසනික වැඩ කටයුතු කෙරෙන කල් විතරක් ඒක එහෙම තියෙයි, ඊට පස්සෙ ඒක පුද්ගලික කටයුත්තකට යොදා ගත්තොත් ගැලපෙ-න්නෙ නෑ. මොකද සාසන මුදල් තමයි මේ වියදම් කරන්නෙ. ඒ නිසා ඉඩම සාසනික කටයුතු වෙනුවෙන් වෙන් කරන්නෙ නැත්නම් මුකුත් හදන්න බෑ කියල මම කිව්වා. සාසනික කටයුතු කරන්න දෙන්න ඒ අය කැමති නම් ඕන දෙයක් හැදුවට කමක් නෑ, මොකද එහෙම කළාට පස්සෙ කවද හරි ඒක විහාරයක්, පූජනීය ස්ථානයක් බවට පත් කරන්න පුළුවන් කියල මම කිව්වා.

දැන් ඒ ඉඩම අයිති මහත්තය, ගේට්ටුවක් දාමු ... ආදී වශයෙන් එක එක කතා කියනවා. ඉතින් මම කිව්වා, මොනව කළත් මෙතන පුද්ගලික තැනක්, සාසනික මුදල්වලින් එහෙම කරන්න බෑ කියල. සාසනය උදෙසා හෝ තුනුරුවන් උදෙසා නම් ඒ ඉඩම් කොටස දෙන්නෙ, ඒක ඊට ගැලපෙන තැනක් බවට පත්කරන්න ඕන. ඒ නිසා කවුරු හරි එහෙම ඉඩම් කොටසක් දුන්නොත් මම කවද හරි ඒක පන්සලකට දෙනවා, එහෙම නැත්නම් ගැලපෙන විදියකට පූජනීය ස්ථානයක් හදන්න දෙනව මිසක් වෙනත් වැඩකට යොදා ගන්නෙ නෑ කියලත් මම කිව්වා. නමුත් මේ ඉඩම අයිති මහත්තයටත් කොහොම හරි ඕනකම තිබුනෙ, අපි හරහා හොඳ ලස්සනට ගේට්ටුවක් එහෙම දාල වත්තට ඇතුළු වෙන තැන හොඳට හදා ගන්න. දැන් මම අර විදියට කිව්වම ඒකට අවස්ථාව නැති නිසා තමයි මේ මනුස්සය විස්වාසය තහවුරු වෙන්න අර විදියට කිව්වෙ. සහතික වශයෙන්ම මේ පර්චස් 10 ලියල දෙනව දෙනවමයි මගේ වචන දෙකක් නෑ කිව්වා. මොකද එතකොට ඒ වචනය විස්වාස කරල, මම අර ඉදිකිරීම් ටික හදන්න පටන් ගන්න කියන නිසා. දැන් මම දන්නව මේ මනුස්සය එන්නෙ මොකටද කියල. ඒ කියන්නෙ මුලින්ම ඉඩම ලියල වෙන් කරල දෙන්නෙ නැතිව, කට වචනයකට එතන ඉදිකිරීම් හැදුවට පස්සෙ ඕන නම් ඉඩම නොදී ඉන්නත් පුළුවන්. ඒ නිසා මම කිව්වා, දැන් ඉතින් මහත්තය ඉඩම දෙනව කියල තුන් වතාවක්ම සහතික කරල

☞

කිව්වනෙ, ඒ නිසා ඒක දූන් සම්මතයිනෙ කියල. එතකොට නැවතත් කිව්වා, සහතිකයි වචන දෙකක් නෑ කියල.

ඔහොම කියන කොට ඒ ස්ථානයේ හිටියා ගුප්ත ලෝකෙ අමනුස්ස පිරිසක්. අමනුස්ස කිව්වට මනුස්ස ගන්ධබ්බයො. මම දූනුවත්වම මට පෙනිච්ච හැටියට ඒ අතරෙ හිටපු එක්කෙනෙකුට මේ ඉඩමෙ පර්චස් 10 කට වෙනම අයිතියක් තිබුණා. ඒකෙ හිමිකම තිබිච්ච කෙනා තමයි මැරිල ගිහින් දූන් මේ ගන්ධබ්බ පිරිස අතරෙ ඉන්නෙ. හැබැයි මේ අමනුස්සය කියන්නෙ, මළාට තවමත් ඒක එයාට අයිතියි කියල. ඒක ලියල දීල නෑ, ඉතින් මම මළාට පස්සෙ අයිති වෙච්ච හිමිකමක් තමයි අනික් අයට තියෙන්නෙ, ඒ නිසා ඒ පර්චස් 10 මගේ කියල කිව්වා. දූන් මේ ගුප්ත ලෝකෙ අමනුස්සය කියනව, මගේ කොටස අද පටන් සාසනයට නිදහස් කරනව කියල. අන්තිමට ඔහු සාසන භාරයක් වෙලා මම මේක නිදහස් කරනව කියල පොරොන්දු වුණා. ඊට පස්සෙ එයාගෙ පොරොන්දුවත් හරි නිසා, සාදුකාර දීල බොහොම චිත්ත ප්‍රසාදයක් ඇති කර ගත්තා. දූන් ඉතින් මටත් හොඳ අවස්ථාවක් තමයි අහු වුනේ. මොකද මේ ඉඩම හිර කරගෙන හිටිය කෙනෙක් සාසනය වෙනුවෙන් ඒක නිදහස් කළා.

දූන් ඊට පස්සෙ දවසෙ අර ඉඩම අයිති මහත්තය ඇවිත් මට කියනවා, මම එදා ඉඩම දෙන්නම් කියල එහෙම කිව්වට මට එහෙම එක පාරටම තීරණ ගන්න බෑ, මම විවාහ වෙච්ච කෙනෙක්නෙ දරුවො දෙන්නෙකුත් ඉන්නවනෙ, ඉතින් දරුවන්ටත් මේකෙ අයිතිය තියෙනව කියල. එහෙම කියල එක පාරටම මට එහෙම තීරණ දෙන්න බෑ කිව්වා. ඉතින් මනුස්සය කලින් අර විදියට පොරොන්දු වුනාට, පස්සෙ ඒ තීරණය වෙනස් කළා. දූන් එතකොට අර අමනුස්සය ඒක අහගෙන ඉඳල මෙහෙම කියනවා. ''ඇයි සැරයක් මම පෙනී හිටල කිව්වනෙ මම මේක බුද්ධ සාසනයට පූජ කරල ඉවරයි කියල. මම සාදු කියලත් කිව්වනෙ. ඒ අදහස මම ආයෙ වෙනස් කරන්නෙ නෑ, කිව්වොත් කිව්වමයි. ආයෙත් මම මේ පොළවෙ අඩිය ගහන්නෙ නෑ'' දූන් ඉතින් මේ අමනුස්සය මෙහෙම කිව්වම මම ඇහුව, දූන් ඉතින් මොකද කරන්නෙ කියල. මම කර ගන්න දේ මම දන්නව කියල ඒ ළඟ තිබිච්ච මහ කැළෑවකට රිංග ගත්තා. ඊට එහා ලොකු වල් දෙල් ගස් 2 ක් තිබුණා. ඊට පස්සෙ මේ අමනුස්සය බෙල්ලෙ වැළලා ගන්න එක්තරා වැලක් ඇද ගත්තා. මොකද අවස්ථාවෙ හැටියට කොහොම හරි ඒ වගේ දේවල් මැවිලත් එනවා.

දූන් මේ අමනුස්සය ඒ වැලත් අර ගෙන අර වල් දෙල් ගහට නැග්ගා. ගුප්ත ලෝකයේ සියුම් කයකින් තමයි මේ සේරම කරන්නෙ. හැබැයි ඔහුට ඒක සියුම් කියල තේරෙන්නෙ නෑ. ඉතින් ඔහොම ගහට නැගල බෙල්ලට අර වැළ දාගෙන පැන්නා. දූන් ඉතින් ගොඩ දාපු මාළුවෙක් දඟලනව වගේ ගහේ අත්තක එල්ලිලා දඟලනවා, මැරෙන්නෙ නෑ. මාළුවෙක් බිලී කොක්කකින් පටලවල ගත්තම දඟල දඟල ඉන්නව වගෙයි මේ ගන්ධබ්බයගෙ බෙල්ලට තොණ්ඩුව හිර වෙලා දඟලනවා. දවස් 7 ක් යන කල්ම ඔය විදියට මාරාන්තිකව දූගලුවා. දඟලල වෙලාවකට නතර වෙනවා. නැවතත් පැය 1/2 ක් විතර ගිහින් ටිකක් දඟලල නතර වෙනවා. නැවතත් දඟලනවා. දවස් 7 ක් යනකල්ම ඔය විදියට දඟල දඟල සැහෙන දුකක් වින්දා. ඊට පස්සෙ අර ශරීරය එහෙම්ම දිය වෙලා ගිහින් අතුරුදන් වුණා. ඊළඟට ඒ ගහ උඩ මහා ලස්සන කිරණ මාලාවකින් රන් වන් විමානයක් පහළ වුණා. බලන කොට අර අමනුස්සය (ගන්ධබ්බය) දූන් දේවතාවෙක් වෙලා ඉපදිලා. එතකොට ගෙවන්න තිබිච්ච කර්ම වේගයක් තමයි අර විදියට දවස් 7 ක් බෙල්ලෙ වැල දාගෙන ගෙව්වෙ. නමුත් අදහස තිබුනෙ බුද්ධ සාසනයට මම ඉඩමක් පූජ කළා කියල. ඒ අදහස තමයි අනිත් සැරේ ඇදිල ඇවිත් ඊළඟ උප්පත්තිය දේව අත්භවයක් ලබන්න හේතු වුනේ. මේ සිද්ධිය මම එතන හිටපු අනික් පිරිසටත් කිව්වා. දූන් ඉතින් බලන්න, යහපත් දෙයක් කරන්න ගිහින් ඒ අදහස ඉෂ්ට නොවුනමත් බෙල්ල වැල දාගන්න ගිහින් විඳපු දුක. පස්සෙ හොඳ ප්‍රතිඵලයක් ලැබිච්ච එක වෙනම කතාවක්. සියුම් කය වෙලත් දවස් 7 ක් එක දිගටම මාරාන්තික දුක් විඳින්න වුණා.

ඉතින් මේ සිය දිවි නසා ගන්නවයි කියන අදහස කෙනෙකුට කොයි මොහොතෙ මොන විදිහට එයිද කියන්න බෑ. සමහර විට එහෙම දෙයක් කර ගනියි කියල කිසිසේත්ම විස්වාස කරන්න බැරි පුද්ගලයන් පවා, තමන්ට එන මොනව හරි ආවේගයක් උඩ සිය දිවි නසා ගන්න අවස්ථා තියෙනවා. ඒ වගේ සිද්ධියක් මම පොඩි කාලෙ අපේ ගමෙත් සිද්ධ වුණා. ගමේ හිටපු එක්තරා කාන්තාවක් අපේ ගෙදරටත් නිතරම වගේ ආව ගියා. ඉතින් ඒ කාලෙත් ඔය සිය දිවි හානි කර ගැනීම් ගම් ප්‍රදේශවලත් තිබුණා. ගමේ කවුරු හරි සිය දිවි හානි කර ගත්තම මේ කාන්තාවත් අපේ ගෙදර ඇවිත් ඒ සම්බන්ධයෙන් විවේචනය කරන පුරුද්දක් තිබුණා. ''ඇත්තටම මේ මිනිස්සුන්ගෙ මෝඩකම්වල හැටි, මම නම් කවදාවත් ඔය වගේ මෝඩ වැඩ කරන්නෙ නෑ.'' මෙහෙම නිතරම වගේ කිය කියා ඉඳල, දවසක් එහෙම කර ගන්න අයටත් හිනා වෙලා යන්න ගියා. ඊළඟට දවස් 2 - 3 ක් යන කොට ආරංචියක් ආවා, ඒ කාන්තාවත් ගෙදර ඇති වෙච්ච මොකක් හරි ප්‍රශ්නයක් උඩ රණ්ඩු වෙලා ඉවස ගන්න බැරිව ඇසිඩ් බීල මළා කියල.

දූන් එතකොට දවස් 2 - 3 කට කලින්, සිය දිවි නසා ගන්න මේ තරම් මෝඩ මිනිස්සු ඉන්නවද කියල හිනා වෙලා, මම නම් කවදාවත් ඔය වගේ මෝඩ වැඩ කරන්නෙ නෑ කියල කියපු කෙනාගෙ අදහස අර ඩිංගට වෙනස් වුණා. ඒක තමයි කියන්නෙ, ඒ වෙලාවට එන ආවේගය කලින් තේරෙන්නෙ නෑ කියල. එහෙම දෙයක් කර ගනියිද නැද්ද කියල කලින් කාටවත් තීරණය කරන්න බෑ. සමහර වෙලාවට ඒ වගේ දේකට හාත්පසින්ම විරුද්ධ අදහසක හිටියත්, දන්නෙම නැතිව ඒ අදහස් වෙනස් වෙන්න පුළුවන්. ඒක කෙනෙකුට එක පාරටම නිගමනය කරන්න බෑ. විවිධ අයගෙ දරා ගැනීමේ ශක්තිය වෙනස්. ඒ දරා ගැනීමේ ශක්තිය යම් මොහොතක අභිබවා ගිය හැටියෙ, ඔය වගේ අදහස් ඇවිත් ඒ වගේ අවස්ථාවලට පෙළඹෙන්න පුළුවන්. ඇත්ත වශයෙන්ම හිතාගන්නත් බැරි විදියට ඒ වෙලාවෙදි මරණ බය දෙවෙනි වෙනවා. සමහර විට කල්පනා කරල බලන්න හොඳ අවස්ථා තියෙද්දීත් එහෙම වෙනවා.

ඒ වගේම ඒ කාලෙ අපේ වයසෙ කොළුවෙක් හිටියා. ඔහු රණ්ඩු වෙලා, මගේ බඩ මටම කපා ගත්තැහැකි කියල යටි බඩට පිහියෙන් ඇන ගත්තා. අන්තිමට බඩවැල් එළියට ආවා. තවත් කෙනෙක් පිහියකින් බඩ කපාගෙන පිහිය බඩ ඇතුලට දාගෙන සද්ද නැතිව හිටියා. ඊළඟට ඉස්පිරිතාලෙට ගෙනිච්චට පස්සෙ ඉක්මනට මැහුවා. පස්සෙ මේ පුද්ගලය කියනවා, මම පිහිය බඩ ඇතුළට දාගත්ත කියල. ඊට පස්සෙ එක්ස් රේ කරල බලන කොට බඩ ඇතුලෙ පිහියක් තියෙනව කියල සටහන් වුණා. ඊළඟට නැවතත් මැහුම් කපල පිහිය අරගෙන තමයි මැහුවෙ. එතකොට මොන තරම් උද්වේගයක් එන්න ඕනද ඒ වගේ දෙයක් කර ගන්න. ඒ වගේ උද්වේගයක් ආවම සමහරු පුච්ච ගන්නවා, ගිනි තියා ගන්නවා. උද්වේගයේ හැටියට ඒ වගේ වැඩ කරගන්න පුළුවන්. ඒ නිසා හොඳට හෝ නරකට මොනව හරි හේතුවක් නිසා උද්වේගයක් නැගිල ආවම, කෙනෙකුට ඕන දෙයක් කර ගන්න පුළුවන්. හැබැයි නිකං ඉන්න වෙලාවට සාමාන්‍ය හිතකට ඒක මහ බරපතල දෙයක්, හිතා ගන්නත් බෑ.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සිය දිවි නසා ගැනීමේ බරපතලකම දහම් ඇසින් ....

(පසුගිය කලාපයෙන් - මස් ලේ කයේ මරණින් පසු එන ගන්ධබ්බ අවස්ථාව ගැන තවදුරටත්...)

සිය දිවි නසා ගැනීම කියන කාරණය විශේෂයෙන් ලංකාවාසීන්ට අමුතු දෙයක් නෙවෙයි. පසු ගිය කාලයේ විවිධාකාර හේතූන් මත සිය දිවි නසා ගැනීම් කොච්චර සිදුවුනාද කියනව නම්, වරක් ඒ සම්බන්ධයෙන් ලෝකයේ පළමු පෙළ ස්ථානයකුත් ලංකාවට හිමි වුණා. ඒ සම්බන්ධයෙන් දැනටත් ලෝකයේ රටවල් අතරින් 4 වන තැනට පත් වෙලා තියෙන බව සමාජ විද්‍යාඥයින්ගෙ සමීක්ෂණවලින් හෙළිවෙලා තියෙනවා. ලෝක සෞඛ්‍ය සංවිධානයේ වාර්තාවන්ට අනුව දළ වශයෙන් ඒ සංඛ්‍යාව ලක්ෂයකට 28.8 ක්. විවිධාකාරයේ පෙම් සබඳතා, ඉඩම් ආරවුල්, විභාග අසමත්වීම් ආදිය වගේම තමන්ගෙ ණය ගෙවා ගන්න බැරිවත් සිය දිවි හානි කර ගත්ත අය පසු ගිය කාලයේ ඕන තරම් හිටියා. ඒ අතර විවිධ දේශපාලන පරාජයවීම් නිසා සිත් තැවුලෙන් සිය දිවි හානි කර ගත් අයත් පසුගිය කාලෙ වාර්තා වුණා. ඉතින් මේ දිවි නසා ගැනීම් සම්බන්ධයෙන් සමාජ විද්‍යාඥයින්, මනෝ විද්‍යාඥයින් විවිධාකාර තර්ක හේතු ඉදිරිපත් කළත් ඒවායේ අඩුවීමක් පෙන්නුම් කරන්නෙ නෑ වගේම, ඒ කරන විග්‍රහයන්ගෙන් දිවි නසා ගෙන මියගිය අයට හෝ ඒ අයගෙ ඥාති හිතමිත්‍රාදීන්ට හෝ ලැබිච්ච සහනයකුත් නෑ. මොකද ඒ සම්බන්ධයෙන් වන ගුප්ත පැත්ත හෝ ධර්මානුකූල පැත්ත විග්‍රහ කිරීමක් ඒවායින් සිදු වෙන්නෙ නෑ.



ඉතින් කෙනෙක් සිය දිවි නසා ගත්තම අහවල් හේතුව නිසා වුනා කියල යම් කිසි භෞතික සිද්ධියක් මුල් කර ගත්තු මතයක් ඉදිරිපත් කරනව මිසක්, ඒ කාරණයේ තියෙන භයානක පැත්ත ධර්මානුකූලව විග්‍රහ කරල දීමක් සිද්ධ වෙන්නෙ නෑ. මේ නිසා ජීවත් වෙලා ඉන්න අයත් දුක් වෙනව හැර මියගිය අයට මොනව වුනාද කියල දන්නෙ නෑ. ඒ නිසා පොදුවේ ලංකාවෙ විතරක් නෙවෙයි, ඕනෑම රටක කෙනෙක් සිය දිවි නසා ගැනීම සම්බන්ධයෙන් වන ධර්මානුකූල පැත්ත තමයි මේ ඉදිරිපත් කරන්නෙ. නමුත් සිය දිවි නසා ගැනීම ගැන කියවෙන මේ දහම් කරුණු සමාජ විද්‍යාඥයින් හෝ මනෝ විද්‍යාඥයින් නම් පිළිගන්න එකක් නෑ. ඒ අයගෙ මතය තමයි ඒ අය ඉදිරිපත් කරන්නෙ. මානසික වශයෙන් එක්තරා අවස්ථාවක් ඉක්මවා ගියොත් ඒ පුද්ගලය නැවතත් ඒක කරන්න පෙළඹෙන්නෙ නෑ කියලත් සමහර අය පෙන්වනවා. සමහර විට සිය දිවි නසා ගන්න හදපු කෙනෙක් ඒ අවස්ථාවෙ කොහොම හරි බේර ගත්තොත්, ඒ පුද්ගලය නැවතත් දිවි නසා ගන්න උත්සාහ කරන්නෙ නෑ කියලත් සමහරු කියනවා. නමුත් එහෙම නොවන අවස්ථා සමාජයේ ඕන තරම් තියෙනවා. දහ පහළොස් වතාවක් මැරෙන්න හදල බේරගෙන නැවතත් සිය දිවි නසා ගත්ත අවස්ථා ඕන තරම් තියෙනවා. ඉතින් ඒ කාරණය නිගමනය කරන්න බෑ.

ඒ නිසා මේ ඉදිරිපත් කරන දහම් විග්‍රහයෙන්, ඉදිරි පරම්පරාව හෝ දැනුවත් වෙලා, කර්ම ඵල ආදියේ ඵල විපාක දැන ගෙන යම් කිසි ආකල්පමය වෙනසක් ඇති වෙන්න කියන අදහසින් තමයි මේ විග්‍රහය ඉදිරිපත් කරන්නෙ. විශේෂයෙන් මේ සම්බන්ධයෙන් කෙරෙන ධර්මානුකූල විග්‍රහයන්ට අදාලව වහරක අභයරතනාලංකාර හිමියන් ලබපු අත්දැකීම් කිහිපයක් මේ දහම් කලාපයේම පළ වෙන අභයරතනාලංකාරය තුළින් ඉදිරිපත් කරල තියෙනවා. ඒ නිසා මේ ලිපි දෙකම එකට කියවීමෙන් ඒ සම්බන්ධයෙන් යම් කිසි අවබෝධයක් ලබා ගන්න වඩාත් පහසුවක් වේවි.

දහමට අනුව තමන්ගෙ ජීවිතය හානි කර ගැනීමයි, අනුන්ගෙ ජීවිතය හානි කර ගැනීමයි කියන්නෙ සම්පූර්ණයෙන් වෙනස් කාරණා 2 ක්. පර පණ නැසීම කිව්වම දැනට භාවිතා වෙන්නෙත්, ත්‍රිපිටකයේ තියෙන්නෙත් තමන්ගෙ පණ නසා ගැනීම නෙවෙයි. ඒ නිසා ප්‍රාණ ඝාත පාප කර්මයට සිය දිවි නසා ගැනීම අයිති වෙන්නෙ නෑ. හැබැයි වෙනත් කෙනෙකුට ඕන කමක් තිබිල හෝ ඒ පුද්ගලය මාව මරපන් කියල තවත් කෙනෙකු ලවා මරව ගත්ත නම්, ඒ මිනීමැරීම කරපු කෙනාට පර පණ නැසීම සම්බන්ධයෙන් ප්‍රාණ ඝාත පාප කර්මයක් සිද්ධ වෙනවා. නමුත් තමන් තමන් විසින්ම දිවි නසා ගැනීම පර පණ නැසීමක් වෙන්නෙ නෑ. හැබැයි එතනදිත් තමන් දිවි නසා ගත්තෙ ඇයි කියන කාරණය මතු වෙනවා. ඒක විවිධ හේතු නිසා සිද්ධ වෙන්න පුළුවන්. විවිධාකාර හේතු නිසා එන අසහනකාරී මානසිකත්වය දරා ගන්න බැරිව කෙනෙක් දිවි හානි කර ගන්න පුළුවන්. යමෙක් රාගයෙන් රත් වෙලා, රාගය නිසා තැවිල ඒක දරා ගන්න බැරිව දිවි හානි කරගන්න පුළුවන්. ඒ වගේම කෙනෙක් එක්ක තියෙන තරහට ද්වේශය නිසා දිවි හානි කර ගන්න පුළුවන්. තමන්ට කෙනෙක්ගෙන් පළි ගන්න ඕන නම්, ගහ මරාගෙන ඒක කරන්න පුළුවන්කමක් නැත්නම්, ඕකුන්ට හොඳ පාඩමක් උගන්වන්නම් කියල කෙනෙක් වහ ☞

බීල හෝ එල්ලිලා හෝ ගිනි තියාගෙන හෝ වෙනත් ක්‍රමයකින් මැරෙන්න පුළුවන්. ඒ වගේ අය ද්වේශයෙන් තමයි දිවි හානි කර ගන්නෙ. තවත් සමහරු මොනවත් තේරුම් ගන්න බැරිව හෝ එහෙම නැත්නම් කවුරු හරි කියපු දෙයක් නිසා මුලාවට පත් වෙලා ඇත්ත නැත්ත හොයා ගන්න බැරිව, මේව විසඳ ගන්න බෑ මට මීට හොඳයි මැරෙනව නම් කියල අදහස් අර ගෙන සිය දිවි නසා ගන්න පුළුවන්. ඒ වගේම මේ කාරණා 3 ම නැතිව, තමන්ට ආපු කායික වේදනාවක් දරා ගන්න බැරිව හෝ තමන් නිසා අනුන්ට කරදරවීම නිසා හෝ කෙනෙක් දිවි හානි කර ගන්න පුළුවන්.

ඒ නිසා මේ සිය දිවි නසා ගැනීම ප්‍රාණ ඝාතයක් නොවුනත් පාපයක් ද නැද්ද කියන කාරණය සාමාන්‍ය කෙනෙකුට නිගමනය කරන්න බෑ. ඒක අවස්ථානුකූලව වෙනස් වෙනවා. අනුන්ගෙ පණ නැසීම තමයි දස අකුසලය හා සම්බන්ධ වෙන්නෙ. නමුත් කෙනෙක් පළි ගන්න චේතනාවෙන් සිය දිවි හානි කර ගත්තොත් ඒ අනුව ලෝභ, ද්වේශ, මෝහ සහගතව පවු පිරෙනවා. දැඩි ලෝභය, ව්‍යාපාදය, මිථ්‍යා දෘෂ්ටි කියන දස අකුසල් අංග එතකොට සම්බන්ධ වෙනවා. සමහර විට ඒ වගේ චේතනාවකින් කෙනෙක් සිය දිවි හානි කර ගන්නවත් එක්කම චුති පටිසන්ධි වෙලා සතර අපාගත වෙන්නත් පුළුවන්. ඒ වගේ වෙලාවකදි සමහර විට තමන්ගෙ මානසිකත්වයට ගැලපෙන අනන්තරයක් සසරෙදි කරල තිබුණ නම් ඒක ඇදිල එන්න පුළුවන්. එහෙම ඇවිත් ඒකෙන් කර්ම නිමිත්තක් හට ගන්නවා. හැබැයි ඒ කාරණය අවස්ථානුකූලව වෙනස් වෙනවා. සමහර විට තිරි සතුන් විදියට අපාගත වෙලා ඉන්න සත්වයෙක් අපායෙදිම කැපිල කෙටිල මැරෙන්න පුළුවන්. නමුත් චුති පටිසන්ධි ලබන්නෙ නැතිව ඒ අත්බැවේ විපාක විඳින්න කර්ම ශක්තියෙන්ම නැවත නැවතත් ඒ විදියටම උපදින්න පුළුවන්. මේ වගේ කාරණා පසුගිය කලාපවල පලවූ ''අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්'' ලිපි පෙල යටතේ ඉදිරිපත් කරල තියෙනවා. විශේෂයෙන් 15 වන කලාපයේ ඒ වගේ සිද්ධියකුත් විස්තර කළා. මේ නිසා රාගයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් සිය දිවි නසා ගත්තොත් ප්‍රාණ ඝාතයක් නොවුනත් ඒ හේතුවට අනුකූල එල විපාකයක් ලැබෙනවා.

යමෙක් රාග සහගත හේතුවකින් දිවි නසා ගත්තොත්, කෙනෙක්ගෙ රූපය නිසා දැවිල ඒ ඇසුර ලබාගන්න බැරිව තමයි බොහෝ කොටම දිවි නසා ගන්නෙ. විශේෂයෙන් අද තියෙන පෙම් සබඳතා නිසා දිවි හානි කර ගැනීම මේ වගේ දෙයක්. එහෙම නැත්නම් රාගය නිසා යමෙක් බලාපොරොත්තු සහගතව හිටියත් අනික් අය ඒකට විරුද්ධ වෙන්න පුළුවන්. ඒ වගේ වෙලාවටත් විරුද්ධ කාරයින් සමග ගහ මරාගන්න නොගිහින්, පළි ගන්න බලාපොරොත්තුවෙන් හෝ කාරණය ඉෂ්ට නොවීම නිසා හෝ ඒ සිද්ධියට මුහුණ දෙන්න බැරිව හෝ සිය දිවි හානි කර ගන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවකදි පුද්ගලයට දැඩි හිතක් ඇති වෙනවා. ඒකට මුල් වෙච්ච කාරණය ලේසියෙන් මනසින් අයින් කර ගන්න බැරිව යනවා. ඒ කාරණය මළාට පස්සෙත් එහෙමයි. නමුත් මළාට පස්සෙ ඇති වන තත්ත්වය මැරෙන්න ඉස්සෙල්ල දන්නෙ නෑ, ජීවත් වෙලා ඉන්න අය දන්නෙත් නෑ. ඒක දැක බලා ගන්න යම් කිසි දිව්‍යසක් තියෙන්න ඕන. එහෙම නැත්නම් ඒ සම්බන්ධයෙන් යම් කිසි දහම් අවබෝධයක් ලැබිල අනුමාන ඥානයෙන් තේරුම් ගන්න ඕන.

එතකොට විශේෂයෙන් කෙනෙක් දිවි නසා ගත්තම බොහෝ කොටම ඊළඟට පත් වෙන්නෙ ගන්ධබ්බ තත්ත්වයට. හැබැයි තමන් මළා කියල ඒ පුද්ගලයට (ගන්ධබ්බයට) තේරෙන්නෙ නෑ. දැන් ඒ ගන්ධබ්බය කල්පනා කරනව තමන්ට මොකද වුනේ කියල. මොකද මස් ලේ කය මළාට මනෝමය ගන්ධබ්බ කය හැමෝගෙම ඒ මොහොතෙම මැරෙන්නෙ නෑ. නමුත් දිවි හානි කර ගන්න ඉස්සෙල්ල ඒ කාරණය දකින්නෙ නෑ. හිතන් ඉන්නෙ මළාම ඔක්කොම හරි කියල. දැන් ඉතින් මැරෙන්න හිතාගෙන දිවි හානි කරගත්තත්, මැරුනෙ නැනෙ කියල අසහනය තවත් වැඩි වෙනවා. මොකද මළේ සහනයක් බලාපොරොත්තුවෙන් වුනත් දැන් ඒ සහනය නොලැබුනාම ඒ පුද්ගලයට ගන්ධබ්බ ලෝකෙදිම වැටහෙනවා, මම මැරුනෙ නැනෙ, මට මැරෙන්න ඕන කියල. මේ විදියෙ අසහනයකින් තමයි දැන් ඉන්නෙ. ඉතින් එහෙම සහනයක් ගන්න ක්‍රමයකුත් නැත්නම්, අර මැරෙන්න පෙර තිබිච්ච පෙළීම, අසහනය දැනුත් එහෙම්ම තියෙනවා. දැන් ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙනත් මාරාන්තික දුකක් ඒ පුද්ගලය විඳිනවා.

ඒ වගේම මේ වගේ අවස්ථාවකදි ඒ පුද්ගලය සිය දිවි හානි කර ගත්තෙ යම් ක්‍රමයකටද, බොහෝ කොටම ගන්ධබ්බ ලෝකෙදිත් ඒ ක්‍රමයටම දිවි හානි කරගන්න උත්සාහ කරනවා. උදාහරණයක් විදියට කෙනෙක් වහ බීල මළා නම්, දැන් ගන්ධබ්බ ලෝකෙදිත් තමන්ගෙ අවශ්‍යතාවය අනුව චිත්තජ / කර්මජ රූප වශයෙන් වහ කුප්පි මැවී මැවී එන්න පුළුවන්. ඒවත් බොනවා. නමුත් මැරෙන්නෙ නෑ. අර දුකම විඳිනවා. බෙල්ලෙ වැල ලාගෙන මැරුණ නම් ඒ ලෝකෙදිත් වැල් ගෙතිල එනවා. ඒවායින් බෙල්ලෙ වැළලා ගන්නවා. නමුත් මැරෙන්නෙ නෑ. ඔය විදියට ඒ භවයට හිමි කර්ම ශක්තිය තියෙන කල්ම ඒ දුක විඳින්න වෙනවා. හැබැයි ඒක තීරණය වෙන්නෙ පුද්ගලයගෙ කර්ම වේගය අනුව. එල්ලිලා මැරුණ නම් එල්ලිලා මැරෙන්න හදනවා, වහ බීල මරුණ නම් වහ බීල මැරෙන්න හදනවා. ප්‍රපාතයකින් පැනල මරුන නම් ඒ විදියටම මැරෙන්න හදනවා. සමහර විට කර්ම වේගය බලවත් වෙලා තිබුණ නම්, වහ කුප්පි හෝ බෙල්ලෙ වැළලා ගන්න වැල් ඒ ලෝකෙන්ම මැවෙන්න පුළුවන්. හැබැයි ඒ මැවෙන වහ, බිව්වට හෝ වැල්වලින් බෙල්ලෙ වැළලා ගත්තට හෝ මැරෙන්නෙ නෑ. නමුත් ඒ කාරණය හැමෝටම නෙවෙයි, හේතු යෙදිච්ච හැටියට තමයි සිද්ධ වෙන්නෙ.

උදාහරණ විදියට මේ වගේ අවස්ථාවකදි යමෙකුට පහර ගහල ලොකු කර්ම විපාකයක් තිබිල ඒක ඇදිල ආවොත්, ඒ පුද්ගලය ඒ විපාකය ඉවර වෙනකල්ම නොමැරී විඳවන්න පුළුවන්. එතකොට කොච්චර කාලයක් ඒ පුද්ගලයට ඒ විපාකය විඳින්න වෙයිද කියල කියන්න බෑ. අපායක් නොවුනට ඒකත් එක්තරා මානසික දුකක්. දැන් ඉතින් මිනිස්සු සිය දිවි නසා ගන්න උත්සාහ කරන්නෙ මොකකින් හරි බේරිලා සහනයක් ලබා ගන්න හිතාගෙන. නමුත් අන්තිමට මළාට පස්සෙ ගන්ධබ්බ ලෝකෙ ඉඳගෙන ඊටත් වැඩිය දුකක් විඳිනවා. සමහර විට මොනව හරි කර්ම විපාකයක් ඇවිත් වෙන්නත් පුළුවන්, ඒ විපාකයේ හැටියට කොච්චර හරි නැවත නැවත ගන්ධබ්බ වෙලත් දිවි හානි කර ගන්න බලනවා. එතනදි කර්මජ / චිත්තජ රූප තමයි නිර්මාණය වෙලා එන්නෙ. ඒකෙන් තමයි ඒ දුක විඳින්නෙ. මේ වගේ සිය දිවි හානි කර ගෙන විපාක විඳවන අය ගන්ධබ්බ ලෝකෙ හරියට ඉන්නවා. ඉතින් ඒක හරි භයානක දෙයක්. දිවි නසා ගන්න අය නොදකින පැත්තක් තමයි මේ.

ඒ වගේම මේ සිය දිවි නසා ගැනීමේ තවත් පැත්තක් තියෙනවා. ඒ තමයි තමන් ජීවත් වෙලා ඉඳීම, අනුන්ට කරදරයක් හිරිහැරයක් කියල හිතන කෙනෙක් හෝ යම් කිසි දරුණු අසනීපයකින් පෙළෙන එක්තැන් වෙලා ඉන්න කෙනෙක්, තමන්ට එන කායික වේදනාවක් නිසා ඒක දරා ගන්න බැරිව හෝ දිවි නසා ගන්න පුළුවන්. එතකොට ඒකට අර වගේ රාග, ද්වේශ, මෝහ සම්බන්ධයක් නෑ. නමුත් ඒ වගේ අවස්ථාවකත් වෙන්නෙ මේකයි. දුකක් දරා ගන්න බැරිව සිය දිවි නසා ගන්නවයි කියන්නෙ ඒ පුද්ගලය දිවි නහ ගෙන යම් සහනයක් හොයනවා. එතකොට කෙනෙකුට දුකක් වේදනාවක් ඇති වුනා ☞

නම්, ඒක දරා ගන්න බැරි නම්, ඒකට හේතුව හොයල බලල දුක්ඛ නිරෝධය කර ගැනීම කියන්නෙ ආර්ය මග. හරි විදියට නම් වෙන්න ඕනත් ඒකයි. දුකක් ඇති වුනාම ඒක ඇති වුනේ ඇයි කියල හොයල බලන්න ඕන. එතකොට මෙන්න මෙහෙම හේතුවක ඵලයක්නෙ මේ දුක කියන්නෙ කියල ඒ කාරණය ධර්මානුකූලව දකින්න ඕන. එහෙම නැතිව නිකං දුකක් ගොඩ නැගෙනව නෙවෙයි. එහෙම දැකල නිගමනය කළොත්, මෙන්න මේ හේතුවේ ඵලය නිසයි මේ දුක එන්නෙ, මෙබඳු හේතුවක් මම මතුවට ඇති කරන්නෙ නෑ කියල, ඒ හේතුව නැති කරන්න යම් කිසි කෙනෙක් උත්සාහ අර ගෙන ඒ පුද්ගලයගෙ යම් කිසි දිවි නසා ගැනීමක් වුනොත් ඒක රාග, ද්වේශ, මෝහයෙන් කරන කටයුත්තක් නෙවෙයි. සාසනය තුළත් ඒ වගේ දේවල් සිද්ධ වෙලා තියෙනවා.

උදාහරණයක් විදියට ඒ කාලෙ සිය දිවි නසා ගත්තු ගෝධික හාමුදුරුවො ගත්තොත්, උන් වහන්සේ හුඟක් අසනීප වෙලා ඉඳල, අවස්ථා ගණනාවකදිම ධ්‍යානයෙන් පිරිහිලා හිටියෙ. ඊට පස්සෙ ලෞකික ප්‍රථම ධ්‍යානය එක අවස්ථාවක ලබා ගත්තා. එහෙම ලබා ගෙන උන් වහන්සේ මෙහෙම කල්පනා කළා. ''මෙතනින් ධ්‍යානය නොපිරිහී මළොත් මම බඹ ලොව උපදිනවා, නැත්නම් කොහේ උපදියිද දන්නෙ නෑ. ඒ නිසා මට මීට වඩා හොඳයි බඹ ලොව ඉපදෙන එක. දැන් මට වයසත් වැඩියි, කර කියා ගන්න කිසි දේකුත් නෑ, මීට වඩා ශක්තියක් මට නෑ, මේ මොහොතෙ මළොත් මම ගිහින් උපදින්නෙ බඹ ලොව.''

මේ විදියට කල්පනා කරල ධ්‍යානය පිරිහෙන්න පෙර උන් වහන්සේ සිය දිවි නසා ගන්න තීරණය කළා. වතාවල් ගණනාවක් ධ්‍යානයෙන් පිරිහිලා නැවතත් ලබ ලබා අසනීප වෙච්ච නිසා උන් වහන්සේ මේ අවස්ථාවෙදි කල්පනා කළා, නැවතත් අසනීප වෙලා ධ්‍යානය පිරිහෙන්න පෙර දැන්මම බෙල්ල කපා ගන්න ඕන කියල. ඒ වගේම බුදුන් වහන්සේ ප්‍රකාශ කරල තිබුණා, අවසන් මොහොත වෙන කොට ඔබ කොහොමත් අරිහත් ඵලය ලබනව කියල. එතකොට බුදුන් වහන්සේගෙ වචනයත් විස්වාසයි. මැරුණත් කවදාවත් අතරමං වෙන්නෙ නෑ කියල දැන ගෙන තමයි අන්තිමට බෙල්ල කපා ගන්න තීරණය කළේ. ඉතින් උන් වහන්සේ දැලිපිහියෙන් බෙල්ල කපා ගන්නවත් එක්කම වේදනානුපස්සනාව සිහි වුණා. මේ ලෝකයේ වේදනාවන්ගෙ අසාරත්වය දැකල ඒත් එක්කම අරිහත් ඵලයත් ලබල ඒ මොහොතෙම පිරිනිවන් පෑවා.

එතකොට උන් වහන්සේ අවබෝධයෙන් තමයි සිය දිවි නසා ගත්තෙ. නමුත් ඒක සාමාන්‍ය කෙනෙකුට කරගන්න පුළුවන් දෙයක් නෙවෙයි. විශේෂයෙන් දැලි පිහියෙන් තමන් තමන්ගෙම බෙල්ල කපා ගැනීම බොහොම දුර්ලභ දෙයක්. නමුත් එහෙම අය පෙරත් ඉඳල තියෙනවා. ඒකට බොහොම දැඩි හිතක් තියෙන්න ඕන. සමහර රජවරු යුද්ධෙට ගිහින් ඒකාන්තයෙන් පැරදිලා මැරෙන්න වෙනව කියල දැන ගත්තම, ඉනේ තිබ්බච්ච කඩුව ඇදල අරගෙන තමන්ගෙම බෙල්ල කපා ගත්ත අවස්ථා වගේම, ඇතාගෙ පිට උඩ ඉඳගෙන බෙල්ල කපල දාල කඳ හේත්තු කරගත්තු අවස්ථාත්



ඉතිහාසයේ සඳහන් වෙනවා. හැබැයි ඒ දහම් අවබෝධයක් ලබල නෙවෙයි. ඒ තරම් හිත දැඩි වෙලා මරණ බයට වඩා තමන්ගෙ අවශ්‍යතාවය අභිබවා ගියපු අය ඉඳල තියෙනවා. දැන් වුනත් කෙනෙකුට සාමාන්‍ය තත්ත්වෙදි තමන්ගෙ ඇඟ තමන්ටම කපා ගන්න බැරි වුනාට, මොනව හරි ආවේගයක් ඇවිත් එහෙම කරන්න පුළුවන් අයත් ඉන්නවා. බඩවැල් එළියට එනකල් කපා ගන්න අයත් ඉන්නවා. ඒ වගේම විවිධ ත්‍රස්ත කල්ලිවල ඒ අයගෙ අරමුණු සපුර ගන්න කියල සිය දිවි හානි කර ගන්න උදවිය වෙනම ඉන්නවා.

එතකොට හේතුව දැකල ඒක නිරෝධ කර ගත්තු කෙනෙක් ඉන්නව නම්, ඒ පුද්ගලයට පෙර විපාකය නිසා මස් ලේ කයේ අවසාන කෙළවර වෙනකල් විතරයි ඒ දුක විඳින්න වෙන්නෙ, මතුවට විඳින්න දෙයක් නෑ. ඒ වගේ අවස්ථාවක සමහර විට ඒ අයට පුළුවන් අනික් අයට කරදරයක් නොවෙනවට සිය දිවි හානි කර ගන්න. එහෙම නැත්නම් කායික වේදනාව දරා ගන්න බැරිව දිවි හානි කර ගන්න පුළුවන්. එහෙම කළොත් ඒකට රාග, ද්වේශ, මෝහ සම්බන්ධයක් නෑ. යම් කිසි විදියකින් රාග, ද්වේශ, මෝහ තිබුණොත් ඒ අය බලාපොරොත්තු වෙන්නෙ නිකම්ම සහනයක් නෙවෙයි, පැවැත්මක් සහගත සහනයක්. එතකොට සහන පැවැත්මක් බලාපොරොත්තු වීමයි, සහනයක් බලාපොරොත්තු වීමයි කියන්නෙ කාරණා 2 ක්. සහන පැවැත්ම කිව්වොත් ඒ අය පැවැත්මෙන් අහක් වෙලා නෑ. කොහේ හරි උපතකට සම්බන්ධයි. කොහේ හරි ඉපදිලා සහනයක්මයි හොයන්නෙ. ඒ නිසා පැවැත්මක් බලාපොරොත්තු වෙනව නම්, ඒ මොන ජාතියේ පැවැත්මක්ද බලාපොරොත්තු වෙන්නෙ කියල බලන්න ඕන.

සමහරු මොනව හරි දෙයක් කොහොම හරි ඉටු කරගන්න බලාපොරොත්තු වෙනවා. ඒ කියන්නෙ කොහේ හරි සැනසිල්ලෙ ජීවත් වෙලා ඉන්න. මොනව හරි එහෙම බලාපොරොත්තුවක් තිබුන නම්, ඒ පැවැත්මේ බලාපොරොත්තුව මොකක් අරමුණු කරගෙනද තිබුණෙ, ඒකට විරුද්ධව මොනව හරි ප්‍රශ්නයක් ආවොත්, ඒ පුද්ගලය දුක් වෙලා මැරෙන්න හදන්නෙ ඒක මුල් කර ගෙන. ඒ නිසා ඒක කොහොම හරි ලබාගන්න ඕන කියන තීරණයෙන් ඒ වෙලාවෙදි දූෂ්‍ය මනසක් ඇති වෙනවා. මේ දූෂ්‍ය මනස නිසා හට ගන්න විපාකය ඒ පුද්ගලයට විඳින්න සිද්ධ වෙනවා. සමහර විට ඒක පෙර කර්ම විපාකයක් නිසා වෙන්නත් පුළුවන්. එහෙම ආව නම් ඒ වෙලාවෙදි කර්ම, කර්ම නිමිති, ගති නිමිති අනුව තමයි ඒ විපාකය එන්නෙ. ඒ ජාතියේ එකක් අරමුණු කර ගෙන මළොත් ඒ විපාක හිත විපාකය ඉවර වෙන කල් විඳින්න වෙනවා.

ඒ නිසා ඥාන සම්ප්‍රයුක්තව බලනව නම්, දුකක් අසනයක් ආවොත් ඒකෙන් නිදහස් වෙලා මිදෙන්න කොහේ හරි ඉන්නව කියන එක නෙවෙයි බලන්න ඕන, ඒ දුකෙන් නිදහස් වෙන්න නම්, මොකද මේ දුක හට ගත්තෙ කියල අර කලින් විස්තර කරපු ක්‍රමයට බලන්න ඕන. ''මේ ශරීරයක් නිසා මම මෙබඳු බලාපොරොත්තු තියාගෙන මේ ආකාරයෙන් ඉන්න ගියොත් තමයි ඔය දුක ඇති වෙන්නෙ. මෙහෙම ආස්වාදයක් පසු පස ගිහින් තමයි ඔය දුක හට ගන්නෙ. මේ

ආස්වාද කියන ඒවා හිස් දේවල්නෙ. ඒ නිසා මට මේ ආස්වාදයන් මීට පස්සෙ ඕන නෑ, මම මේ බලාපොරොත්තු සම්පූර්ණයෙන් අත් හරිනවා.'' මෙහෙම හිතාගෙන ඒ පුද්ගලය දිවි නසා ගත්තොත් සහ ලෝකයට තියෙන ඡන්දරාගය සම්පූර්ණයෙන්ම අතහැරිය නම්, ඒ පුද්ගලයගෙ මනස ඉදිරියට නැවතත් ක්‍රියාත්මක වෙන තැනක් නෑ. ඒ කියන්නෙ අරිහත් ඵලය. දැන් මේ ඉන්න ටිකට මොකටද මේ කය තියාගෙන ඉන්නෙ, මේ කය නිකං දුක් විඳිනව විතරයි කියල ඒ වගේ කෙනෙක් අදහස් ගන්න පුළුවන්. එතකොට මරණාසන්න මොහොතෙ හරි ඒ පුද්ගලය සිය දිවි නසා ගන්න අදහස් ගත්තොත්, ඒ තීරණය අවසානයක් බලාගෙන මිසක් ඉදිරියක් බලාගෙන කරන දෙයක් නෙවෙයි. එහෙම කෙනෙකුට ලෝකයේ අල්ල ගන්න දෙයක් නෑ. ඉදිරි පැවැත්මක් බලාපොරොත්තු නැති නිසා එහෙම කෙනෙක් අවස්ථාවෙ හැටියට තීරණයක් ගන්න පුළුවන් දිවි නසා ගන්න. ඒ වගේ කෙනෙක් රහත් නම් පිරිනිවන් පානවා.

රහත් ඵලයෙන් මෙහා ඉන්න මග ඵල ලාභියෙක් නම් අන්තිම මොහොතෙ රහත් වෙලා පිරිනිවන් පාන්නත් පුළුවන්, එහෙම නැත්නම් ඒ ඒ අයගෙ මට්ටමින් සතර අපාගත වෙන්නෙ නැතිව සුගතිගාමී වෙලා බේරෙන්න පුළුවන්. මොකද දර්ශන ඥානය පහළ වෙලා තියෙන නිසා. නමුත් එහෙම දර්ශන ඥානය නැති අයට, දහම් අවබෝධයක් නැති අයට එහෙම අදහස් එන්නෙ නෑ. හැම වෙලේම ලෝකය හොඳයි කියල තමයි වැටහෙන්නෙ. ලෝකෙ හොඳ පැත්තක්ම අල්ල ගෙන නරක පැත්තකින් අයින් වෙන්න බලනවා. ඒක තමයි මේ දෙගොල්ලන්ගෙ වෙනස. තමන් බලාපොරොත්තු වෙන හොඳ පැත්තට විරුද්ධව වැඩ කටයුතු කෙරෙන කොට, සමහර විට තමුන් අනුන්ට කරපු අවැඩක් අසාධාරණයක්, විපාකයක් හෝ ප්‍රවෘත්ති විපාකයක් විදියට ඇවිත් සිය දිවි නසාගෙන දුක් විඳින්න සිද්ධ වෙන්න පුළුවන්. මනුස්ස වෙලා ඉඳෙද්දි, ඒ විපාකය විඳල ඉවර නොවුනොත් ඉතිරි ටික අර වගේ ගන්ධබ්බ ලෝකෙදි විඳින්න වෙනවා.

එතකොට රාග, ද්වේශ, මෝහ නිසා දිවි නසා ගැනීමයි, තමන්ගෙ ජීවත්වීම අනුන්ට කරදර නිසා ජීවත් වෙලා වැඩක් නෑ කියල දිවි නසා ගැනීමයි අතරත් පැහැදිලි වෙනසක් තියෙනවා. අනුන්ට කරදර නොකර ඉන්න ඕන කියන මානසිකත්වයක් ඇවිත් සිය දිවි නසා ගන්න හැදුවොත්, ඒ අදහස එන්නෙ තරහට නෙවෙයි. අනුන්ට කරදර කරන්න හොඳ නෑනෙ කියල ලෝකයාට යහපතක් කෙරෙන පැත්තට. ඒ අවස්ථාවෙදි ඇති වන චිත්තයේ යම් කිසි නිවීමක් තියෙනවා. ඒ නිසා ඒකට අර වගේ කර්ම වේගයක් එන්න විදියක් නෑ. හැබැයි කොහේ හරි ඉපදිලා පැවැත්මක් තියෙන්න පුළුවන්. නමුත් පැවැත්මක් බලාපොරොත්තුවෙන්ම දිවි නසා ගැනීමක් නොවෙන්න පුළුවන්. හැබැයි පැවැත්ම අත හැරිල නැති නිසා ඒකට අදාල ඉතිරි අනුශය තියේ නම් ඒ ටික ක්‍රියාත්මක වෙනවා. එතකොට ඒ තියෙන අනුශය අනුව කර්ම වේගයෙන් නිමිත්තක් මැවෙන්න පුළුවන්. අනුශයත් බිඳිල තිබුන නම් මතු උපාදානයක් නෑ. උපාදානයක් තිබුනොත් ඊට අනුව උපතක් හට ගන්නවා. උදාහරණ විදියට කෙනෙක් කාම ලෝකෙ උපාදානය අත් හැරල නෑ. හැබැයි යම් කිසි කාරණයක් නිසා, මම මොකටද ජීවත් වෙලා අනුන්ට දුක් දෙන්නෙ කියල සිය දිවි නසා ගන්න පුළුවන්. අවංකවම එහෙම නම් අදහස ගත්තෙ, ඒ පුද්ගලයට මතුවට ගන්ධබ්බ ලෝකෙදි විඳින්න වෙන අර වගේ විපාකයක් එන්නෙ නෑ. නමුත් කොහේ හරි අල්ලගෙන පැවැත්ම ගෙනියනවා. එතකොට මේ විදියට ගන්න තීරණත් විවිධාකාරයි. අරමුණු ක්ෂණිකවම වේගයෙන් ඇවිත් තීරණ ගන්න පුළුවන්. එහෙම නැත්නම් කිසිම බාධකයකින් තොරව නිදහසේ හිතලත් ඒ වගේ තීරණයක් ගන්න පුළුවන්.

ක්ෂණික ආවේගයට දිවි නසා ගන්නෙත් බාහිරින් අනිෂ්ට අප්‍රිය අරමුණක් ඇවිත් ඒක දරා ගන්න බැරිවීම නිසා. ඒක කායික මානසික දෙකෙන්ම වෙන්න පුළුවන්. කායික දුක්ඛය නිසා ගන්න තීරණය එකක්. එතනදි පුද්ගලයට විවිධ අදහස් එන්න පුළුවන්. මේ කය අත් හැරල මතු අනාගත කයක් අල්ල ගෙන සතුටින් ඉන්න බලාපොරොත්තුවෙන්, මේ ජීවිතෙන් වැඩක් නෑ කියල සිය දිවි හානි කර ගන්න පුළුවන්. සමහර විට ඒ පුද්ගලය අනුන්ටත් ඒ වගේ බලාපොරොත්තු තියෙන වෙලාවක, ඒ බලාපොරොත්තු කඩ කරවන විදියෙ වැඩ කරල තිබුන නම්, ඒ පුද්ගලය විනාස කරන්න කටයුතු කරල තිබුන නම්, ඒ වගේ හිත් වේදනා ඇති කරල තිබුන නම්, ඒකෙ විපාකය ඒ පුද්ගලයටත් මේ වගේ අවස්ථාවකදි ඇදිල එන්න පුළුවන්. එතකොට ඒ පුද්ගලයටත් අනාගත බලාපොරොත්තුවක් හිතට ඇවිත්, ඒක ඉටු වෙන්නෙ නැති පරිසරයක් හැදෙනවා. ඒකෙන් දුක් විඳින්න වෙනවා. එතකොට ඒ පුද්ගලය ඒකෙන් මිදෙන්න බලාගෙන, මේ දුක් විඳ විඳ ඉන්න ඕන නෑ කියල සිය දිවි නසා ගන්න හිතක් ආවොත්, අනුන්ට කරපු විපාකය තමන්ටත් ඇදිල ඇවිත් ඒ පුද්ගලයටත් මිදෙන්න බැරි විදියට කර්ම, කර්ම නිමිති, ගති නිමිති මතු වෙලා එන්න පුළුවන්. මැරිල ගන්ධබ්බ ලෝකෙදිත් ඒකෙ විපාක විඳින්න වෙනවා. කර්ම ශක්තිය තමයි එතනදි ප්‍රධාන වෙන්නෙ. සමහර විට හැම එකක්ම කර්ම ශක්තියෙන්ම නොවී, තමන් ස්වයං තීරණ ගන්න වෙලාවල් තියෙනවා. එතකොට කර්ම ශක්තිය නැතිව අලුත් දෙයක් නම් නිර්මාණය කළේ, ඒ කාරණයේ ස්වභාවය අනුව තමයි ඊළඟ අවස්ථාව සම්බන්ධ වෙන්නෙ.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, මළාම සියල්ල ඉවරයි කියන අදහසින් සිය දිවි හානි කරගන්න උදවිය, මරණින් පසු උප්පත්තියක් නෑ, විපාක නෑ... ආදී වශයෙන් උච්ඡේද දෘෂ්ටියක ඉඳගෙනද එහෙම කරන්නෙ කියල. පිටින් බැලු බැල්මට එහෙම දෘෂ්ටියක ඉන්න බව පේන්න පුළුවන්. නමුත් සමහර විට, මතු සසරෙදි මට මෙහෙම වෙන්න එපා, මට ජාති ජාතිත් උඹල වගේ අය ඇසුරු කරන්න ලැබෙන්න එපා.... ආදී වශයෙන් කියල දිවි හානි කර ගන්න අය, ඒ වචනවලින්ම මතු ජාතියක් තියෙන බව පිළි අරගෙන තියෙනවා. ඒ වගේම සිය දිවි හානි කර ගත්තම සියල්ල ඉවරයි කියල හිතාගෙන ඉන්න අයත් ඉන්නවා. හැබැයි එහෙම සියල්ල ඉවරයි කියල හිතා ගත්තට, ඒ පුද්ගලයගෙ මනසෙ පැවැත්මක් බැඳිල තියෙනවා. නමුත් පුද්ගලයට ඒ සම්බන්ධයෙන් නොදැනීමක් තමයි තියෙන්නෙ. දෘෂ්ටිය අනුශය වශයෙන් තියෙනවා. ඒ අය හිතාගත්තත් මේ මරණින් පස්සෙ ඔක්කොම ඉවරයි, නැවතත් උපදින්නෙ නෑ කියල, ඒත් අර මුලින් විස්තර කරපු විදියටම ගන්ධබ්බය ජීවත් වෙන නිසා මැරිල නෑනෙ කියන හැඟීම එනවා. මරණින් ජීවිතේ ඉවරයි, ඉවර වෙන්න නම් මැරෙන්න ඕන කියල දිවි හානි කර ගන්නවා. නමුත් මළාට පස්සෙ ගන්ධබ්බයත් කියනවා, මැරුනෙ නෑනෙ මැරුණ නම් හරි කියල. එතකොට ඒ අයගෙ ප්‍රශ්නයට ඒකෙන් උත්තරයක් ලැබෙන්නෙ නෑ. අන්තිමට ගන්ධබ්බ ලෝකෙට ගිහින් කියන්නෙත්, මම මැරෙන්න හැදුවට මැරුනෙ නෑනෙ, මැරුන නම් ප්‍රශ්නෙ ඉවරනෙ කියල. මස් ලේ කය මළාට පස්සෙත් ඒ දෘෂ්ටියේ තමයි ඉන්නෙ. ඒ පුද්ගලයට තේරෙන්නෙ නෑ, තමන් මැරිල තමයි මෙතන ඉන්නෙ කියල. ඇහුවොත් කියන්නෙ, නෑ මං මළේ නෑ කියල. මස් ලේ කය මළාට තමන් මළයි කියල පිළිගන්නෙ නෑ.

ඒ වගේම කෙනෙකුට තවත් ගැටළුවක් එන්න පුළුවන්, මේ විදියට සිය දිවි නසා ගන්න අයට මරණ බයක් එන්නෙ නැද්ද කියල. මොකද මේ ලෝකෙ මැරෙන්න බය නැති කෙනෙක් නෑ. රහතන් වහන්සේ විතරයි මරණයට බය

නැත්තෙ. අනික් මනුස්සයො ඇතුළු සියලු සත්තු මරණයට බයයි. කවුරු හරි තමන් මරන්න එනව නම්, අනික් ඔක්කොම වැඩ පැත්තකට දාල ඇඳිවත වත් නැතිව හරි ජීවිතය බේර ගන්න පැනල දුවනවා. ඒ කාරණය හැමෝටම වැටහෙන නිසා අමුතුවෙන් කියන්න දෙයක් නෑ. එතකොට එහෙම ජීවිත ආසාවක් තියෙද්දිත්, කොහොමද මේ තමන්ගෙ ජීවිතය තමන්ම විනාස කර ගන්නෙ? යම් කිසි කෙනෙකුට මරණ බයක් ඇති වෙන්නෙ, යම් කිසි දේකට ඒ පුද්ගලයා වැඩිපුරම ප්‍රතිචාර දක්වපු දේ අනුව. උදාහරණ විදියට සාමාන්‍යයෙන් කෙනෙකුට මොනව හරි ජරාවක් දැක්කම හිරිකිතක් ඇති වෙනවා. ඒක සාමාන්‍යයෙන් කෙනෙකුට ඇති වෙන සාමාන්‍ය දෙයක්. හැබැයි ඒ හිරිකිතය ඇති වෙන්නෙ, තමන්ට ඒකට අත ගහන්න තරම් බලවත් දෙයක් ආපු නැති නිසා. නමුත් ඊට වඩා බලවත් කාරණයක් තමන්ට ආව නම් ඒ හිරිකිත නෑ.

උදාහරණයක් විදියට කෙනෙක් කිව්වොත්, අර වැසිකිළි වළට අත දාල එන්න කියල ඒකට කවුරුවත් කැමති නෑ. කියන කොටත් පිළිකුල් කරනවා, හිරිකිතයි. හැබැයි තමන්ගෙ අතේ තියෙන මුද්ද වැසිකිළි වළට වැටුනොත් දැන් මොකද කරන්නෙ? වෙන කරන්න දේකුත් නැත්නම්, හොඳ ගන්න බලාගෙන අත දානවා. අර හිරිකිත පිළිකුළ පැත්තකට දාල මුද්ද ගන්නවා. මොකද මුද්ද තමන්ට වටින නිසා, ඒක බලවත් කාරණයක් නිසා. හැබැයි සමහර විට මිල මුදල් තියෙන මහ විසාල කෝටිපතියෙක්, ඒ වගේ අවස්ථාවකදිත් හිරිකිත නිසා මුද්ද අත හැරල දාන්න පුළුවන්. මොකද ඒ පුද්ගලයාට මුදු එකට දාහක් වුනත් ගන්න සල්ලි ඕන තරම් තියෙන නිසා, මුද්ද එච්චර බලවත් කාරණයක් නෙවෙයි. හැබැයි ඒ පුද්ගලයගෙ වුනත් අත දරුවෙක් අර වැසිකිලි වළට වැටුනොත් දැන් නිකං ඉඳීද? ඒ වෙලාවෙදි අර හිරිකිත බලන්නෙ නෑ. මුද්දට වැඩිය ළමය වටින නිසා ඒ මුකුත් හිරිකිතක් නොබල වැසිකිලි වළට පනිනවා.

මේ වගේ යමෙක්ගෙ විපාකයක් එන කොට, මරණය කියන අවස්ථාව භයානකම ලොකුම දේ වගේ පිටින් බලන කෙනෙකුට පෙනුනට, සමහර විට මරණය ඉක්මවා ගිය අවශ්‍යතාවයක් ඒ පුද්ගලයට යෙදුනොත්, මරණය දෙවෙනි වෙලා ඒ අවශ්‍යතාවය ක්‍රියාත්මක කරනවා. හැබැයි බය නැතිව නෙවෙයි, බය යටපත් වෙලා දෙවෙනි වෙනවා. හරියට හිරිකිත බව දැන ගෙනම, ඒක දරා ගෙනම තමන්ගෙ මුද්ද ගන්න වැසිකිලි වළට අත දානව වගේ. ඒ වගේ මරණ බය දැන ගත්තත් ඒක ඉක්මවා ගිය ප්‍රශ්නයක් එන කොට තමන්ගෙ පණ තමන්ටම විනාස කරගන්න හිතෙනවා. එතකොට රහතන් වහන්සේලාට තියෙන්නෙ මරණ බය නෙවෙයි, වේදනාව නිසා එන අපහසුතාවය. ශාරීරික වේදනාව උහුලන්න බැරි ප්‍රශ්නය මිසක් උන් වහන්සේලා මරණයට බය නෑ.

ඒ වගේම කෙනෙකුට හිතෙන්න පුළුවන්, නිකං ඉන්න කොට අතක් ඉස්සුවත් බයේ ඔළුව අහකට ගන්න මිනිස්සු, මෙච්චර අමාරුවෙන් වේදනාවෙන් සිය දිවි හානි කර ගන්න කොට ඇති වෙන වේදනාව කොහොම ඉවසන්නද කියල. හැබැයි අපි හිතුවට ඒ වගේ වෙලාවට එන වේදනාව දරා ගන්න අමාරුයි කියල, අපිට පිටින් පේන ක්‍රමය නෙවෙයි ඇතුලෙ ක්‍රියාත්මක වෙන්නෙ. අපි මෙළොවදී මතු පිටින් දකින තත්ත්වය වෙනස්. උදාහරණයක් විදියට අපිට තේරෙනව කකුළෙ නිදි කුම්බ කටුවක් වගේ පොඩි දෙයක් ඇනුනමත් කොච්චර රිදෙනවද කියල. කම්බි කටුවක් ඇනුනොත් ඊටත් වැඩිය රිදෙනවා. ඒකත් අපි අත්දැකීමෙන් දන්නවා. ඊළඟට හිතෙන්න පුළුවන් පිහියෙන් ඇන්නොත් කොච්චර නම් රිදෙයිද කියල. හැබැයි ඒක අත්දැකීමෙන් නෙවෙයි, අනුමානයෙන් තමයි දැනගන්නෙ. කට්ටක් ඇනුනම මෙච්චර රිදෙනව නම්, පිහියෙන් ඇන්නම කොච්චර නම් රිදෙනවද කියල අපි නිගමනය කරනවා. හැබැයි සමහර අයට එච්චර දරුණු පාරක් වැදිලත්, එහෙම දෙයක් වැදුනද කියලවත් දන්නෙ නෑ. නමුත් අතේ නියපොත්තක්, ඇඟිල්ලක් කැපුනත් කොච්චර නම් වේදනාද කියල දැනෙන්න පුළුවන්. එතකොට බෙල්ල කැපුවොත් කොච්චර වේදනාද කියල අපි ඒ අනුසාරයෙන් මනිනවා. නමුත් අපි ඒක හරියටම දන්නෙ නෑ. ඒ ඒ අවස්ථාවෙ තියෙන මානසිකත්වය අනුවත් ඒක වෙනස් වෙනවා. ඒක වෙනම ක්‍රමයක්.

බොහෝ කොටම මේ ශාරීරික වේදනාවක් දැනුම් දෙන්නෙ, කෙනෙක් ජීවත් කරවන්න පුළුවන් නම් තමයි. ඒක සංඥාවක්. හරියට අනතුරු හඟවන නලාවක් වගෙයි. හැබැයි අනතුර දරුණුවටම වෙලා තියේ නම්, සංඥාව හඟවල වැඩක් නැත්නම්, ඒ සංඥාව දැනෙන්නෙ නැතිව යනවා. එතකොට අර තරම් කායික වේදනාවක් දැනෙන්නෙ නෑ. ඒ නිසා ඒකෙ යථාර්ථය මොකක්ද කියල වැටහෙන්නෙ නෑ. අපේ දැනට තියෙන දත්තයන් අනුව අපි අපිට ඕන විදියට මැනල නිගමනය කරනවා. ඒක අපේ නොදැනීම. නමුත් හැම තිස්සෙම ඒක එහෙම නෙවෙයි. සමහර විට ශරීරයෙන් පොඩි කෑල්ලක් කපල ගත්තොත් කොච්චර රිදෙනවද කියල අපිට හිතෙන්න පුළුවන්. හැබැයි කවුරු හරි එක පාරටම පැනල ලොකු කුට්ටියක් කඩා ගත්තොත්, ඒත් ඒ වගේම රිදෙනව කියල අපිට කියන්න බෑ. ඒක අවස්ථානුකූලව වෙනස් වෙන්න පුළුවන්. මේ වගේ අත්දැකීම් විශේෂයෙන් හමුදාවෙ ඉන්න අයට තියෙනවා. අත පය කපල දාපු අයත් ඒ අතර ඉන්නවා. සමහර විට වෙඩි වැදුනට පස්සෙ ඒ අය දන්නෙ නෑ තමන්ට තුවාල වුනාද කියලවත්. ඉස්සරහට යන්න හදන කොට මොනව හරි බාධකයක් තිබිල වැටෙන්න යනවා. මොකද වැටෙන්නෙ කියල බලන කොට තමයි තේරෙන්නෙ තමන්ගෙ කකුලක් නෑ කියල. ඒ වගේ අත්දැකීම් සමහර අයට තියෙනවා. නමුත් සාමාන්‍ය කෙනෙක්ගෙ කකුලක පුංචි තුවාලයක් තිබිල වැදුනත් ආ... අල්ලන්න එපෝ... රිදෙනවෝ... කියල කෑ ගහනවා. හැබැයි අර වගේ අයට එච්චර දරුණු තුවාලයක් තිබිලත් ගානක් නෑ. සමහර විට ඒ වගේ අවස්ථාවල තමන්ගෙ අතේ තියෙන මොනව හරි කැපෙන ආයුධයකින් ශරීරයේ කෑල්ලක් කපල අහකට දාල යන්නත් පුළුවන්. ඒත් ඒ අයට ගානක් නෑ. නමුත් අපිට හිතෙනව ඒ වගේ දෙයක් කොහොම කරගන්නද කියල.

ඒ නිසා මේ සිය දිවි නසා ගැනීම කරන්නෙ රාග, ද්වේශ, මෝහ මුල් වෙලා නම්, අපි හිතන් ඉන්න දේවල් නෙවෙයි මළාට පස්සෙ වෙන්නෙ. සහනයක් බලාපොරොත්තුවෙන් දිවි හානි කර ගත්තට, අන්තිමට තිබුණටත් වඩා මහා දුක් විඳින තත්ත්වයට පත් වෙන්න පුළුවන්. නමුත් ඉතින් කර්ම ඵල විස්වාස කරන්නෙ නැත්නම් මේ වගේ දේවල් කිව්වට පිළිගන්නෙ නෑ. අන්තිමට එහෙම දෙයක් කරගෙන විපාක විඳින කොට තමයි, මැරුණට පස්සෙත් විඳින්න දෙයක් තියෙනවනෙ කියල වැටහෙන්නෙ. නමුත් එතකොට කරන්න දෙයක් නෑ. කල් පමා වැඩියි. ඒ නිසා සමාජයේ එන ප්‍රශ්නවලින් පැනල යන්න, එහෙම නැත්නම් කෙනෙක්ගෙන් පළිගන්න බලාපොරො-ත්තුවෙන් සිය දිවි හානි කර ගෙන මේ ලෝකෙන් වෙන් වුනාට, පර ලොවේදි ඊටත් වඩා දුක් විඳවන්න වෙනවයි කියන කාරණය ධර්මානුකූලව දැන ගත්ත නම්, ඉදිරියට සිය දිවි හානි කර ගන්න පෙළඹෙන අයට දෙපාරක් හිතන්න වෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මනුස්ස ජීවිතයට ග්‍රහ බලපෑම් සිදු වන හැටි....

(පසුගිය කලාපයෙන් - සෙනසුරු ඊර්ෂ්‍යාධිකය සහ බලු කපුටු දානය දහම් ඇසින්...)



පුරාණ කාලයේ පටන් එන කතාවකට අනුව සෙනසුරුගෙ ලාංඡනය හෙවත් සංකේතය පෙන්වන්නෙ, වම් කකුළෙ සුව නොවන තුවාලයක් බැඳ ගෙන ඉන්න කෙනෙක් විදියට බව පසුගිය කලාපයෙන් සඳහන් කළා. ව්‍යවහාර භාෂාවෙන් කියනව නම් හිඟන්නගෙ තුවාලය වගෙයි. මේ කාරණය තවදුරටත් ධර්මානුකූලව පැහැදිලි කළොත්, ඒකෙන් පෙන්වන්නෙ පුද්ගලයෙක්ගෙ ගති ලක්ෂණ. ඒ පැරණි කතාව අනුව ගත්තොත්, ලස්සන බඩු මුට්ටු හදන වඩුවො එක්ක සෙනසුරු හරි තරහයිලු. ඒ නිසා මේ සෙනසුරු නිතරම වගේ ඇවිත් ඒ වගේ වඩුවන්ට කරදර කරල යන සිරිතක් තිබුණලු. එක දවසක් ඕක බලන් හිටපු වඩු බාස් කෙනෙක්, අතේ තිබ්බ අත කොළුවෙන් සෙනසුරුගෙ කකුළට දමල ගැහුවලු. සෙනසුරු කකුළ කඩාගෙන පැනල දිව්වලු. එදා ඉඳන් සෙනසුරු අනිත් අයට සාප කර කර ඉන්න නිසා හොඳ වෙන්නෙ නැති තුවාලයක් එක්ක කකුළ බැඳගෙන ඉන්නවලු. මේ නිසා සෙනසුරු වඩුවොත් එක්ක ජන්ම වෛරයිලු. දැක්ක තැන අපල උපද්‍රව කරනවලු. හැබැයි මේ සිද්ධිය දැන් මේ විදියෙ සුරංගනා කතාවක් වගේ ගොතල තිබුනට, ඒක මොනව හරි භෞතික සිද්ධියක් මුල් කර ගෙන හදපු කතාවක්. ඒ කියන්නෙ මොනව හරි පොදු සිද්ධියක් පුද්ගලිකත්වයට දාල සංකේතවත් කරල හදපු කතාවක්. ඒ කතාව පරමාර්ථ අර්ථයෙන් ගැලපුවම ඒකට මුල්වෙච්ච මොනව හරි හේතුවක් තියෙනවා.

සමාජයේ ලෞකික වශයෙන් ලස්සනට සුන්දරට බඩු මුට්ටු හදල දෙන අය එක්ක තරහින් ඊර්ෂ්‍යාවෙන් කටයුතු කරන පිරිසක් ඉන්නවා. ඒ කාරණය අදත් දකින්න තියෙන දෙයක්. කෙනෙක්ගෙ ගෙදරක ලස්සන බඩු මුට්ටුවක් දැක්කම ඒකට ඊර්ෂ්‍යා කරන, අකුල් හෙලන අය අදත් සමාජයේ සුලභව ඉන්නවා. කෙනෙකුට සුඛෝපභෝගීත්වයක් සකස් කරල දෙනවට ඒ අය තරහයි. එදා වඩු බාස් උන්නැහේ කිව්වම අද ඉන්න කර්මාන්ත ආශ්‍රිතව වැඩ කටයුතු කරන අයත් ඒකට අයිති වෙනවා. සෙල්ලම් බඩු, විසිතුරු බඩු, විවිධ උපකරණ හදල ගෙවල් දොරවල් ලස්සනට පිළිවෙලට තියන සියල්ලම ඒකට අයිති වෙනවා.

හැබැයි මේ ලස්සන ගෙවල් දොරවල්, සුන්දර දේවල් ප්‍රිය මනාපයෙන් හදන්නෙ වැඩි හරියක් අපි නොදැනුවත්වම තණ්හාව මුල් කර ගෙන. තණ්හාව වඩුවට තමයි උපමා කරල තියෙන්නෙ. ඒ නිසා මෙතන කියන වඩුවා පුද්ගලයෙක් නෙවෙයි, තණ්හාව. යමෙක් යමකට ආස කරනව නම්, ඊර්ෂ්‍යා කාරයො ඒකට පහර ගහනවා. මොකද තණ්හාව එන්නෙ ප්‍රිය මනාප දේට. අනිත් අය ප්‍රිය මනාප කරන දේට ඒ අය ඊර්ෂ්‍යායි. ඒ නිසා ඒකට විරුද්ධ කාරයො ඉන්නවා. ඒ අයට හැම වෙලේම වගේ පළුදු වෙච්ච මූණක්, කළු වෙච්ච ශරීරයක් තමයි තියෙන්නෙ. ඒ කියන්නෙ පිටින් ස්වභාවිකව පිහිටි ශරීර ස්වභාවයම නෙවෙයි, මේ කියන්නෙ ගති ලක්ෂණයට අනුව ගති රුවේ ස්වභාවය. ලස්සන හොඳ මූණක්, පැහැපත් ශරීරයක් තියෙන කෙනෙක් වුනත් මොකක් හරි හේතුවක් නිසා රෞද්‍ර වුනාම, මොකද මූණ කළු කරගෙන ඉන්නෙ කියල අහනවා. ඒ කියන්නෙ ඒ මොහොතට නැගෙන ගති ගුණය අනුව බාහිර ගති රුවත් වෙනස් වෙනවා. ලස්සන කෙනෙක්ගෙ වුනත් ඒ වගේ වෙලාවට කිරණ කය කළු වෙනවා. ඒක සමහර විට පිටින් එල්ල කරලම පේන්නෙ නැති වෙන්න පුළුවන්. නමුත් පිටින් බැලුවත් යම් කිසි වෙනසක් දැක ගන්න පුළුවන්. කෙනෙක් රෞද්‍ර වුනාම මූණ දිහා බලන්නත් බෑ. මේ ආකාරයට ඒ ගතියට අනුව ගති රුවක් පිහිටනවා. කපුට ගත්තමත් හැම වෙලේම පහරනවා. ඒ ගති ලක්ෂණය නිසාම හොඳට පිරිසිදු කරල ඔප දමල පළුදු නැතිව යමක් ප්‍රිය මනාපයෙන් හදල දෙන්න හැදුවොත්, කපුටෙක් ඇවිත් ඒකෙ පහරල යන්නමයි බලන්නෙ. අදත් කපුටන්ගෙ කාපු තැන පහරන (කා + පුටා - කපුටා) ඒ ගති ලක්ෂණය තමයි තියෙන්නෙ. ඒ තමයි විරුද්ධ කාරයන්ගෙ හැටි.

එතකොට සෙනසුරුගෙ ගති ලක්ෂණ තමයි ඒ අයට තියෙන්නෙ. සෙනසුරු ග්‍රහ දේවතාවො කියන අයත් හරියට කපුටො වගේ. ගුප්ත ලෝකෙ ඉන්න ඒ වගේ අය හරි බලවත්. මහ විසාල කපුටො. හැබැයි කපුට වගේ හිටියට ඇඟ මනුස්ස වගේ. මූණ කපුටු. හොට එච්චර දිග නෑ, වකුටුයි. කකුල් කපුටෙක්ගෙ වගෙයි. යන්නෙ පැන පැන. තටු දෙකක් වගේ අත් දෙකක් තියෙන්නෙ. මේ කියන සත්වයා තමයි විවිධාකාර වෙස් අරගෙන ඇවිත් අනින්නෙ. එහෙම අනින කොට අවශ්‍ය නම් මනුස්සයින්ට පේන්න එන්නත් පුළුවන්. එහෙම ආපු අවස්ථාත් තියෙනවා. ගුප්ත ලෝකය දකින්න පුළුවන් අය ඒ වගේ අවස්ථා දැකල තියෙනවා. පසුගිය කලාපයෙන් පෙන්වා දීපු සෙනසුරු පූජාව ඒ විදියට සිද්ධ කරපු උපාසක මහත්තයෙකුටත් ඒ වගේ විසාල සෙනසුරු කපුටෙක් දැක බලා ගන්න අවස්ථාව ලැබිල තියෙනවා. ඕන නම් කපුටෙක්ගෙ වෙස් අරගෙන එන්නත් පුළුවන්. ගතියට ගතිය සම්බන්ධ නිසා කපුටෙකුට ආවේස වෙලා එන්නත් පුළුවන්.

මේ නිසා ස්වභාවික වඩුවන්ටත් කපුටන්ගෙන් කරදරයි. උන්ගෙන් වඩු මඩු බේරගන්න අමාරුයි. උන් හරිම අකමැතියි ලස්සන දිලිසෙන දේවල්වලට. ඒ වගේ දේවල් උන්ට හරි විසයි. කණ්ණාඩියක් දැක්කොත් කපුට හරි බයයි. ඒකට ප්‍රිය මනාපයක් නෑ. ඒ නිසා ඒ වගේ දේවල් වනසන්නමයි බලන්නෙ. ඌට අහු වෙච්ච වෙලාවක් වුනොත් ඒ වගේ දේක පහරල යනවා. එතකොට අලුතින්ම හදල ඔප දමල තියෙන අල්මාරියක්, මේසයක් තිබුනොත් එහෙම, ඒක නැවතත් මුල ඉඳලම ඔප දමල හදන්න වෙනවා. ඉතින් ප්‍රිය මනාප දේ හදන්නෙ තණ්හාව නමැති වඩුවා. ලෝකයා තණ්හාවෙන් යමක් බඳා ගන්න කැමතිද, ඒක තමයි කතා කර ගෙන හදන්නෙ. වඩුවො කියන්නෙත් කලාකරුවො වගේ කොටසක්. මොකද කලාත්මක බඩු මුට්ටු හදන නිසා. ඒ අයත් එක්ක තරහ වෙන්න හේතුවත් ඒකයි. ගුප්ත සෙනසුරු ග්‍රහ දේවතාවොත් තරහයි, අනිත් කපුටොත් තරහයි. මොකද සෙනසුරු ගතිය නිසා.

සෙනසුරු ගති ලක්ෂණ තියෙන අය ඒ වගේ අයත් එක්ක තරහක් තියෙනවා. ඒ නිසා මේ සෙනසුරු පූජාව ඒ අයටත් හොඳයි. ඉතින් බැරි වෙලා හරි සෙනසුරුගෙ ඒ ගති ලක්ෂණ මිනිස්සුන්ට ආවම, ඒක පොදුවේ මනුස්ස වර්ගයාටමත් බලපානවා. ඊට අනුව ගති රුවක් විදියට හේතු යෙදිච්ච අයට කකුලෙ කොරයක් හැදෙන්න පුළුවන්, තුවාල වෙන්න පුළුවන්. ඒක සෙනසුරුගෙ ගති ස්වභාවයට අනුකූලයි. ඒ කියන්නෙ අනුන්ට ඊර්ෂ්‍යා කරල, සාප කරල, හිංගි හිංසා කරල තිබිච්ච පුරුද්දක් තමයි ඒ කාලෙ ඉඳන් බඩු මුට්ටුවලට පයින් ගහල යෑමෙන් පෙන්වන්නෙ. තරහ කාරයෙක්ගෙ මොනව හරි දෙයක් දැක්කම පයින් ගහල යන සිරිතක්, පුරුද්දක් අදත් සමහරුන්ට තියෙනවා. එතකොට ඒ ගති ලක්ෂණය ඉස්මතු කරන්න සම්මතයක් විදියට පාවිච්චි කරන්නෙත් වම් කකුළ. මොකද නරකට වම් කකුල පාවිච්චි කිරීම සම්මතයක්. සාමාන්‍යයෙන් හොඳ දේකට දකුණු කකුලෙන් ගහන්නෙ නෑ. එතකොට ගති රුව හැදෙන්නෙත් ඒ විදියට වම් කකුල මුල් කරගෙන. දකුණු කකුල පාවිච්චි කරන්නෙ හොඳ දේවල්වලට. යම් කිසි ගමනක් පිටත් වෙන කොටත් දකුණු කකුල පෙරට තියල යන්න කියන්නෙ ඒකයි.

එතකොට නරක දේකට කකුල පාවිච්චි කරන නිසා තමයි, කාගෙ හරි බඩු මුට්ටුවක් දැක්කත් උන්ට හරියනවනෙ කියල පයින් ඇනල යන්නෙ. ඒක ඒ පුද්ගලයටත් සාපයක් වෙනවා. ඒ නිසා ඒ අයත් සාප කර කර ඉඳල ග්‍රහ දේවතාවො වෙලා, සාප කරන්න පුළුවන් විදියට පැන පැන යන ලක්ෂණ සහිතව (කපුට ගමන් කරනව වගේ) උපදින්න හේතු වෙනවා. සමහර විට සෙනසුරු දෝස තියෙන කොට ඒ ගති ලක්ෂණ කාට හරි ආවොත්, අතීතයේ තිබිච්ච භූත බලවේගයක්, ඥාති බලවේගයක් තමන්ගෙ ඇඟට එන්න පුළුවන්. එහෙම ආවට පස්සෙ ඒ රෝග ලක්ෂණය, ගති ලක්ෂණය ඒ පුද්ගලයගෙ ශරීරයටත් බලපාන්න පුළුවන්. හැබැයි ඒ වෙන කොට ඒ සමනන්තරයට ගැලපෙන විදියට ඒ පුද්ගලයටත් අනන්තරයක් යෙදිල තියෙන්න ඕන. ඒ විදියෙ දේවල් සසරෙ කරල තිබුණ නම් ඒක අනන්තරයක් විදියට ඇදිල ඇවිත්, කකුලෙ තුවාල හැදිල අර වගේ හොඳ වෙන්නෙ නැතිව දුක් විඳින්න පුළුවන්. දැන් මේ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හිමියන් ලබපු සත්‍ය අත්දැකීමක් උන් වහන්සේ මේ විදියට විස්තර කළා.

''සෙනසුරු ඒරාෂ්ටක කාල සීමාව එන කොට හුඟක් තදබල අපල අවස්ථාවකට මටත් මුහුණ දෙන්න වුණා. ඒකෙ ප්‍රතිඵලයක් විදියට මගේ වම් කකුලෙත් සැත්කමක් කරන්න සිද්ධ වුණා. ඒ අවස්ථාවෙදි මම හිටපු ස්ථානයේ වැඩ හිටිය තවත් භික්ෂූන් වහන්සේ නමක්, මට තිබිච්ච බඩේ අජීර්ණයක් ගැලවිලා යන්න කියල ජල නන්දන පිරිතෙන් ඇඹුල් 5 ක් ජීවම් කළා. ඒ බඩේ අජීර්ණය, කලින් කෙනෙක් දීපු විස බන්ධනයක ප්‍රතිඵලයක්. ඒ සිද්ධිය හොඳට පැහැදිලිව දකින්න ලැබිච්ච දෙයක්. මොකද ඒ කාලෙ බඩේ තිබිච්ච හිරවීමක් තමයි කකුලට බලපෑවෙ. ඒක වෛද්‍යවරුන්ටත් අල්ල ගන්න බැරි වුණා. ඉතින් මේ බඩේ අජීර්ණය හොඳ වුනොත් කකුලත් හොඳ වෙන බව මම දැන ගෙන හිටියා. නමුත් මේ ගුප්ත ලෝකෙ ඉන්න ගන්ධබ්බ කපුටන්ට අවශ්‍ය වෙලා තිබුණෙ ඒ අජීර්ණය ඒ විදියටම අල්ල ගෙන ඉන්න. ඒ තමයි සෙනසුරු දේවතාවන්ගෙ හැටි. හැබැයි මේ කියන්නෙ දිව්‍ය දේවතාවො ගැන නෙවෙයි. හෙණයට හුරු වෙච්ච, ආවතේව ආදී වැඩ කටයුතු කරන අය.

මේ සෙනසුරු දේවතාවො චාතුර් මහා රාජිකයට අයිති වුනත් ඒ අය රෞද්‍රයි. ඒකටත් එක්තරා හේතුවක් තියෙනවා. අපිට කරදර කරපු එවුන්ට අපි වගතුවක් වෙන්න ඉඩ දෙන්නෙ නෑ කියන මානසිකත්වයෙන් තමයි ඒ අය මනුස්ස වෙලා ඉඳෙද්දි සංඛාර වඩන්න පටන් ගත්තෙ. හැම වෙලේම සෙනසුරු දේවතාවො වෙලා ඉපදිලා තියෙන්නෙ, අපිට මුං කරදර කළා, පහර ගැහුවා, ඒ නිසා අපි උන්ට නිදහසේ ඉන්න ඉඩ දෙන්නෙ නෑ කියන, පළිගන්න චේතනාවෙන් කටයුතු කිරීම නිසා. එතකොට පළිගන්න චේතනාවෙන් තමන්ට වෙනස්කම් කරපු හතුරෙකුට කරදර කිරීමයි, නිකං පාඩුවේ පැත්තක ඉන්න අයගෙන් පළි ගන්න කරදර කිරීමයි කියන්නෙ කාරණා 2 ක්. වරදක් නොකර පැත්තකට වෙලා පාඩුවේ ඉන්න කෙනෙක්ගෙන් පළි ගන්නව කියන්නෙ, ඒ කාරණය සතර අපාගත වෙන්නත් හේතු වෙන දෙයක්. නමුත් සෙනසුරු දේවතාවො කිච්චම සතර අපායට නොවැටෙන්නත්, රෞද්‍ර වෙන්නත් හේතුව තමයි, තමන්ට කරපු අවැඩකට අසාධාරණයකට කවද හරි පළි ගන්නව මිසක්, හොඳ කෙනෙකුට නම් එහෙම කරන්නෙ නෑ කියන චේතනාවෙන් කටයුතු කිරීම. පළි ගැනීම හොඳ දෙයක් නොවුනත්, ඒ වගේ අයට පළි ගන්න සාධාරණ හේතුවක් තියෙනවා. අන්න ඒ සාධාරණ හේතුව නිසා තමයි චාතුර් මහා රාජික දේව තලයේ අන්තිම පහත්ම කොටසට අහු වෙන්න උපදින්නෙ. දේවතා ගණයට අයිති වුනත් යක්ෂ ස්වභාවය තමයි ඒ අයට තියෙන්නෙ. ඒ නිසා ඒ අය කපුට කියන තිරිසන් පක්ෂි ගණයට නෙවෙයි අයිති වෙන්නෙ. ගුප්ත ලෝකෙ විශේෂයෙන් ඉන්නෙ පරිවර්තන අවස්ථාවෙ ඉන්න බලු කපුටො. ඒ අය තවම දුගති ගත වෙලා නෑ. නමුත් ඒ ආසන්නයට ගති රුව හැදිල තියෙන්නෙ. ඒක ක්‍රමයෙන් පරිවර්තනය වෙනවා.

ඉතින් අර කලින් කියපු ස්ථානයේ මමත් ඉන්න කොට, ඒ හාමුදුරුවො කුටියෙ තිබිච්ච පුටුවක් උඩ ඉඳගෙන, භාජනය එතන තිබිච්ච කොට තාප්පයක් උඩ තියාගෙන, පිරිත් පොත බලාගෙන ජලනන්දන පිරිතෙන් ජීවම් කරන්න පටන් ගත්තා. ඊට එහා පැත්තෙ හිරිපොද එනවට ලොකු පැදුරක් වගේ ආවරණයක් එල්ලල තිබුණා. ඔය අතරෙදි මට එක පාරටම ඩහ් ගාල පාරක් වදින සද්දයක් ඇහුණා. බලන කොට අර ඇඹුල් තිබිච්ච භාජනයත් පෙරල ගෙන අනිත් පැත්තෙ බිත්තියේ වැදිල ඇඹුල් ටික අහක ගිහින්. ඇඹුල් 5 උන් වහන්සේගෙ ඇඟේ හැම තැනම විසිරිලා තිබුණා. මම බලන කොට අමනුස්සයෙක් උඩහ පැත්තට පස්ස බල බලා කොර ගගහ දුවනවා. ඒ අමනුස්සයට තිබුනෙ තනිකරම කපුටෙක්ගෙ මූණ. හැබැයි එච්චරම හොට දිග නෑ. ගිරා හොටක් වගේ ටිකක් පොඩියට තමයි හොට තිබුණෙ. අර ජීවම් කර කර හිටපු භාජනයට තමයි මේ අමනුස්සයා ගහල පැනල දිව්වෙ. ඊට පස්සෙ මට බොන්න දෙයක් ඉතිරි වුනෙත් නෑ.

ඒ ජීවම් කරපු ඇඹුල් 5 බිච්චම මගේ බඩේ අජීර්ණය ඇරිල යාම වළක්වන්න තමයි අර විදියට පහර

ගැහුවෙ. මොකද උන් තරහයි හොඳක් වෙනවට. එතකොට ඒ ගහපු සද්දය භෞතික මස් ලේ කනටත් ඇහිල, භෞතිකව තිබ්ච්ච ඒ භාජනයත් විසි වුණා. එච්චර තද පහරක් තමයි මේ අමනුස්සය ගහල තිබුණෙ. පස්සෙ මොකද කළේ, ඒ ඇඹුල් 5 නැවතත් අලුතින් හදල, ඒ භාජනයට නූලක් දාල ඒක උන්වහන්සේගෙ අතට අරගෙන ජීවම් කළා. මම පුටුවක ඉඳගෙන ඇඹුල් භාජනය පෙරලෙනවට අතේ තියාගෙන හිටියා. දැන් අර අමනුස්සය මේකට පහර දෙන්න නැවතත් දුව ගෙන ආවා, හැබැයි මමත් සෝදිසියෙන් යොමු කර ගෙන බලාගෙන හිටපු නිසා හිමින් සීරුවේ ළඟට ඇවිත් නැවතත් බයේ පැනල දිව්වා. මම අහක බලාගන්න කල් ඉඳල නැවතත් පන්න ගෙන ඇවිත් පැනල දිව්වා. අහක බැලුවොත් ක්ෂණිකවම පන්න ගෙන එනවා. මනස ඒ දිහාවට යොමු කරන කොටම නැවතත් පැනල දුවනවා. ඒ නිසා හොඳ සෝදිසියෙන් ජීවම කරන්න සිද්ධ වුණා. එහෙම රැකවල් කරල තමයි ඇඹුල් 5 ජීවම් කර ගෙන බිව්වෙ. කොහොම හරි ජීවම කරල ඉවර වුනාට පස්සෙ ඒ අමනුස්සය පේන්නෙම නැතිව ගියා.''

මේ ඇඹුල් පහේ ජීවම අවශ්‍ය නම් ඕනෑම කෙනෙකුට කර ගන්න පුළුවන්. ඒ ඇඹුල් 5 දෙහි මුල් කර ගෙන ඇඹුල් දොඩම්, කාමරංක, සියඹලා, නස් නාරං, ජම නාරං ආදී තවත් ඕනෑම ඇඹුල් වර්ග 4 ක් එක්ක හදා ගන්න පුළුවන්. ඒ වගේ ඇඹුල් වර්ග 5 ක් සම සමව අරගෙන මිරිකල ඇඹුල් ටික පෙරා ගන්න ඕන. ඒ මිශ්‍රනය දස දිසා බන්ධන පිරිතෙන් (38 කලාපයෙන් ඉදිරිපත් කළ ආකාරයට) හෝ ජල නන්දන පිරිතෙන් 108 වාරයක් විතර ජීවම් කර ගත්තම හුඟක් බලවත්. සාමාන්‍යයෙන් තුන් වරුවකට පාවිච්චි කරනව නම්, පත 1/2 ක් (අඩු කෝප්ප 1/2 ක්) හෝ 1/4 ක් හෝ හදා ගන්න පුළුවන්. ඒක ජීවම් කරගත්තම වරු 3 කට පාවිච්චි කරන්න පුළුවන්. හරියටම ගන්න ඕන මාත්‍රාවක් කියල නෑ. නමුත් සාමාන්‍යයෙන් වරකට මේස හැඳි 3 ක් විතර ගත්තම ප්‍රමාණවත්. ඒ විදියට උදේ දවල් රෑට හෝ පැය 8 න් 8 ට හෝ කැමති විදියකට දින කිහිපයක් වුනත් පාවිච්චි කරන්න පුළුවන්. මේ ඇඹුල් 5 ට පිරිතෙන් නැගෙන ශක්තියත් කා වැදුනම, ශරීරයේ බැඳිල තියෙන කාරම් කපන බලයක් එනවා. ඒ කියන්නෙ බඩේ අජීර්ණ, සෙම් අජීර්ණ, කුණු අපද්‍රව්‍ය ආදිය ඒකෙන් දිය කරල ඇදල අරගෙන පිට කරනවා. ශරීරය සුද්ද කරනවා. මේක අනාදියේ පටන් එන ක්‍රමයක්.

දැන් එතකොට පැත්තක ඉන්න ග්‍රහයෙක් නිසා මනුස්සයින්ට අපල දෙන්නෙ කොහොමද, මනුස්සයෙක්ගෙ අතක් පයක් කැඩුනම සැතපුම් දහස් ගණනක් ඈතක තියෙන ග්‍රහයෙක් ඒකට සම්බන්ධ වෙන්නෙ කොහොමද ... ආදී වශයෙන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්. නමුත් ඒ කාරණයත් ඔප්පු කරන්න පුළුවන්. මේ ග්‍රහයින්ගෙන් විහිදෙන විවිධ කිරණ වර්ග තියෙනවා. ඒ කිරණ එක් එක් පුද්ගලයින්ගෙ ශරීරවල පිහිටන කිරණවලට පරස්පර වෙන්න පුළුවන් අවස්ථා යෙදෙනවා. උදාහරණ විදියට කෙනෙක් උපදින කොට හට ගන්න කිරණ වළල්ලක් තියෙනවා. **උපතක් කියන්නෙ හරි අර්ථයෙන් නම් ගන්ධබ්බයා මවු කුසකට ඔක්කන්ති වෙන්න එන වෙලාව.** ඒක තමයි කර්ම ශක්තියෙන් හරියටම ක්‍රියාත්මක වෙලා උපදින අවස්ථාව කියන්නෙ. **ඒ අනුව කෙනෙක් උපන් වෙලාව කියල නිවැරදිව ගන්න ඕන, මවු කුසින් බිහි වෙන වෙලාව නෙවෙයි, මවු**



**කුසට ගන්ධබ්බය ඔක්කන්ති වෙන වෙලාව.**

අන්න ඒ ඔක්කන්ති වෙන වෙලාව අර ගෙන හදන ජන්ම පත්‍රය තමයි නිවැරදි කේන්දරය කියන්නෙ. නමුත් අද ඒ කාරණය දන්නෙ නැති නිසා, මවු කුසින් බිහි වෙන වෙලාව උපන් වෙලාව විදියට අරගෙන තමයි ජන්ම පත්‍ර හදන්නෙ. ඒ නිසා නියම ප්‍රතිඵල ගන්න බැරි වෙලා තියෙනවා. අද මේ කාරණය හුඟ දෙනෙක් දන්නෙ නෑ. ඒ ක්‍රමය වැහිල ගිහින්. නමුත් මේ නියම ක්‍රමය ඉස්සර තිබුණා. යම් කිසි ක්‍රමවේදයන්ගෙන් ඒ ගණන් මිම් හදල, ළමය බිහි වෙච්ච වෙලාවෙ බුලත් අතක් දීල නැකැත් කරුවො හමු වුනාම, හරියට ගණන් හදල ඔක්කන්ති වෙච්ච වෙලාව කියන ක්‍රමයක් එදා තිබුණා. ඒ ක්‍රමයට තමයි එදා ජන්ම පත්‍ර හැදුවෙ. එහෙම නැතිව දිවැසකින් බලල නෙවෙයි. අද ඒවා ගුරු මුෂ්ටි වශයෙන් හංග ගෙන තියාගෙන, ඒ බොහොමයක් උදවිය මිය පරලොව ගිහින් තියෙන නිසා, ඒ ක්‍රම යටපත් වෙලා නියම විදියට කේන්දරයක් (ජන්ම පත්‍රයක්) හදන ක්‍රමය දන ගන්න විදියක් නෑ.

එතකොට මවු කුසට ඔක්කන්ති වෙනවත් එක්කම, ඊළඟට තමයි මවු කුස තුළ මස් ලේ කයේ වැඩීම ආරම්භ වෙන්නෙ. ඒ වෙලාවට තමයි නව ජීවියෙක්ගෙ මස් ලේ කයේ නිර්මාණය අරඹන්න ජනකානු දෙකක් එකතු වෙලා යුක්තානුවක් හැදෙන්නෙ. ග්‍රහයින් අපට නොපෙනෙන පැත්තක් වුනත්, මේ හැම වෙලේම ලෝක පරිසරය ග්‍රහයින්ගෙ කිරණ බලපෑමෙන් පරිවර්තනය වෙනවා. උදාහරණ විදියට සමහර කාලවලදී ඉර එළිය යම් තැනකට වැටුනම නිවස ඇතුලෙ හිටියත් හුඟක් රස්නෙයි. කොහේ හිටියත් දවාලෙට රස්නෙයි, රෑට සීතලයි. එතකොට ඒ ග්‍රහය අපට නොපෙනුනත්, ග්‍රහයගෙන් පිට වෙන කිරණ අපේ ශරීරයට දැනෙන නිසා තමයි ඒ වෙනස අපට වැටහෙන්නෙ. නමුත් නවීන විද්‍යාවෙ පාවිච්චි කරන X කිරණ අපේ ශරීරයට වැදුනයි කියල සූර්ය කිරණ වගේ අපට දැනෙන්නෙ නෑ. හැබැයි දැනුනෙ නැති වුනත්, ඒ කිරණවලින් විසාල බලයක් ඇති කරනවා. ඒ කාරණය නවීන විද්‍යාවෙන් ඔප්පු කරල තියෙන නිසා අමුතුවෙන් විස්තර කරන්න ඕන නෑ. මේ විදියට මිනිස් ඇසට නොපෙනෙන නමුත් ප්‍රබල බලපෑම් ඇති කරන්න පුළුවන් කිරණ, ග්‍රහ තාරකාවලිනුත් විහිදෙනවා.

ඒ වගේම මේ ග්‍රහයින්ගෙ කිරණ වැටෙන්නෙ ග්‍රහ මණ්ඩලයට. ඒ ග්‍රහ මණ්ඩලය තියෙන්නෙ මේ විශ්වයේ හැතැප්ම 10 ක් තරම් දුරින් වායු ගෝලයේ. ඒ තමයි ග්‍රහයගෙන් එන එළිය වැටෙන තැන. නමුත් අද ඒ ග්‍රහ මණ්ඩලයට තමයි ග්‍රහයො කියල රැවටිලා හිතාගෙන ඉන්නෙ. හැබැයි ග්‍රහයො තියෙන්නෙ ඊට හැතැප්ම කෝටි ප්‍රකෝටි ගණනක් ඈතින්. එතකොට මේ හැතැප්ම 10 ක් විතර එහා තියෙන ග්‍රහ මණ්ඩලය තමයි රවි මණ්ඩලය, බුධ මණ්ඩලය ආදී වශයෙන් අපිට පේන්නෙ. මෙන්න මේ ග්‍රහ මණ්ඩලවල තමයි ඔය කියන ග්‍රහ දේවතාදී කොට්ඨාස ඉන්නෙ. කර්ම වේගය මුල් වෙලා ඒ අයගෙ වාසස්ථාන වෙන්නෙ ඒ ග්‍රහ මණ්ඩල. ඒ අයගෙ ගතිවලට ගැළපෙන කිරණ තමයි ඒවායෙන් පිටවෙන්නෙ. හැබැයි ඒ අය හැම වෙලේම ඒ ග්‍රහ මණ්ඩලයේ ඉන්නෙ නෑ. කපුට කූඩුවෙ හිටියට උං ඒකෙ ඉන්නෙ වෙලාවකට විතරයි, අනිත් වෙලාවට කෑම හොයන්න වට පිටාවෙ යනවා. ඒ වගේ ග්‍රහ මණ්ඩලයෙ ඉන්න ග්‍රහ දේවතාවොත්, ඒ අයගෙ කටයුතු කරන්න හැම තැනම යනවා. ඒ අතර මනුස්ස

ලෝකෙටත් එනවා. අද වුනත් ඊරිසියා කරන කෙනා, ඒ ජාතියේම එකක් හොයා ගෙන යැම ඒ අයගෙ හැටියක්. අනුන්ගෙ ඇද පළුදු හොයන කෙනා කාගෙ හරි ඇද පළුද්දක් හොයා ගෙනමයි යන්නෙ. එහෙම හොයාගෙන තැන් තැන්වල ගිහින් කියනවා. ඒ අයට කරදර කරනවා. ඒ අයගෙ ආස්වාදයත් ඒකමයි.

මේ වගේ සෙනසුරු ග්‍රහ දේවතාවොත් කාට හරි කරදරයක් වෙන කල් තමයි බලාගෙන ඉන්නෙ. ගිය ගිය තැන බලන්නෙ හොඳ නෙවෙයි, කාගෙ හරි අඩු පාඩු. අරුන්ට හරි යනවනෙ, ඕකුන්ට කරදරයක් වුනා නම්.... ඒ වගේ අදහස් තමයි එන්නෙ. ඒ ග්‍රහ දේවතාවො යොමු වෙලා තිබුන අවස්ථාවට ගැලපෙන ගතියක් මනුස්සයගෙත් මතු වෙලා තිබුන නම්, ඒක තමයි ඒ අයට දර්ශනය වෙන්නෙ. හැබැයි ඒකට කර්ම වේගයක් තියෙන්නත් ඕන. එහෙම නැත්නම් ඒ විදියට දර්ශනය වෙන්නෙත් නෑ. සමනන්තරය හැදුනොත් තමයි ඒ වගේ දර්ශනය වෙන්නෙ. එතකොට අනන්තරය විපාක වශයෙන් එන්න ඕන. එහෙම නැත්නම් පුද්ගලය කෘතිම විදියට ඒ පරිසරය හදා ගන්න ඕන. ඒ නිසා මේ ග්‍රහ අපල තියෙන කාලයට පුද්ගලයා නරක ගති හදා ගත්තොත්, අර විපාක වශයෙන් එන එක මහ බලවත් වෙනවා. එතකොට ග්‍රහ දේවතාවන්ට ඒක හොඳින් දර්ශනය වෙනවා. ඒත් එක්කම ඒ අය බලාපොරොත්තු වෙනවා ඕක වැනසියන්, හරියන්න නම් එපා... ආදී වශයෙන්. ඉතින් කරදර කරන්නමයි බලාගෙන ඉන්නෙ. ඒ වගේ කෙනෙකුට කරදර එන කොට ඒ අය හරි සන්තෝස වෙනවා. හරියට ගොදුරක් ලැබුනම කපුටො කෑ ගහනව වගේ. ඒ වගේම යම් කිසි හිංසා භක්ෂක අමනුස්සයො ඉන්නවා. අනුන්ට හිංසාවක් කරදරයක් දැක්කම ඒකෙන් සතුටු වෙලා තමයි ඒ අය පෝෂණය වෙන්නෙ.

එතකොට මේ වගේ අවස්ථාවක් යෙදුනොත්, කෙනෙක්ගෙ කැඩිච්ච කකුලක් වුනත් සුව නොවී තියෙන්න පුළුවන්. තමන්ගෙ ගතියකින් හෝ ආපු කර්ම වේගයකින් හෝ කැඩිච්ච කකුලක් සුව වෙන්න නොදී අල්ල ගෙන ඉන්න පුළුවන්. මේ කියන සෙනසුරු ආදී ග්‍රහ දේවතාවො කොයි විදියකින් හරි ඒ සුව වීම වළක්වන්න කටයුතු යොදනවා. සමහර වෙලාවට පුද්ගලයා කරා පහසුවෙන් ළං වෙන්න පුළුවන් අවස්ථාවක් යෙදුනොත්, ඒ පුද්ගලයා තල්ලු කරල දාන්නත් පුළුවන්. එහෙම නැත්නම් කකුලකට හරි අනින්න පුළුවන්. එතකොට දන්නෙම නැතිව මනුස්සයා අනතුරකට ලක් වෙනවා. සමහර අය දන්නෙම නැතිව හිටි ගමන් යන එන කොට වැටෙනවා. ඒ වගේ අවස්ථාවක ඔය වගේ ග්‍රහ දේවතාවන්ගෙ බලපෑමෙන් ඒ වගේ දෙයක් වෙන්නත් පුළුවන්. එහෙම ග්‍රහ දේවතාවන්ගෙ සෘජු සම්බන්ධයක් ඇතිව හෝ නැතිව අනතුරු වෙන්නත් පුළුවන්. හැබැයි ඒකට කර්ම වේගයක් යෙදිල තියෙන්නත් ඕන.

ඒ වගේම මේ ග්‍රහයින්ගෙන් විහිදෙන කිරණ, ඒ ග්‍රහය පායල විද්‍යමාන වෙන වෙලාවට ඒ ඒ ප්‍රදේශ අනුව අඩු වැඩි වෙනවා. ඒ අනුව මිනිස් ශරීරවල විතරක් නෙවෙයි, හැම අහු මුල්ලකම, හැම තැනම ඒ කිරණ විසමාකාරව විහිදිලා විසිරිලා යනවා. ඒ නිසා ශරීරය ඇතුලෙ කියල වෙනසක් නෑ, ඒ කාල සීමාවෙදි වෙනස්කම් ඇති කරනවා. මේ කාරණය පැහැදිලි වෙන අවස්ථා ස්වභාව ධර්මයෙන් අදත් දකින්න පුළුවන්. උදාහරණ විදියට පරෙවි මල්, කඩුපුල් මල්, කෝපි මල් වගේ සමහර මල් ජාති, කාලෙකට විතරයි පිපෙන්නෙ. හැබැයි පිපෙන කොට එකම දවසක එකම රාත්‍රියක රටේ හැම තැනම වගේ පිපෙන්න පටන් ගන්නවා. හෙන්දිරික්ක මල් පිපෙන කොටත් හැම තැනම හවස 4.00 ට තමයි පිපෙන්නෙ. එතකොට කොහොමද ඒ කාරණය දන්නෙ? ඒ මල් වර්ග පිපෙන කාලයක් තියෙනවා. ඒ කාලෙ බැලුවොත් ඒ මල් වර්ග හැම තැනම පිපිල දකින්න පුළුවන්. එහෙම පිපිල ඊළඟ දවසෙන් දෙකෙන් පර වෙලත් යනවා.

ඒ වගේම කාලෙකට පොළවෙන් මෙරු මතු වුනොත්, ඒ කාල සීමාවෙදි හැම තැනම වගේ මෙරු මතු වෙනවා. එතකොට කොහොමද එකම වෙලාවට හැම තැනින්ම මෙරු මතු වෙන්නෙ? මොකද උන් කතා වෙලා මතු වෙනවද? නෑ. එහෙනම් මේ පොළවෙ රස්නය ආදී මොනව හරි භෞතික දේවල්වල වෙනස්කම් සිද්ධ වෙන කොට ඒවා හැම තැනටම බලපාන ස්වභාවයක් එනවා. මේ වගේ ශරීර අභ්‍යන්තරය හැදෙන කොටත්, මස් ලේ කය හැම වෙලේම පරිවර්තනය වෙනවා. ඒ පරිවර්තනයන්ට කර්ම ශක්තිය මුල් කර ගෙන බාහිර පරිසරයේ සියුම් වෙනස්කම් පවා බලපානවා. ඒ පරිවර්තනයන් සිද්ධ වෙන කොට ඒ මොහොතෙ ශරීරයේ තියෙන රසායනයන් ඒ ඒ මොහොත අනුව වෙනස් වෙනවා. එතකොට ඒ රසායනයන් මුල් කර ගෙන තමයි ශරීරය ගොඩ නැගෙන්නෙ. ශරීරයෙන් ශරීරයට ප්‍රතිචාර දක්වල හැදිච්ච සංයෝගත් එකිනෙකට වෙනස් වෙනවා.

එතකොට කෙනෙක් මවු කුසට ඔක්කන්ති වෙන වෙලාවෙ තිබිච්ච ග්‍රහ චාරය ගත්තම ඒ අනුව තමයි ඒ පුද්ගලයගෙ කායික ශක්තිය, මානසික ශක්තිය, මාංශ පේශී සංයෝජනය ආදිය හැදිල තියෙන්නෙ. මස්, ලේ, ඇට... ආදී ඉන්ද්‍රියන් ඇතුලු සියල්ලම සංයෝජනය වෙලා හැදෙන්න ඒ වෙලාවෙ තිබිච්ච බාහිර පරිසරය බලපානවා. ඒ සංයෝජනයන් ප්‍රතිචාර දක්වන කොට එකින් එකට වෙනස් වෙනවා. උදාහරණ විදියට රත් වෙච්ච යකඩ තහඩුවකට වතුර බිංදුවක් දැම්මොත් එක පාරටම දුම් දාගෙන වාෂ්ප වෙලා යනවා. අධික සීතල වෙච්ච යකඩ තහඩුවකට වතුර බිංදුවක් දැම්මොත් ඒ වතුර බිංදුව මිදිල ගල් වෙන්න බලනවා. සාමාන්‍ය යකඩ තහඩුවකට වතුර බිංදුවක් දැම්මොත් ඒක නිකං ගලා ගෙන යනවා. ඒ කියන්නෙ ඒ යකඩ තහඩුවේ තියෙන යම් යම් වෙනස්වීම් අනුව ඒ තහඩුවට දාන දේ විවිධාකාර ස්වරූපයන් ගන්නවා. ඒ වගේ මේ ශරීරවල විවිධ පරිවර්තනයන් සිද්ධ වෙන්නත් බාහිර පරිසරය බලපානවා. සමහර අයට නිතර නිතර උෂ්ණාධික රෝග හට ගන්නවා, උෂ්ණාධික දේ කන්න බොන්න බෑ, දරන්න බෑ.

මේ වගේ ග්‍රහයො පායල එන කොට සෙනසුරු වගේ ග්‍රහයෙක් ආවොත් උෂ්ණාධිකයි. එහෙම ග්‍රහයෙක් වැටෙන කාලවලට ඒ පුද්ගලයගෙ ශරීර උෂ්ණත්වය වැඩි කරල ශරීරය ඒකට ප්‍රතිචාර දක්වනවා. එතකොට රක්ත උෂ්ණය වැඩි වෙනවා. ශරීරයේ ලේ ධාතුව විස වෙලා නොයෙක් තුවාල එන්න බලපානවා. ඒවා ලේසියෙන් හොඳ කරන්නත් බෑ. ඒ කාලය ඉවර වෙනකල්ම ඒක ක්‍රියාත්මක වෙනවා. ඒ වගේ විවිධාකාරයෙන් හොඳ නරක දෙකම දෙපැත්තටම ක්‍රියාත්මක වෙනවා. එක වෙලාවෙ උපන් අයගෙ වුනත් බලපෑම වෙනස් වෙන්න හේතුව ඒකයි. කෙනෙක්ගෙ ශරීරයට වඩා තවත් කෙනෙක්ගෙ ශරීර ගතිය වෙනස් වෙන්නෙ, යමක් ආරම්භ කරන කොට තිබිච්ච දේට අනුව ඒක උපනිශ්‍රය කර ගෙන ශරීර පැවැත්ම කර්ම ශක්තියෙන් ගෙනියන නිසා. කර්ම ශක්තිය පුද්ගලය අනුව වෙනස් වෙනවා.

මෙතනදි එකම වෙලාවෙ උපන් අය කිව්වම, එක තැනකට එක වෙලාවයි තියෙන්නෙ. අක්ෂාංශ දේශාංශ කියන දෙක අනුව අන්තිම සුළු මොහොතකට බැලුවත් ඒ ඒ තැනට විවිධ වෙලාවල් තියෙන්නෙ. සමාන වෙලාවල් නෑ. සමාන එළිය තියෙන්නෙත් එක තැනකට විතරයි. තව තැනක ඊට වඩා වෙනස් එළියක් වැටෙන්නෙ. මොකද එළියක් යම් තැනක ඉඳන් ගමන් කරන කොට, යම් කිසි ලම්භක රේඛා දිගේ ගමන් කරන ක්‍රමයක් තියෙනවා. යම් කිසි රේඛාවක යම් තැනක කෙනෙක් ඉන්නව නම්, ඒ මොහොතට ග්‍රහ තාරකාව හෝ ඒ ග්‍රහ මණ්ඩලය ආපසු විනිවිඳ ගිහින් තවත් තැනකට ඒ ☞

කිරණයම වදින්නෙ නෑ. අංශක ගානක් වෙනස් වෙලා යද්දි වෙනස් එකක් තමයි තව තැනකට වදින්නෙ. ඒ කියන්නෙ ග්‍රහ වස්තුවකින් විහිදෙන කිරණවලට එක එක සිහින් ලම්භක රේඛා තියෙනවා. උදාහරණ විදියට ඒ ලම්භක කිරණ රේඛා කෝටියක් කියල දළ වශයෙන් හිතුවොත්, ඒ කෝටියෙත් එකක තියෙන කිරණ තව එකකට සමාන නෑ. පොඩ්ඩක් හරි වෙනස් වෙනවා. ඒ නිසා ළඟ ළඟ දහ දෙනෙක් හිටියොත් ග්‍රහයගෙන් විහිදෙන එකම එළිය ගිහින් ඒ දහ දෙනාට වදින්නෙ කිරණ කදම්භ 10 ක් විදිහට. ඒ නිසා දහ දෙනාට දහ ආකාරයෙන් තමයි වදින්නෙ. ලක්ෂයක පිරිසක් හිටියොත් ඒ ලක්ෂයටම ලක්ෂ ආකාරයකින් තමයි කිරණ වදින්නෙ. ඒ වගේ කොච්චර පිරිසක් හිටියත් ඒ හිටපු තරමටම වෙනස් වෙනස් ආකාරවලට තමයි ඒ කිරණ වදින්නෙ.

මේ කාරණය දැන ගන්න පුළුවන් හොඳ අවස්ථාවක් තියෙනවා. පිනි බිංදුවකට ඉර එළිය වැටෙන කොට ඒකෙන් වටේට කිරණ කදම්භ කෝටි ගණනක් විහිදෙනවා. දහ දෙනෙක් එක්ක දහ පොළක ඉඳන් ඒ පිනි බිංදුව දිහා බැලුවොත් එක්කෙනෙකුට කහ පාට, තවත් කෙනෙකුට කොළ පාට, තවත් කෙනෙකුට රතු පාට.... ආදී වශයෙන් විවිධ පාටවලින් තමයි පේන්නෙ. පිනි බිංදුව ළෙල දුන්නොත් ඒ කිරණ කදම්භයත් වෙනස් වෙනවා. එතකොටත් විවිධ කෝණවලින් බලන අයට විවිධ පාටවලින් තමයි පේන්නෙ. පිනි බිංදුව වටා විවිධ පාට වර්ග තිබුණත්, එක රේඛාවක ඉඳන් බලන කොට එක පාටයි පේන්නෙ. පාට 2 ක් එකට පේන්නෙ නෑ. මොකද කිරණ කදම්භ එන හැටියට තමයි ඒ පාට පේන්නෙ.

කෙලින්ම ඒ දිහා බලන කොට විවිධ පාටවලින් පෙනුනත්, යම් කිසි කාඩ් බෝඩ් එකක ඉඳිකටු තුඩක් තරම් පුංචි සිදුරක් හදල ඒ තුලින් පිනි බිංදුව දිහා බැලුවොත් එතකොට පාට 2 ක් එකට පේන්නෙ නෑ. මොකද ඇහේ කාචය එක්තරා මට්ටමකට ලොකු නිසා තමයි කෙලින්ම බලන කොට පාට කිහිපයක් එකට පේන්නෙ. එතකොට පාට කිහිපයක්ම ඇහැට ගෝචර කර ගන්න පුළුවන්. නමුත් අර වගේ කුඩා සිදුරකින් බැලුවොත් ඇහේ කාචයට වැදිල විසිරිලා යනව වගේ කිරණ කදම්භ සිය ගණන් එන්නෙ නෑ. ඒ වගේ ක්‍රමයකින් තමයි බලාගන්නෙ, එක ලම්භක රේඛාවකට එක පාටයි පේන්නෙ කියල. ෂඩ් වර්ණ කියන්නෙත් ඒකයි. දේදුන්නෙ පාට තියෙන්නෙත් ඒ කිරණ කදම්භ යන හැටියට. එක ජාතියේ කිරණ කදම්භ එක පොදියකට වැටෙන්නෙ. ඒ කාරණය පැහැදිලිවම පේනවා. නිල් පාට එක පැත්තක, කහ පාට තව පැත්තක, රතු පාට තවත් පැත්තක ආදී වශයෙන් වෙන වෙනම තමයි පිහිටන්නෙ. ඒ විදියට තමයි ග්‍රහයින්ගෙන් විවිධ පුද්ගලයින්ට ඒ කිරණ ආකර්ශනය එන්නෙත්. යම් කිසි වර්ග අඩියකට කිරණ කදම්භයක් වැටෙන කොට, කෙනෙක් ඒ ස්ථානයේ උප්පත්තියට ආව නම්, ඒ පුද්ගලයට ඊට අදාල ගති ලක්ෂණ තමයි එන්නෙ. ඒ ගමන්ම එතනට තවත් කෙනෙක් උප්පත්තියට ආවොත් ඒ පුද්ගලයටත් ඒ සමාන ගති ලක්ෂණ ආසන්නව ලැබෙනවා.

උදාහරණ විදියට උප්පත්තියට නිඹුල්ලු ආවොත්, ඒ අය එකම මොහොතක තමයි මවු කුසකට ඇතුල් වෙන්නෙ. එකම මොහොතක කිව්වට 100% ක්ම නෙවෙයි, ඉතා ළඟ ළඟ ආසන්නයෙන්. එතකොට ඒ ආසන්න



මට්ටමට ඒ දෙන්නගෙ ගති ගුණත් ආසන්න වශයෙන් සමාන වෙනවා. එහෙම නැතුව 100% ක් සමාන වීමක් කොහෙත්ම වෙන්නෙ නෑ. විශේෂයෙන් කායික වශයෙන් ආසන්න සම්බන්ධයක් තමයි එන්නෙ. ඒ අයගෙ ජානවල පිහිටීමත් ආසන්නව සමානයි. වැඩි පුරම ශරීර අංගවලින් තමයි මේ නිඹුල් දරුවො සමාන වෙන්නෙ. නමුත් නිවුන්නු දෙන්නෙක් කියන්නෙ ඊට වඩා වෙනස් ආකාරයක්. එතනදි බීජානු 2 ක් ඇවිත් ඒ දෙකට වෙන වෙනම තමයි ගන්ධබ්බයො දෙන්නෙක් ඇදිල එන්නෙ. එතකොට ඒ දෙන්න ස්ත්‍රී, පුරුෂ ජාති දෙකෙන්ම වෙන්න පුළුවන්.

නමුත් නිඹුල්ලු බිහි වෙන කොට එකම බීජය දෙකට බෙදිල තමයි ගන්ධබ්බයො දෙන්නට යන්නෙ. එකම බීජය සෛල පොදියකින් හැදිල ඒ පොදිය දෙකට බෙදෙනවා. දෙකේම තියෙන්නෙ එකම ජාතියේ සෛල. එතකොට ඒ බිහි වෙන දෙන්න ස්ත්‍රී නම් දෙන්නම ස්ත්‍රී, පුරුෂ නම් දෙන්නම පුරුෂ. සමහර විට එක බීජානුවක් හැදිල ටික දුරක් ගිහින් දෙකට බෙදෙන්නත් පුළුවන්. ඒ නිසාම ආසන්න ගති ලක්ෂණ තියෙන කෙනෙක් ඉස්සෙල්ලම ඒ මවු කුසට ඔක්කන්ති වෙලා එක සෛලයක් අල්ල ගන්නවා. ඊට සුදුසු ආසන්නව සමාන වෙලාවක් නැවතත් ආවම, ඊළඟ ගන්ධබ්බයත් මොහොතකින් ඇවිත් අනිත් සෛලය අල්ල ගන්නවා. එතකොටත් පොඩි වෙනසක් එනවා. හැබැයි ඒත් දෙන්නම ස්ත්‍රී නම් ස්ත්‍රී, පුරුෂ නම් පුරුෂ. ඒ නිසා නිඹුල්ලු බිහි වෙන කොට ස්ත්‍රී පුරුෂ දෙන්නෙක් එකට බිහි වෙන්නෙ නෑ. මොකක් හරි එක ජාතියයි. නිඹුල්ලු කියන්නෙ ඒ විදියෙ මොනව හරි ස්ත්‍රී පුරුෂ එක ජාතියකින් ආසන්නම ගති ලක්ෂණ තියෙන අය.

ඒ වගේ දෙන්නෙක් ගත්තොත් ශරීර දෙකම බාහිරින් එක වගේ. බැලු බැල්මට වෙනසක් අඳුන ගන්නත් බෑ. යන එන හැටි, මුහුණු හැඩය, ඇඳුම් අඳින හැටි, කතා බහ මේ ඔක්කොම එක වගේ. එක්කෙනෙක් කලිසමක් ඇන්දොත් අනිකත් කලිසමක් අඳිනවා. සරමක් නම් දෙන්නම සරම්. නිල් පාට කමිසයක් ඇන්දොත් අනිකත් ඒ පාටම අඳිනවා. ඒ වගේම දෙන්නට දෙන්න පුදුම විදියට හිතවත්. හැබැයි මේ සමානයි කියන්නෙ 100% ක් නෙවෙයි, ඉතා ආසන්න වශයෙන්. ඒ කියන්නෙ බාහිරින් එක පාරටම හොයාගන්න බැරි තරමට සමානයි. මේ සමානත්වය කොච්චරද කියල, වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි කාලෙදි ලබපු අත්දැකීමක් විස්තර කළේ මේ විදියට.

''මම දන්න කියන ගෙදරක මේ කියන නිඹුල්ලු වශයෙන් උපන් ගැහැණු ළමයි දෙන්නෙක් හිටියා. ඒ ළමයි දෙන්නගෙ නම් කිව්වට තාත්තට ළමයි දෙන්න වෙන වෙනම අඳුන ගන්න බැරි වුණා. ඒ තරම් සමානයි. යම් කිසි අත්දැකීමක් නිසා අම්මට විතරයි ළමයි දෙන්න වෙන වෙනම අඳුන ගන්න පුළුවන් වුනේ. ඉතින් දවසක් මම ඒ ගෙදරට ගියපු වෙලාවක මේ ළමයි දෙන්න ඉස්සරහින් ගෙනත් තිව්වා, මොනව හරි වෙනසක් තියේ නම් අඳුන ගන්න කියල. මමත් බැලුවම මොනම විදියකින්වත් වෙනසක් පේන්න නෑ. මොනව හරි මේ ළමයි දෙන්නගෙ වෙනසක් නැත්ද කියල තව ටිකක් බලන කොට, සමාධියට ඉබේටම කකුලෙ ඇඟිල්ලක් යොමු වුණා. එක ළමයෙක්ගෙ ඒ ඇඟිල්ල අනික් ළමයට වඩා පොඩ්ඩක් ඉස්සිලා තිබුණා. එච්චරමයි

# නගන සඳහා ප්‍රත්‍යක්ෂ කෙම් ප්‍රතිකාරයක්...

නගනයක් කියන්නෙ ඇස්වල හෝ ඒ අවට තියෙන සෙම් ආබාධ, කබ කඳුළු ආදිය නිසා එකතු වෙන්නා වූ අපද්‍රව්‍ය පිට කරන ක්‍රමයක්. ඒ වගේ අපද්‍රව්‍ය පිට කරන ස්ථානයක් තමයි ඇහි පියේ උඩ සහ යට පිහිටන්නෙ. ඒ කියන්නෙ ශරීරයේ තියෙන හැම ඉන්ද්‍රියක් ආශ්‍රිතවම අපද්‍රව්‍ය පිට කරන විවිධ ක්‍රම තියෙනවා. ශරීරයේ සියලු තැන්වලින් අපද්‍රව්‍ය පිට කරන්න ක්‍රමයක් නැති නිසා, ඒ සඳහා විශේෂයෙන් පිහිටන ස්ථාන තියෙනවා. ඒ ඒ තැනට ඔබින විදිහට ඒ අපද්‍රව්‍ය පිට කරන ක්‍රමයත් වෙනස් වෙනවා. ඒ අපද්‍රව්‍යවල දුර්ගන්ධය ගත්තමත් එහෙමයි. සාමාන්‍යයෙන් ඇහැ ආශ්‍රිතව කබ වශයෙන් පිට වෙන අපද්‍රව්‍ය දුගඳ නෑ. හැබැයි කන නරක් වෙලා කලාඳුරුත් එක්ක පිට වෙන අපද්‍රව්‍ය තරමක් දුගඳයි. ඒ වගේ නාසයෙන් නරක් වෙච්ච සෙම් සොටු පැසවල අපද්‍රව්‍ය විදියට පිට කළොත් ඒක ඊටත් වඩා දුගඳයි. මැලියම් එක්ක කට කුණු වෙලා ගඳ ගැහුවොත් ළඟ ඉන්න අයටත් දැනෙන්න තරම් දුගඳයි. මළ මුත්‍ර මග අපද්‍රව්‍ය රැඳිල නරක් වුනොත් මේ සියල්ලටම වඩා දුගඳයි. එතකොට ඇස, කන, නාසය, දිව, ශරීරය ආදී ඉන්ද්‍රියන් ආශ්‍රිතව අපද්‍රව්‍ය පිට වෙන්නෙ විවිධ ක්‍රමවලට. ඒ අපද්‍රව්‍යවල ස්වභාවයත් විවිධයි. උදාහරණ විදියට කකුලෙ නියපොතු කුණු වුනොත් එන දුගඳ වෙනස් විදියක්. ඒ අපද්‍රව්‍ය පිට කරන තව



ක්‍රමයක්. ඒක තැනේ හැටියට වෙනස් වෙනවා. ඒ ඒ අපද්‍රව්‍යවලට ආවේණික ගන්ධයන් පවා වෙනස්. මේ විදියට ශරීරයේ විවිධ තැන්වල එකතු වෙන අපද්‍රව්‍ය පිට කරන්න විවිධාකාර ක්‍රම සකස් වෙලා තියෙනවා.

ඇස්වල නගන එන කොට සමහර වෛද්‍යවරු සැත්කම් කරන්න කියලත් කියනවා. නමුත් ඒක සමහර විට මහ භයානක දෙයක් වෙන්න පුළුවන්, බරපතල වැඩියි. සෑහෙන කලක් දුක් විඳින්න වෙනවා. නමුත් ඒකට කිසිම වියදමක් නැතිව පහසුවෙන් කර ගන්න පුළුවන් පැරණි කෙම් ප්‍රතිකාරයක් තියෙනවා. එතකොට ශරීරයේ හට ගන්න ඉන්නො ඉවත් කරන ක්‍රමයට නගන ඉවත් කරන්න බෑ. ඒකට වෙනම ක්‍රමයක් ඕන වෙනවා. ඒ වගේම නගන ඉවත් කරන ක්‍රමයෙන් ඉන්නො ඉවත් කරන්න බෑ. ඒකට තවත් ක්‍රමයක් තියෙනවා. ඇහැට කිරණ ශක්ති විහිදෙන ක්‍රම වෙනම තියෙනවා. ඒ ක්‍රමයන් අනුගමනය කළාම ඒක මුල් කර ගෙන තමයි සාමාන්‍ය ක්‍රමයට ඉවත් වෙන්නෙ නැති, ඇහැ ආශ්‍රිතව ඇති අපද්‍රව්‍ය ඉවත් වෙන්නෙ. ඒ නිසා කෙම් ක්‍රමයක් වුනත්, ඉන්නන් ඉවත් කරන කෙම් ක්‍රමය නෙවෙයි මෙතනදි භාවිතා කරන්නෙ. මෙතනදිත් යම් කිසි විදියකින් කිරණ ශක්තිය සම්බන්ධ

පිටින් පේන වෙනසකට තිබුණෙ. ඒ හැර උස මහත, පාට, යන එන හැටි ඔක්කොම එක වගේ. හැබැයි ඒ ගෙදර උදවියට ඒ වෙනස අහු වෙලා තිබුනෙ නෑ. මම පෙන්නුවට පස්සෙ තමයි ඒ තාත්ත ඒ වෙනසින් ළමයි දෙන්න වෙන් කරල හඳුන ගත්තෙ.''

එතකොට භෞතික කය කියන්නෙ හැම වෙලේම හද හදා ඉන්න එකක්. කර්මජ කයෙන් හද හදා කර්ම වේගය අනුව සසරින් ආවම, ඒ භෞතික කය හදන කොට දෙපැත්තක් බලපානවා. භෞතික ලෝකයේ තියෙන කිරණ ආදී ප්‍රත්‍යයත් එක පැත්තකින් අර ගෙන ඒ අනුසාරයෙන් කර්ම ශක්තියත් ක්‍රියාත්මක වෙලා පැවැත්ම ගෙනියනවා. ඒ විහිදෙන කිරණ තමයි මනුස්සයින්ට පේන්නෙ නැති පැත්ත. ඒ වගේ වෙලාවට තමයි ශරීරයේ උපන් ගති කියන්නෙ. ඒ කියන්නෙ උපතත් එක්ක එන ගති. ලග්නෙ හෙවත් ලැගපු තැන ගතිය. ඒ කියන්නෙ යම් කිසි තැනක ආස්වාද විඳගෙන, බැහැ ගෙන උපාදාන කර ගෙන ජීවත්වීම. ඒ ගති ලක්ෂණවලින් උපන්නම ඒවට උපන් ගති කියනවා. සංසාරෙ කාලයක් පුරා පුරුදු පුහුණු කරගත්තු ඒ උපන් ගති එක පාරටම වෙනස් කරන්න හරි අමාරුයි. ඒකෙන් ශරීරයට විස නොවන විදියට යම් කිසි කිරණ වළල්ලක් ශරීරය වටේ පිහිටනවා. පුණ්‍ය ශක්තිය ක්‍රියාත්මක වෙන කොට සිද්ධ වෙන්නෙත් ශරීරය වටා කිරණ වළලු පිහිටන එක. එතකොට සසර කරපු පුණ්‍ය කුසල ශක්ති ඇදිල ඇවිත් දූන් තියෙන ශක්තියට සම්බන්ධ වෙනවා. ඒකෙන් නව කිරණ වළල්ලක් හැදෙනවා. ඒ නිසා අර බාහිරින් එන විස කිරණ වදින්නෙ නැතිව ආරක්ෂා කරනවා. ඒ විදියට ප්‍රයෝග සම්පත්තියක් වශයෙන් ක්‍රියාත්මක වෙලා ඒ වගේ දෝසවලින් ආරක්ෂා කරනවා. යන්ත්‍රයක් දැමීමෙන් සිද්ධ වෙන්නෙත් ඒ වගේ දෙයක්. බාහිරින් එන කිරණ වළල්ල වදින්නෙ නැති වෙන්න ඒක වෙනස් කරල උපක්‍රමශීලීව වළක්වනවා. ඒ නිසා මේ වගේ අවස්ථාවලදි කරන්න තියෙන හොඳම දේ තමයි, මේ වගේ සංකීර්ණ විෂයක් හොයල බලන්නෙ නැතිව, තමන්ට පැහැදිලිව විද්‍යමාන වෙන දුක් කරදර තියේ නම්, කොහොමත් අවැඩක් නොවන නිසා ඒකට අවශ්‍ය කරන ප්‍රතිකර්ම විදියට යහපත් දේවල් සිද්ධ කිරීම. බලු කපුටු දානය / සෙනසුරු පූජාව කියන්නෙත් ඒ වගේ දෙයක්. ඒ වගේ දේවල් කරන තරමට තමන්ටත් හොඳයි.

ඒ වගේම පසුගිය කලාපයෙන් ඉදිරිපත් කරපු **බලු කපුටු දානය දුන්නට පසුව දෙන දුගී මගී යාචක දානය, අවශ්‍ය නම් වැඩිහිටි නිවාසයකට හෝ අනාථ මඩමකට හෝ අඳ ගොළු බිහිරි නිවාසයකට වුනත් දෙන්න පුළුවන්.** එතනදි තමන්ගෙ වයසට වැඩියෙන් එක බත් මුලක් දෙන්න කියල සඳහන් කරල තිබ්බෙච නිසා කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, වැඩිපුර එකට වඩා දුන්නත් කමක් නැද්ද කියල. නමුත් මුලින්ම සම්මතයක් වශයෙන් වැඩිපුර එකක් විතරක් දීල, අවශ්‍ය නම් ඊට පස්සෙ වැඩිපුර දුන්නට කමක් නෑ. ඒ වගේම මේ සෙනසුරු පූජාව (බලු කපුටු දානය) දෙන්න පටන් ගන්න ඕන, මේ සම්මතයේ තියෙන සෙනසුරාදා දවසකමයි. මොකද මේ ලෝක සම්මත දවස් තමයි ග්‍රහ චාරයට බලපාන්නෙ. ඒ වගේ සෙනසුරුට හිමි දවසක් තියෙනවා. එදාට තමයි සෙනසුරුගෙ බලය විශේෂයෙන් ක්‍රියාත්මක වෙන්නෙ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

වෙලා, ඒ ශක්තියෙන් විවිධ විස අපද්‍රව්‍ය ඉවත් කරන ක්‍රමයක් තියෙනවා.

මේ කෙම් ක්‍රමය සඳහා ඕන වෙන්නෙ මොනව හරි ගල් කැට 7 කුයි හිස් කලයකුයි විතරයි. කලය වෙනුවට සෙම්බුවක් ගන්නත් පුළුවන්. ඉස්සෙල්ලම එක ගල් කැටයක් අරගෙන ''නගනේ පොඟනේ'' කියල ඒ ගල් කැටය නගනයේ අතුල්ලනවා. දෙපාරක් අතුල්ලන්න දෙයක් නෑ, එක පාරක් කළාම ඇති. ඊළඟට ''කල ගෙඩියට පොඟනේ'' කියල ඒ ගල් කැටය කල ගෙඩිය ඇතුළට දානවා. හැබැයි මේක හිතින් කියල හරි යන්නෙ නෑ, ඇහෙන්න කියන්න ඕන. හෙමින් කිව්වට කමක් නෑ. ඊළඟට නැවතත් දෙවන ගල් කැටය අර ගෙන ''නගනේ පොඟනේ'' කියල අතුල්ලල ''කල ගෙඩියට පොඟනේ'' කියල කල ගෙඩිය ඇතුලට දානවා. මේ විදියට ගල් කැට හතෙන් හත් වතාවක් කරල කලය පැත්තකින් තියල තියනවා. ඊට පස්සෙ ඒ ගල් කැට ටික ඕන විදියකට අහක් කළාට කමක් නෑ. වරු තුනක් විතර යන කොට කොච්චර ලොකුවට තිබුණත් නගනය බැහැල ගිහින් අතුරුදන් වෙනවා. හැබැයි මේ කටයුත්ත තමන්ම කරන්න ඕන. වෙන කාටවත් භාර දීල හරියන්නෙ නෑ. හැබැයි තවමත් දන්න තරමින් අත් හදා බැලීමක් කරල නැති නිසා, නොතේරෙන පුංචි ළමයෙක් හෝ කතා කරන්න බැරි ගොළු කෙනෙකුට හැදුනොත් වෙනත් කෙනෙකු ලවා අවශ්‍ය නම් කරල, හරියනවද කියල අත් හදා බලන්න පුළුවන්.

මේ කෙම් ක්‍රමයෙදි පොඟනේ කියල කියන්නෙ ඒ කාලෙ තිබ්ච්ච අර්ථයෙන් නම් පලයන් කියන එක. පෝංග කියන වචනයත් එක්කත් ඒක සම්බන්ධයි. නගනය පලයන් - කල ගෙඩියට පලයන් කියල තමයි එතකොට අර්ථය එන්නෙ. මොනව හරි අක්ෂර, ගණ සම්බන්ධයත් එක්ක ශබ්ද විද්‍යානුකූලව තමයි ඒක හදල තියෙන්නෙ. එතනදි නගනේ පොඟනේ කියන්නෙ ළඟ ළඟ තියෙන වචන 2 ක්. අක්ෂර බැඳෙන කොට ඒ විදියෙ සමහර ගැලපෙන වචන ළං කරල හදන ක්‍රම තියෙනවා. ඒ නිසා නගනේ පොඟනේ කියන වචන පෙළට නගනේ පලයන් කියල කිව්වට හරි යන්නෙ නෑ. මොකද අදහස එකම වුනාට ශබ්ද විද්‍යානුකූලව අක්ෂර, ගණ වෙනස් වෙන නිසා. ඒ නිසා නගනේ පොඟනේ කියන එකට නගනේ පලයන් කියල ආදේශකයක් විදියට භාවිතා කරන්න බෑ. මොකද ඒ වගේ පැරණි කෙම් ක්‍රමවල එන වචන හදල තියෙන්නෙත් ඊට අනුකූල සාස්තර ක්‍රමයකට අනුව. එහෙම හදපු එකක් තමයි මේ කෙම් ක්‍රමය.

ඒ වගේම කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, සමහර කෙම් ක්‍රමවලදි කතා නොකරන්නත්, සමහර කෙම් ක්‍රමවලදි කතා කරන්නත් හේතුව මොකක්ද කියල. කෙම් ක්‍රමයකදි කතා කරන්න එපා කියන්නෙ, අවධානය ඒකට යොමු කරන්න ඕන නිසා. හැබැයි ඒ කටයුත්තට අදාල නැති, ඒකෙන් බැහැර කතා තමයි ඒ විදියට එපා කියන්නෙ. එතකොට ඒ කෙම් ක්‍රමයෙදි කරන්නෙ ක්‍රියාවක් විතරක් නම්, ඒකට අවධානය යොමු කරන්න ඕන නිසා කතා නොකර ඒක කරන්න කියනවා. කතා කරන කෙම් ක්‍රමයක් නම්, වෙනත් දේවල් කතා නොකර ඒකට අදාල දේ විතරක් කතා කරන්න ඕන. ක්‍රියාවයි කතාවයි දෙකම තියෙන කෙමක් නම් ඒකට අදාල ක්‍රියාව සහ කතාව හැර වෙනත් දේවල් කරන්නෙ නෑ. එතකොට තමයි ශක්තිය කේන්ද්‍රගත වෙලා ඒ කාරණය සාර්ථක වෙන්න හේතු යෙදෙන්නෙ. මේ කිව්ව කෙම් ප්‍රතිකාරයත් ක්‍රියාව සහ කතාව සහිත එකක්.

මේ කෙම් ක්‍රමයේ විද්‍යානුකූල පැතිකඩත් එක්තරා ආකාරයකට පැහැදිලි කරන්න පුළුවන්. කෙනෙක් යම් කිසි අධිෂ්ඨානයක් කරල මොනව හරි ක්‍රියාවක් කළොත්, ඒ අධිෂ්ඨානයේ හැටියට ඒක චිත්ත කිරණවලින් පැතිරිලා ක්‍රියාත්මක වෙනවා. ඒකට අදාල ශක්තිය කොච්චර කාලයක් තියෙනවද කියල අපිට කියන්න බෑ. මේ සඳහා උදාහරණයක් හෙල බොදු පියුම 23වන කලාපයේ ''අභයරතනා-ලංකාරය'' තුලින් ඉදිරිපත් කරල තියෙනවා. එතනදි වැලි අහුරක් අරගෙන, තෝ අද කොටියම කාපිය කියල තමන්ට හිරි හැර කරපු පුද්ගලයෙක් එල්ල කරල වැලි ටික බිමට ගහපු සිද්ධියක් නිසා, ඒ පුද්ගලය කොටියෙක් කාපු කතාවක් තමයි විස්තර වෙන්නෙ. ඒ වගේම කිතුල් ගහක රා නැති කරන්න, මන්තරයකින් කරපු සාප කිරීමක් ගැනත් ඒ කලාපයේම අභයරතනාලංකාරය තුලින් ඉදිරිපත් කරල තියෙනවා.

ඊළඟට ගෞතම බුදුන් වහන්සේ බෝධි සත්ව කාලෙදි සේරුවානිජ වෙළෙන්ද විදියට ඉන්න කොට, දේවදත්ත කච්චපුට විදියට ඉඳගෙන වැලි අහුරක් අරන්, ඒ වැලි කැටයක් කැටයක් ගානෙ උන් වහන්සේගෙන් පළි ගන්නව කියල ගහපු කාරණයට අදාල ක්‍රියාව එතනින් ඉවර වුනත්, අන්තිමට කල්ප ලක්ෂ ගානක් ගෙවිලත් උන්වහන්සේගෙ පශ්චිම අත්භවය වෙනකල්ම පසු පස ඇවිත්, ඒ අවස්ථාවෙදිත් පළිගන්න ගිහින් දේවදත්ත අවීචි මහා නරකාදියෙ ගිහිල්ල තමයි ඒ ශක්තිය කෙළවර වුණේ. එතකොට කොච්චර නම් කාලයක් ඒ ශක්තිය ක්‍රියාත්මක වෙලා තියෙනවද! ගෞතම බුදුන් වහන්සේගෙ අවසාන අත්බැව වෙනකල්ම ඒ ශක්තිය පසු පස හඹා ආවා. මේ වගේ, කෙනෙක් යම් කිසි විදියකින් අධිෂ්ඨානයක් කළාම ඒක බලගැන්වෙන ක්‍රියා කලාපයක් තියෙනවා. ඒ සඳහා භාවිතා කරන ක්‍රියාවලියයි, අධිෂ්ඨානයයි දෙක අතරත් විසාල සම්බන්ධයක් තියෙනවා. අපි ඒ ක්‍රියාව කරල නතර වුනාට ඒකෙන් නැගිච්ච ශක්තිය නතර වෙන්නෙ නෑ. යම් කිසි වෙනත් හේතුවකින් බාධක නොවුනොත්, ඒක එක දිගටම අවසානයක් කරා ක්‍රියාත්මක වෙනවා. හොඳට හෝ නරකට දෙපැත්තටම ඒ වගේ.

එතකොට මේ ශක්තිය හොඳ නරක දෙපැත්තටම එක වගේ ක්‍රියාත්මක වෙනවා. ඒ නිසා තමයි හුඟක් වෙලාවට වැඩිහිටි අයට, නැති බැරිව යන්න එන්න බැරිව එක තැන් වෙලා මුකුත් කර ගන්න බැරිව ඉන්න අයට, අනවශ්‍ය විහිළු කොළොප්පම් කිරීම භයානක වෙන්න පුළුවන් කියන්නෙ. මොකද ඒ වගේ එකතැන් වෙලා ඉන්න කෙනෙක්ගෙ මානසික පීඩනය හරි බලවත්. ඒ වගේ කෙනෙකුට බැරි වෙලාවත් කොළොප්පමක් කළොත් ඇති වෙන මානසික වේගය හරි බලවත්. සමහර විට, ඕකට හෙණ ගහපන් මට කියපු කතාවට කියල එහෙම කියන්න පුළුවන්. ඒ වගේ අවස්ථාවකදි නැගෙන මානසික ශක්තිය මහ විසාලයි. මොකද කම්පනයකින් තමයි ඒ පුද්ගලය ඒක කියන්නෙ.

ඒ නිසා ඒක කියන පුද්ගලය ඒ කාරණය ගණන් ගත්තෙ නැති වුනාට, දැනුනෙ නැති වුනාට ඒ ශක්තිය වේගයෙන් ගමන් කරල ක්‍රියාත්මක වෙනවා. සමහර විට සද්ධ නැතිව නිකං ඉඳල හිතෙන් සාප කරන්නත් පුළුවන්. ඒ චිත්ත වේගය විසිරිලා ගිහින් කාලාන්තරයක් තිස්සේ ක්‍රියාත්මක වෙන්න පුළුවන්. හොඳ දෙයක් වුනත් ඒ වගේ තමයි. උදාහරණ විදියට අසාධ්‍ය වෙලා අසරණ වෙලා ඉන්න කෙනෙකුට උදව්වක් උපකාරයක් කළොත්, ඒ වෙලාවෙදි ඒ උදව් උපකාරය ලබන පුද්ගලයගෙ මහ විසාල චිත්ත ප්‍රසාදයක් ඇති වෙලා ආශිර්වාද කරනවා. ''මට මේ වගේ අසරණ අවස්ථාවක කරපු උදව් උපකාර කොච්චර නම් වටිනවද! ඔහු මොන තරම් හොඳ කෙනෙක්ද! මොහුට නම් හොඳක්ම වෙන්න ඕන'' ඒ පුද්ගලය හිතින් හරි එහෙම ආශිර්වාද කරනවා. අර වගේම ශක්තියක් එතකොටත් ගිහින් ක්‍රියාත්මක වෙනවා. මේ වගේ විවිධ ක්‍රම තියෙනවා.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 40 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** -

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ඩබ්.ජී. තිළිණවතී මහත්මිය - කඩවත ♦ ප්‍රසාද් ද සිල්වා මහතා - දෙල්ගොඩ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 20,000/- ♦ තලතා රත්නායක මහත්මිය, සදහම් රත්නායක පුතා සහ උතුම් රත්නායක පුතා ඇතුළු පවුලේ සැම - පිළියන්දල - රු. 20,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ♦ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - කටුවාන - රු. 7,500/- ♦ වරුණ සුගතපාල මහතා - ගොතටුව - රු. 6,000/- ♦ බිනග සමාධිත් පුතා, අජිතා චාමලී මහත්මිය, කපිල සිල්වත්ගේ මහතා - බත්තරමුල්ල - රු. 6,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ♦ ඩී. ටී. ඒ. ගුණතිලක මහතා සහ ප්‍රේමා ගුණතිලක මහත්මිය - වෙලගෙදර - රු. 5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා - මගලෙගොඩ - රු. 5,000/- ♦ එම්. ඩී. නිහාල් මහතා - පෑලියගොඩ - රු. 5,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ අමිල සල්ගාදු මහතා - බෝම්රිය - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ චන්ද්‍රා රන්දෙනි මැණිකේ මහත්මිය - කුඩාවැව - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ♦ එන්. කේ. එම්. ඩී. සුගතදාස නැසී ගිය පියාට පිං පිණිස - රසිකා ගංගානි මෙනවිය - ගාල්ල - රු. 2,000/- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 2,000/- ♦ ගංගා කෝදාගොඩ මහත්මිය - බොරැල්ල - රු. 2,000/- ♦ විගණකාධි අංශය, ශ්‍රී ලංකා ගුවන් හමුදාව - කොටුව - රු. 1,900/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ ඩී.ඩී.ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු.1,500/- ♦ මහේෂ් විජේසුන්දර මහතා ඇතුළු පවුලේ සැම - මොරටුව - රු. 1,500/- ♦ ප්‍රේමා ගීකියනගේ මහත්මිය සහ නිශාන්ත පුතා - හොරණ - රු. 1,500/- ♦ මනරම් සොයිසා මහතා - නාගොඩ, කළුතර - රු. 1,500/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ ඉරේෂා ඇන්ඩෲ මහත්මිය - හෝමාගම - රු.1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රෙරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න - රු. 1,000/- ♦ අසංග සෙනරත් අඹගල මහතා - රදාවාන - රු.1,000/- ♦ චන්ද්‍රානි පෙරේරා මහත්මිය සහ ඉසුරු උදාන වික්‍රමසූරිය මහතා - පානදුර - රු.1,000/- ♦ කසුන් තාරක මහතා සහ සිතුමිණි ප්‍රබෝධා මහත්මිය - පානදුර- රු.1,000/- ♦ සම්පත් සුලෝච කුමාර මහතා - පනාගොඩ - රු.1,000/- ♦ චතුර දනංගල මහතා, වරුණි ප්‍රියංවදා දනංගල මහත්මිය, විනුනි සඳුන්මා දියණිය - ගලගෙදර - රු.1,000/- ♦ ප්‍රේමසීලි ගමගේ මහත්මිය - නිට්ටඹුව - රු.1,000/- ♦ සෝමාවතී රත්නායක මහත්මිය - කුඩාවැල්ල - රු.1,000/- ♦ හසිත දනංගොඩ මහතා - කොළඹ 10 - රු.1,000/- ♦ පී.ජී. සිරිසීලි මහත්මිය - මඩදෙණිය - රු.1,000/- ♦ ඩබ්.කේ. ප්‍රසාද් මිහිරාන් මහතා සහ මධුෂා ඉෂානි මහත්මිය - නෙළුව - රු.1,000/- ♦ පී.ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ - රු.1,000/- ♦ දුලිත් ලිත්මල් පුතා - දොඩංගොඩ කළුතර - රු.1,000/- ♦ සමන්තිකා කීර්තිරත්න මහත්මිය - වග - රු.1,000/- ♦ ෂමික සෙනෙවිරත්න මහතා - කැළණිය - රු.1,000/- ♦ සචිත්‍ර මලවරආරච්චි පුතුට පිං පිණිස - රු.1,000/- ♦ අනුරුද්ධ ඉද්දවෙල මහතා - කඩවත - රු.1,000/- ♦ ෂමීන් බණ්ඩාර මහතා - උඩුබැද්දෑව - රු.1,000/- ♦ සකුන්තලා ඒකනායක මහත්මිය - බත්තරමුල්ල - රු.1,000/- ♦ ගයාන් ගුණරත්න මහතා ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු.1,000/- ♦ නිමාලිකා සඳරුවන් මහත්මිය - නුගේගොඩ - රු.1,000/- ♦ ඩී.ඩී. විල්මන් මහතා - මීරිගම - රු.1,000/- ♦ එම්.ජී. බුද්ධික චාමල් මහතා - වියන්වල - රු.1,000/- ♦ මධුරි විශාඛා ජයතිස්ස මහත්මිය - බොරලැස්ගමුව - රු.1,000/- ♦ දමිතා නයෝමනී ගල්හේන මහත්මිය - බොරලැස්ගමුව - රු.1,000/- ♦ රොෂාන් ෆෙඩ්රික් ෆර්ඩිනන්ඩ් මහතා සහ වරුණි සුලෝචනා ප්‍රනාන්දු මහත්මිය - සියඹලාපේ - රු.1,000/- ♦ එස්.ජී. මහේෂ් සුරංග සිරිමාන්න මහතා - රදාවාන - රු.1,000/- ♦ උභයවර්ධන මහතා - මිනුවන්ගොඩ - රු.1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, සුභාෂිනී දිසානායක මහත්මිය, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා

සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, රංජිත් පතිරණ මහතා - කුරුණෑගල, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැළණිය, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, චතුර මල්වාන මහතා, අජිත් ප්‍රියන්ත මහතා - කෑගල්ල, සන්ධ්‍යා පෙරේරා මහත්මිය - අත්තිඩිය, අමායා ගුණසේකර මහත්මිය - බත්තරමුල්ල, අතුල ජයතුංග මහතා - අතුරුගිරිය, ඩබ්.ආර්. විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - කළුතර, ජී. ජයලත් මහතා - පන්නිපිටිය, චන්ද්‍රසිරි විජේරාජ මහතා - අවුලේගම, ගාමිනී සිරිමාන්න මහතා සහ සුමිත්‍රා හපුආරච්චි මහත්මිය - රදාවාන - රු. 6,750/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 175,150/- ♦ පළමු පිටපත් 10000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦ අනෙකුත් වියදම් - 9,525/- ♦ සම්පූර්ණ වියදම - රු. 242,025/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනයඃ webmaster@helabodhupiyuma.net දු.අඃ- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්ඃ**

සැම පුන් පොහෝ දිනකම සහ සැම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගයඃ නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථානඃ

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. ලසන් ට්‍රේඩ්සෙන්ටර් - 8, අලුත්ගොඩ පාර, තිස්සමහාරාමය - 0718523556
14. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
15. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0713228571

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න -**
**ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# නොනිමි වැඩ...



උපන් දින පටන් කරනා නොයෙක වැඩ
හපන්කම් විලස පෙන්වා තැබුව උඩ
තැපන් හිටිය මුත් යළි යළි ලෙසට හැඩ
නොපන් වැඩ නිමාවට නැත සසරෙ ඉඩ



සුවය ලබනු වස් පාසල් ගිය කාලේ
දවස ගත කළා පාඩම් හැම වේලේ
නැවත මුහුණ දුන් තරඟද නෙක තාලේ
භවය කෙළවරදි පිහිටට නැත රාලේ





ළදරු ළමා තරුණව සහ මැදි වියට
ඇදෙන තැන් පටන් කළ කටයුතු ජයට
රඳව ගත නොහී දුක් එන විට ළයට
නිදහසද කුමන තම හිත සහ කයට



ධනය දිරිය කාලය එක ලෙසට යොදා
පැනය ලිහන්නට ලොව සුව පිණිස එදා
ගැනය නිතර දෙඩුවේ ලොව නොයෙක බදා
දිනය මරණ එන විට එය නොමැත රඳා



අද අහවරයි නිදහස් මේ වැඩය කියා
එදවස කියූ තැන් අපමණ ගෙවිල ගියා
නිදහස කොහිද යළි වැඩ නිදි නැතිව රැයා
වදයකි භවය ඇති තෙක් දහමකිය නියා





වැඩක් කර සතුටු සුවයද ලබන දනා
ලොවක් සොඳුරු පතමින් භව ගමන යනා
නිමක් නැති සසරෙ මේ දෙක ලැබුව තැනා
භවක් ගෙවුන විතරයි කිසි නොමැත දිනා





කළත් මේ භවයෙ රජ වැඩ කිඩ දන්න
මළොත් මතු භවය වෙයි මුල සිට යන්න
බලොත් නැණින් පෙරපර කළ වැඩ ගොන්න
හළත් සියලු වැඩ නිවනම ලැබ ගන්න



පෙරත් මේ වැඩම කර කර භවයෙ සරා
කරක් ගැහුව කල් අපමණ සසර පුරා
වරක් මැරිල යළි ඉපදී එයම දරා
තෙරක් නොමැති වැඩ ඇත පිරිනිවෙන තුරා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන









# බදාගෙන කෑම සහ බෙදාගෙන කෑම

එදා පළමු හට ගත් ලොව සැම පොදුවේ
බෙදා ගන්න ගොස් තණ්හාවෙනි බැදුවේ
මෙදා එහි එලය ලොව නිසරුව සැදුවේ
සදා විඳින්නට එය හැමටම සිදුවේ





ලොවේ තියෙන වැඩිපුර දෑ බෙදා නොදී
තැවේ තව තවත් රැස් කළ ලොබේ බැඳී
නොවේ හිතක් දීමට රැස් කළා මදී
යැවේ අපතෙ වැඩි විට වනසවා සිඳී





කපා වෙරළු ගෙඩියත් අටකට කලක
දෙපා සතුන් කෑවයි ඉඳ එක පොළක
අපාගත වෙනා ලෙස බැහැගෙන වළක
නොපා අනුන් හට කෑවයි පසු කලක





කම් එල ලෙස ලද පෝසත් බව පරයා
නිම් නැති ලෙස හොරකම් කරගෙන නරයා
බිම් අඟලට පර පණ වනසන මැරයා
යම් දින මිය යයි නැතිවම කිසි හරයා

සොබා දමින් සැමටම ලද පොදු සැපතා
තබා අනුන් හට නොම දී කළ විපතා
ලබා ලොබින් තනිවම අනුනට නොපතා
හඹා දොසින් යයි මතු දුගතියෙ උපතා





නොවිඳ මුත් සියලු දෑ මරණෙට පෙර දී
ඇවිද යා නොහැකි තෙක් රකිනව මුර දී
දිවිද අතැර දේපළකට කෑ මොර දී
විවිධ ලොබින් ලැබු අත් බවයද පරදී

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.